# تفسير معاني القرآن الكريم

## جزء عم وتبارك

# පරිශුද්ධවූ අල්-කුර්ආන්



السنهالية

المكتب التعاوني للدعوة والإرشاد وتوعية الجاليات في وسط بريدة

# පරිශුද්ධවූ අල්-කුර්ආන්

Holy Qur'an Translation
in Sinhali Language

تفسير معاني القرآن الكريم
باللغة السنهالية

## අල්- මුල්ක් ; සියලු රජය

سورة الملك

මක්කාහිදී පහලවිය

බිස්මි: දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. රජය අතැ ඇත්තවූ ඔහු අතිශ්‍රේෂ්ඨය. ඔහු සියලු දය කෙරෙහි බලසම්පන්නය:

١- تَبَارَكَ الَّذِي بِيَدِهِ الْمُلْكُ وَهُوَ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ

2. තොපගෙන් කවරෙකු ක්‍රියාවෙන් ඉතා ලක්ෂණ දැයි තොප පිරික්සනු පිණිස මරණයත් ජීවිතයත් නිර්මාණය කල අයඃ ඔහු බලසම්පන්නය : ක්ෂමාන්විතය -

٢- الَّذِي خَلَقَ الْمَوْتَ وَالْحَيَاةَ لِيَبْلُوَكُمْ أَيُّكُمْ أَحْسَنُ عَمَلًا ۚ وَهُوَ الْعَزِيزُ الْغَفُورُ

3. අහස් සත එක උඩ එක (පැසදෙන සේ) නිර්මාණය කල අය. පරම දයාලුහුගේ නිර්මාණයෙහි නොපැසදීමක් නුඹ නොදක්නෙහිය එහෙයින් පුනාලක් බලව. නුඹ පැළුම් දක්නෙහිද?

٣- الَّذِي خَلَقَ سَبْعَ سَمَاوَاتٍ طِبَاقًا ۖ مَا تَرَىٰ فِي خَلْقِ الرَّحْمَٰنِ مِنْ تَفَاوُتٍ ۖ فَارْجِعِ الْبَصَرَ هَلْ تَرَىٰ مِنْ فُطُورٍ

4. පැසුළු පුනාලක් නැවත නැවත බලව නුඹගේ බැල්ම දුබලවද අදරන්නේවද නුඹ වෙත පෙරළෙන්නේය.

٤- ثُمَّ ارْجِعِ الْبَصَرَ كَرَّتَيْنِ يَنْقَلِبْ إِلَيْكَ الْبَصَرُ خَاسِئًا وَهُوَ حَسِيرٌ

5. ඇත්තෙන්ම අපි මෙලොවැ අහස පහනින් අලංකාර කෙළෙම්මය. අපි එය ෂයිතානුනට දමා ගසන ආයුධ කෙළෙමු. අපි ඔවුනට ගින්නෙන් දිලියෙන දඩුවම පිළියෙල කෙළෙමු.

٥- وَلَقَدْ زَيَّنَّا السَّمَاءَ الدُّنْيَا بِمَصَابِيحَ وَجَعَلْنَاهَا رُجُومًا لِلشَّيَاطِينِ ۖ وَأَعْتَدْنَا لَهُمْ عَذَابَ السَّعِيرِ

6. ඔවුන් හිමි ගැන විශ්වාස නොකරන්නවුනට ජහන්නම්හි දඩුවමය. නපුරුයැ යන තැන:

٦- وَلِلَّذِينَ كَفَرُوا بِرَبِّهِمْ عَذَابُ جَهَنَّمَ ۖ وَبِئْسَ الْمَصِيرُ

7. ඔවුහු එහි පතිත කල්හි එහි බුර බුරා නගින ගිගුරුම අසති.

٧- إِذَا أُلْقُوا فِيهَا سَمِعُوا لَهَا شَهِيقًا وَهِيَ تَفُورُ

8. (එය) කෝපයෙන් පිපිරෙන්නාක් මෙන්. සමූහයක් එහි පතිත සෑම විටෙකම. "තොප වෙතට අනුශාසකයෙක් නොපැමිණියේද?" යි එහි පිලිපල්ලෝ ඔවුන් පිලි විසෙත්.

٨- تَكَادُ تَمَيَّزُ مِنَ الْغَيْظِ ۖ
كُلَّمَا أُلْقِيَ فِيهَا فَوْجٌ سَأَلَهُمْ خَزَنَتُهَا
أَلَمْ يَأْتِكُمْ نَذِيرٌ ۝

9. "එසේය. අනුශාසකයෙක් අප (වෙත)ට පැමිණිදය. එහෙත් අපි (ඔහු) ප්‍රතික්ෂෙප කොට "අල්ලාහු කිසි දයක් පහළ කෙළේ නැත තොප මහත්වූ මුලාවෙහි මිස නැතැ"යි කිවෙමු"යි ඔවුහු කියන්නෝය.

٩- قَالُوا بَلَىٰ قَدْ جَاءَنَا نَذِيرٌ ۙ
فَكَذَّبْنَا وَقُلْنَا مَا نَزَّلَ اللَّهُ مِن شَيْءٍ ۚ
إِنْ أَنتُمْ إِلَّا فِي ضَلَالٍ كَبِيرٍ ۝

10. තවද "අපි සවන් දුන්නෙමු නම් හෝ නුවණ මෙහෙයා බැලුවෙමු නම් හෝ තිරා ගින්නෙහි සහකාරයන්ගෙන් නොවන්නෙමු"යි ඔවුහු කියන්නෝය.

١٠- وَقَالُوا لَوْ كُنَّا نَسْمَعُ
أَوْ نَعْقِلُ مَا كُنَّا فِي
أَصْحَابِ السَّعِيرِ ۝

11. ඔවුහු ඔවුන්ගේ පව පිලිගන්නෝය. එහෙත් තිරා ගින්නෙහි සහායයනට (සමාව)ඇත්ය.

١١- فَاعْتَرَفُوا بِذَنبِهِمْ ۖ فَسُحْقًا لِّأَصْحَابِ السَّعِيرِ ۝

12. ඇත්තෙන්ම. ඔවුන්ගේ හිමි නොදකින්ම බියවන ඔවුනටයැ සමාවත් මහත්වූ යහ ඵල විපාකත්.

١٢- إِنَّ الَّذِينَ يَخْشَوْنَ رَبَّهُم بِالْغَيْبِ
لَهُم مَّغْفِرَةٌ وَأَجْرٌ كَبِيرٌ ۝

13. තොපගේ බස රහස් කරන්නහුද නැතහොත් එය එළිදරව් කරන්නහුද. ඇත්තෙන්ම ඔහු සිත්හි දය දන්නේය[2087]

١٣- وَأَسِرُّوا قَوْلَكُمْ أَوِ اجْهَرُوا بِهِ ۖ
إِنَّهُ عَلِيمٌ بِذَاتِ الصُّدُورِ ۝

14. ඔහු නිර්මාණය කලාවූ දය ඔහු නොදන්නේද? ඔහු කුළුණැතියඃ සුවිඥතය.

١٤- أَلَا يَعْلَمُ مَنْ خَلَقَ
وَهُوَ اللَّطِيفُ الْخَبِيرُ ۝

15. ඔහුයැ තොපට පොළොව වසඟ කෙළේ. එසේ හෙයින් එහි දියා විදියාවන්හි තෙපි ප්‍රායණය කොට එහි සම්පාදිත දයින් අනුභව කරවූ ඔහු වෙතටයැ පුනරුත්ථානය.

١٥- هُوَ الَّذِي جَعَلَ لَكُمُ الْأَرْضَ ذَلُولًا
فَامْشُوا فِي مَنَاكِبِهَا
وَكُلُوا مِن رِّزْقِهِ ۖ وَإِلَيْهِ النُّشُورُ ۝

16. එය කම්පිත කල්හි තොප පොළොවැ ගැලෙන්නට නොසලසන්නේ යයි අහස්හි මහුගෙන් තොපි සුරක්ෂිතද?[2088]

١٦- أَأَمِنتُم مَّن فِي السَّمَاءِ
أَن يَخْسِفَ بِكُمُ الْأَرْضَ فَإِذَا هِيَ تَمُورُ ۝

17. නැතහොත් අහස්හි ඔහු තොප මත සුළි සුළඟක් නොඑවන්නේ යයි තොපි සුරක්ෂිතද? මගේ ඔවාඃ බස කෙසේදයි තොපි දනගන්නහුය.[2089]

١٧- أَمْ أَمِنتُم مَّن فِي السَّمَاءِ
أَن يُرْسِلَ عَلَيْكُمْ حَاصِبًا ۖ
فَسَتَعْلَمُونَ كَيْفَ نَذِيرِ ۝

18. ඔවුන්ට[2090] පෙරැ අයද(රසූල්වරයන්) ප්‍රතික්ෂෙප කළදය. එවිට මගේ උදහස කෙසේවීද?

١٨- وَلَقَدْ كَذَّبَ الَّذِينَ مِن قَبْلِهِمْ
فَكَيْفَ كَانَ نَكِيرِ ۝

---

2087. මුෂ්රික්වරු නබි සල්ලල්ලාහු අලෙයිහි සල්ලම් ගැන කමින් කුල දොෂාරෝපණය කොලේය. මෙය ගැන අල්ලාහු තආලා නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම්ට දැන් වූයේය. පි. 2000 බ.

2088. 28/81 බ.

2089. 29/40 බ.

2090. මක්කා කාෆිර්වරුනට

19. ඔවුනට ඉහළින් පක්ෂීන් (අත්තටු) දිග හරිමින්ද හකුළමින්ද ඔවුහු නොදකිත්ද? පරමදයාළු විනා කිසිවෙක් ඔවුන් නොවාවත්. ඇත්තෙන්ම ඔහු සියලු දය දක්නේය.

١٩- أَوَلَمْ يَرَوْا إِلَى الطَّيْرِ فَوْقَهُمْ صَافَّاتٍ وَيَقْبِضْنَ ۚ مَا يُمْسِكُهُنَّ إِلَّا الرَّحْمَٰنُ ۚ إِنَّهُ بِكُلِّ شَيْءٍ بَصِيرٌ ○

20. පරමදයාළුහු හැර තොපට උදව් කරන්නේ කවර සේනාංකයෙක්ද? විශ්වාස නොකරන්නවුන් මෝහයෙන් මිස නැත.

٢٠- أَمَّنْ هَٰذَا الَّذِي هُوَ جُندٌ لَّكُمْ يَنصُرُكُم مِّن دُونِ الرَّحْمَٰنِ ۚ إِنِ الْكَافِرُونَ إِلَّا فِي غُرُورٍ ○

21. ඔහු (තොපට) බොජුන් සැපයීම නැවැත්තවුහොත් තොපට බොජුන් සපයන්නේ කවරෙක්ද? එහෙත් ඔවුහු උඩඟු බැව්හි හා හිතුවක්කාර බැව්හිය.

٢١- أَمَّنْ هَٰذَا الَّذِي يَرْزُقُكُمْ إِنْ أَمْسَكَ رِزْقَهُ ۚ بَل لَّجُّوا فِي عُتُوٍّ وَنُفُورٍ ○

22. මුණින් තැමුණු මුහුනින් අතපත ගාඇවිදෙන ඔහුද. ඉදි මගැ ඉදියෙන් ඇවිදෙන ඔහුද. යහමඟෙහිය?[2091]

٢٢- أَفَمَن يَمْشِي مُكِبًّا عَلَىٰ وَجْهِهِ أَهْدَىٰ أَمَّن يَمْشِي سَوِيًّا عَلَىٰ صِرَاطٍ مُّسْتَقِيمٍ ○

23. "ඔහුයැ තොප නිපදවා තොපට ශ්‍රවණයද දෘෂ්ටියද හදවතක්ද කෙළේ. ස්වල්පයැ තොප ස්තුති කරන්නේ" යි කියව.

٢٣- قُلْ هُوَ الَّذِي أَنشَأَكُمْ وَجَعَلَ لَكُمُ السَّمْعَ وَالْأَبْصَارَ وَالْأَفْئِدَةَ ۖ قَلِيلًا مَّا تَشْكُرُونَ ○

24. "ඔහුයැ භූමියෙහි තොප නිර්මාණය කොට බෝ කෙළේ. ඔහු වෙතටයැ තොපි එක්රැස් කරනුද ලබන්නේ" යි කියව.

٢٤- قُلْ هُوَ الَّذِي ذَرَأَكُمْ فِي الْأَرْضِ وَإِلَيْهِ تُحْشَرُونَ ○

25. "තොපි සත්‍යවාදීහු නම් මේ ප්‍රතිඥාව කවරදාද?" යි ඔවුහු කියන්නෝය.[2092]

٢٥- وَيَقُولُونَ مَتَىٰ هَٰذَا الْوَعْدُ إِن كُنتُمْ صَادِقِينَ ○

26. "අල්ලාහුගේ සන්නිධානයෙහියැ එහි දැනුම. මම පැහැදිලි ඔවදන් දෙන්නෙක් පමණෙක්මි" යි කියව.[2093]

٢٦- قُلْ إِنَّمَا الْعِلْمُ عِندَ اللَّهِ وَإِنَّمَا أَنَا نَذِيرٌ مُّبِينٌ ○

27. එහෙත් එය[2094] ඔවුන් ළඟින් දකින කල්හි ප්‍රතික්ෂේප කළවුන්ගේ මුහුණු කළුපැහැය වන්නේය. "මේයැ තොප (ඉක්මන්) කරන්නට සෙවූ දෙය" යි (ඔවුනට) කියනුලැබේ.[2095]

٢٧- فَلَمَّا رَأَوْهُ زُلْفَةً سِيئَتْ وُجُوهُ الَّذِينَ كَفَرُوا وَقِيلَ هَٰذَا الَّذِي كُنتُم بِهِ تَدَّعُونَ ○

28. "කියන්නැ! අල්ලාහු මාද මා සමඟවූ අයද විනාශ කෙළේ නම් හෝ අපට දයාළු වූයේ නම් හෝ[2096] ප්‍රතික්ෂේප කළවුන් වේදනීය දඬුවමකින් මුදවන්නේ කවරෙක්ද?" යි කියව.

٢٨- قُلْ أَرَأَيْتُمْ إِنْ أَهْلَكَنِيَ اللَّهُ وَمَن مَّعِيَ أَوْ رَحِمَنَا فَمَن يُجِيرُ الْكَافِرِينَ مِنْ عَذَابٍ أَلِيمٍ ○

---

2091. මේ ආයාවෙන් සත්‍යයන් කඩින්නවුන් හා එසම දෙවියාකු අදහන්නවුන් ගැන උදාහරණ කියන ලදී.

2092. පුනරුත්ථාන සිරිමද එහි ඥවමද

2093. 22/47 බ.

2094. පිළිත දෙන ලද අන්තිම දිනැ ඥවම.

2095. 7/70: 8/32: 11/32, 29/29 බ.

2096. රසූල්වරයාද විශ්වාස කළවුන්ද කාල සටහනින් විනාශ වන්නාහුයි ප්‍රතික්ෂේප කළ අය බලාපොරොත්තු වූහ

29. "ඔහුයැ පරමදයාලුහු අපි ඔහු ගැන විශ්වාස කොළෙමු: ඔහු වෙතම බාර වන්නෙමු කවරෙක් ප්‍රකට වරදෙහිදැයි තොපි මතු දැනගන්නහුය"යි කියව.

٢٩- قُلْ هُوَ الرَّحْمَٰنُ آمَنَّا بِهِ وَعَلَيْهِ تَوَكَّلْنَا ۖ فَسَتَعْلَمُونَ مَنْ هُوَ فِي ضَلَالٍ مُبِينٍ ○

30. කියන්නැ! තොපගේ ජලය අන්ත භූමියෙහි අදෘශ්‍යමාන වී ගියේ නම් තොපට ලෙහෙසියෙන් ලබාගත හැකි ජලය ගෙන දෙන්නේ කවරෙක්දැ? යි කියව [2096A]

٣٠- قُلْ أَرَأَيْتُمْ إِنْ أَصْبَحَ مَاؤُكُمْ غَوْرًا فَمَنْ يَأْتِيكُمْ بِمَاءٍ مَعِينٍ ○

\- 67 වන සූරාව අල්-මුල්ක් නිමි

2096A. මේ ආයාව අවසාන වූ කල්හි සර්ව ලෝක සංරක්ෂකයාවූ අල්ලාහු'යි කිව යොදැය.

## අල්-කලම්: ලේඛනිය

سُورَةُ الْقَلَمِ

මක්කාහිදී පහළවිය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. නූන්[2097] ලේඛනියෙන්ද ඔවුන්ගේ සටහනින්ද ශපථය.
١- نٓ وَالْقَلَمِ وَمَا يَسْطُرُونَ ۝

2. නුඹ, නුඹ හිමියේ අනුග්‍රහයෙන්, උම්මත්තකයෙක් නොවෙහි.[2098]
٢- مَا أَنتَ بِنِعْمَةِ رَبِّكَ بِمَجْنُونٍ ۝

3. ඇත්තෙන්ම සදා පවත්නා වැටුපෙක් නුඹටය.
٣- وَإِنَّ لَكَ لَأَجْرًا غَيْرَ مَمْنُونٍ ۝

4. ඇත්තෙන්ම නුඹ අති ශ්‍රේෂ්ඨවූ යහ ගුණෙහිය.
٤- وَإِنَّكَ لَعَلَىٰ خُلُقٍ عَظِيمٍ ۝

5. ලහදී නුඹද දක්නෙහිය; ඔවුහුද දකින්නෝය.
٥- فَسَتُبْصِرُ وَيُبْصِرُونَ ۝

6. තොපගෙන් කවරෙක් මල්මාදදැයි(දකින්නාහුය)!
٦- بِأَييِّكُمُ الْمَفْتُونُ ۝

7. ඇත්තෙන්ම, නුඹ හිමි, ඔහුගේ මාර්ගයෙන් වැරද ගිය කෙනෙකු ගැන ඉතා දන්නේය. යහමග යන්නා ගැනත් ඔහු ඉතා දන්නේය.
٧- إِنَّ رَبَّكَ هُوَ أَعْلَمُ بِمَن ضَلَّ عَن سَبِيلِهِ وَهُوَ أَعْلَمُ بِالْمُهْتَدِينَ ۝

8. එහෙයින් නුඹ, ප්‍රතික්ෂේප කරන්නවුනට, කීකරු නොවව.
٨- فَلَا تُطِعِ الْمُكَذِّبِينَ ۝

9. නුඹ (ඔවුනට) ලිහිල්වීමද ඔවුන් (නුඹට) ලිහිල්වීමද ඔව්හු කැමතිවෙත්[2099]
٩- وَدُّوا لَوْ تُدْهِنُ فَيُدْهِنُونَ ۝

---

2097. මේ අක්ෂරයෙහි අර්ථය දන්නේ අල්ලාහු තආලා පමණය.

2098. 15/6; 37/36 බ.

2099. නබි උතුමා ඔවුන්ගේ නපුරු ක්‍රියාවන් රට පරට බැහින් නොදැක්කෙකු යයිද ඔවුන්ද එහාව රට පරට නොවන්යයිද ඔවුන්ගේ ලෙසය.

10. වැඩියෙන් දිවුරන නිවකයාට[2100] කීකරු නොවව. ١٠- وَلَا تُطِعْ كُلَّ حَلَّافٍ مَّهِينٍ ۝

11. අගුන කියමින් ඇවිදින විඨ්‍යාපවාදයා: ١١- هَمَّازٍ مَّشَّآءٍۭ بِنَمِيمٍ ۝

12. යහකම් වලක්වන්නේ. සීමාව ඉක්මවන්නේ. මහා පාපියෑ ١٢- مَّنَّاعٍ لِّلْخَيْرِ مُعْتَدٍ أَثِيمٍ ۝

14. තද සිතැත්තා: එයට උඩින් අවජාතක පුත්‍රයා: ١٣- عُتُلٍّۭ بَعْدَ ذَٰلِكَ زَنِيمٍ ۝

14. ඔහු වස්තුවද පුත්‍රයන්ද හිමිකොට ඇති බැවින්: ١٤- أَن كَانَ ذَا مَالٍ وَبَنِينَ ۝

15. අපගේ ආයාවන් ඔහුට සමුදිරණය කරනු ලැබූ කල්හි "පැරණියන්ගේ කථාන්තරය"යි ඔහු කියන්නේය.[2101] ١٥- إِذَا تُتْلَىٰ عَلَيْهِ ءَايَٰتُنَا قَالَ أَسَٰطِيرُ ٱلْأَوَّلِينَ ۝

16. ඌගේ හොම්බ මත අපි හංවඩු ගසන්නෙමු.[2102] ١٦- سَنَسِمُهُۥ عَلَى ٱلْخُرْطُومِ ۝

17. උයනෙහි[2103] සහායයන් පිරික්සුවාක් මෙන්. ඔවුන්ද[2104] පිරික්සුවෙමු. උදයනෑ එහි අස්වැන්න රැස්කරන්නෝමයි ඔවුහු තීරණය කොළෝය: ١٧- إِنَّا بَلَوْنَٰهُمْ كَمَا بَلَوْنَآ أَصْحَٰبَ ٱلْجَنَّةِ إِذْ أَقْسَمُوا۟ لَيَصْرِمُنَّهَا مُصْبِحِينَ ۝

18. පැවරීමක් නො කළෝය.[2105] ١٨- وَلَا يَسْتَثْنُونَ ۝

19. ඔවුන් නිදා සිටියදී මුඹ හිමිගෙන් එය මත රෑ වටලෑමෙක් වට ලැවේය[2106] ١٩- فَطَافَ عَلَيْهَا طَآئِفٌ مِّن رَّبِّكَ وَهُمْ نَآئِمُونَ ۝

20. උදහැන ඒ නෙලන ලද මෙන්වී[2107] ٢٠- فَأَصْبَحَتْ كَٱلصَّرِيمِ ۝

21. උදහැන නින්දෙන් අවදි වූවෝ එකිනෙකා අඬගැවෝය. ٢١- فَتَنَادَوْا۟ مُصْبِحِينَ ۝

22. නොපි නෙලන්නහු නම් නොපගේ ගොවිපළට යවු ٢٢- أَنِ ٱغْدُوا۟ عَلَىٰ حَرْثِكُمْ إِن كُنتُمْ صَٰرِمِينَ ۝

---

2100. වලීදුබ්නුල් මුගෛරා වලීද්ගේ පියා කවරෙක්දැයි මක්කාවාසීහු නොදැන සිටියෝය. මොහුගේ දහ අටවන වියෙහිදී මුගෛරා ඔහු තම පුත්‍රයායි භාර ගත්තේය. පසුව වලීද්ට පුත්‍රද වස්තුද වී ඒ හේතු කොට ගෙන නබි උතුමාට විරුද්ධකම් පෑවේය: කේලම් කියමින් ඇවිද්දේය: දන් දීමෙන්ද ඉස්ලාම් මාර්ග වැළඳ ගැනීමෙන්ද මිනිසුන් වැළැක්වූයේය.

2101. 6/25 බ.

2102. බද්රු යුධයේදී වලීදුබ්නුල් මුගෛරාගේ නොම්බට පහරක් වැදී එහි කැළැල ඔහු මැරෙන තෙක් නොමැකී තිබුණි.

2103. ඊසා අලෙයිහිස්සලාම්ට වික කලකට පසු එක්තරා උයනෙක හිමියෙක් එහි ඵල නෙලන කල දිළිඳුනට යහපත් දාන දුන්නේය. ඔහු මළ පසු ඔහුගේ පුත්‍රයෝ තිදෙනාම දිළිඳුනට දීම නවත්වන්නට අදහස් කළෝය. නෙළන වේලාවට දිළිඳුන් රැස් වන්නට පෙර උදෑසනම උයනට ගොස් ඵල නෙලා ගත යුතු යයි තීරණය කර ගත්තෝය. අල්ලාහුතආලා කැමැති නම් යි නොපැවසුවෝය. රැයෙහි අල්ලාහු තආලාගේ උදහස පහළවී ඒ උයන සම්පූර්ණයෙන් විනාශ විය.

2104. මක්කාවාසීහු සත් අවුරුද්දක් සාගතයෙන් පෙළුනෝය.

2105 අ.පි. 2102 බ

2106. අඳුරු පැහැ වී එය අඳුරු බැස්සුවේය.

2107. ඒ උයන ඵලා ඵලයෙන් තොරවී කර පැහැතියක් මෙන් වී.

٢٣- فَانطَلَقُوا وَهُمْ يَتَخَافَتُونَ ۝

23. එවිට ඔවුහු ගිහි ශබ්දයෙන් ඔවුනොවුනට බෙණෙමින් පිටත්වැ ගියාහ.

٢٤- أَن لَّا يَدْخُلَنَّهَا الْيَوْمَ عَلَيْكُم مِّسْكِينٌ ۝

24. අද දින තොප වෙත දිළිඳෙකු එහි ඇතුළු නොවේවා.

٢٥- وَغَدَوْا عَلَىٰ حَرْدٍ قَادِرِينَ ۝

25. ඔවුහු බලවත් අධිෂ්ඨානයෙන් උදෑහැනැස්සේ පිටත්වැ ගියාහ.

٢٦- فَلَمَّا رَأَوْهَا قَالُوا إِنَّا لَضَالُّونَ ۝

26. ඔවුන් එය (උයන) දුටු කල්හි "ඇත්තෙන්ම අපි වැරද ගියවුන්යැ"යි ඔවුහු කීවෝය.[2108]

٢٧- بَلْ نَحْنُ مَحْرُومُونَ ۝

27. නැත.[2109] අපි (ඵල ප්‍රයෝජනයෙන්) වළක්වන ලද්දෝ වම්හ.

٢٨- قَالَ أَوْسَطُهُمْ أَلَمْ أَقُل لَّكُمْ لَوْلَا تُسَبِّحُونَ ۝

28. "තොප, (අල්ලාහු) සුවිශුද්ධ කළ යුතුයයි මම තොපට නොකීවේම්ද"යි ඔවුන්ගෙන් දනමිත්තා කීවේය.[2110]

٢٩- قَالُوا سُبْحَانَ رَبِّنَا إِنَّا كُنَّا ظَالِمِينَ ۝

29. "අපගේ හිමි සුවිශුද්ධය! ඇත්තෙන්ම, අපි වැරද කරමින් හුන්නෙමු"යි ඔවුහු කීවෝය.

٣٠- فَأَقْبَلَ بَعْضُهُمْ عَلَىٰ بَعْضٍ يَتَلَاوَمُونَ ۝

30. පසුව, ඔවුහු එකිනෙකාට බැණ ගත්තෝය.

٣١- قَالُوا يَا وَيْلَنَا إِنَّا كُنَّا طَاغِينَ ۝

31. "අහෝ, අපේ විනාශය! ඇත්තෙන්ම, අපි සීමාව ඉක්මවූවෝ වෙමු"යි ඔවුහු කීවෝය.

٣٢- عَسَىٰ رَبُّنَا أَن يُبْدِلَنَا خَيْرًا مِّنْهَا إِنَّا إِلَىٰ رَبِّنَا رَاغِبُونَ ۝

32. "අපගේ හිමි මෙයට වඩා හොඳ (උයනක්) මාරුකොට අපට දෙන්නට පිළිවන. ඇත්තෙන්ම, අපගේ හිමි වෙතයැ අපි අපේක්‍ෂා කරන්නෙමු.

٣٣- كَذَٰلِكَ الْعَذَابُ ۖ وَلَعَذَابُ الْآخِرَةِ أَكْبَرُ ۚ لَوْ كَانُوا يَعْلَمُونَ ۝

33. දඬුවම එබඳුයැ. තවද පරලොවැ දඬුවම ඉතා මහත්ය. ඔවුහු දැනසිටියාහු නම්.

٣٤- إِنَّ لِلْمُتَّقِينَ عِندَ رَبِّهِمْ جَنَّاتِ النَّعِيمِ ۝

34. ඇත්තෙන්ම, බිය බැතියනට ඔවුන්ගේ හිමි සන්නිධානයෙහි සකල භාග්‍යයෙන් යුත් ජන්නාවෝය.

٣٥- أَفَنَجْعَلُ الْمُسْلِمِينَ كَالْمُجْرِمِينَ ۝

35. පවුකරන ජනන්වාට[2111] සලකන්නාක් මෙන් අපි මුස්ලිම් වරුනට සලකමුද?

---

2108. අදුන්නහට බැරි අන්දමට උයන වෙනස්වී තිබෙනු දුටු ඔවුහු මෙය ඔවුන්ගේ උයන නොවැ; වෙන උයනෙක්යයි සිතූහ. පසුව ඔවුන්ගේ උයනමයි දැනගත් කල්හි එහි ප්‍රතිඵලයෙන් වළක්වනු ලද්දෝයයි කීහු. මීළඟ ආයාව බලනු.

2109. නොවැරදුනෙමු.

2110. දිළිඳුනට නොදියයුතුයයි ඔවුන් සාකච්ඡා කරමින් හුන් විට "මේ දුරා ලෝචනය ප්‍රශ්න නැත. අල්ලාහු කෙරෙහි පසුතැවිලි වී ඔහු සුවිශුද්ධ කරවු"යි ඔවුන්ගෙන් දැනුම මුහුකුරා ගිය තැනැත්තෙක් කීවේය.

2111. කාෆිර්වරුනට

36. තොපට කුමක් වෙලාද? තොපි කෙසේ තීරණය කරන්නහුද?

٣٦- مَا لَكُمْ كَيْفَ تَحْكُمُونَ

37. හෝ! තොපි එහි ඉගෙන ගන්නාවූ පුස්තකයෙක් තොපටද?

٣٧- أَمْ لَكُمْ كِتَابٌ فِيهِ تَدْرُسُونَ

38. එහි තොප තෝරා ගන්නා දෑ තොපටයයි (කෙසේ තීරණය කරන්නහුද?)[2112]

٣٨- إِنَّ لَكُمْ فِيهِ لَمَا تَخَيَّرُونَ

39. හෝ තොප තීරණය කරන දෑ තොපට (වන්නේ) යයි පුනරුත්ථානදින දක්වා පවතින ප්‍රතිඥා අපෙන් තොපට තිබේද?

٣٩- أَمْ لَكُمْ أَيْمَانٌ عَلَيْنَا بَالِغَةٌ إِلَىٰ يَوْمِ الْقِيَامَةِ إِنَّ لَكُمْ لَمَا تَحْكُمُونَ

40. එයට[2113] ඇපවන්නේ කවරෙක්දැයි ඔවුන්ගෙන් අසව.

٤٠- سَلْهُمْ أَيُّهُم بِذَٰلِكَ زَعِيمٌ

41. හෝ. ඔවුනට සමානයන්ද? එසේ හොත් ඔවුහු සත්‍යවාදී වූහු නම් ඔවුන්ගේ සමානයන් ගෙන ඒවා.[2114]

٤١- أَمْ لَهُمْ شُرَكَاءُ فَلْيَأْتُوا بِشُرَكَائِهِمْ إِن كَانُوا صَادِقِينَ

42. කරුණු ඉතා තදවන දින සුජූද් කිරීමට ඔවුහු අඬගසනු ලබන්නෝය. ඔවුහු එය කර ගත නොහැකි වෙත්!

٤٢- يَوْمَ يُكْشَفُ عَن سَاقٍ وَيُدْعَوْنَ إِلَى السُّجُودِ فَلَا يَسْتَطِيعُونَ

43. ඔවුන්ගේ බැලුම් පහත හෙළෙන්නේය: නිවටකම ඔවුන් ගලහාංගු කරන්නේය. ඔවුන් සෝමවැ හුන් කල්හි සුජූද්[2115] කිරීමට අඬගානු ලැබූදය

٤٣- خَاشِعَةً أَبْصَارُهُمْ تَرْهَقُهُمْ ذِلَّةٌ وَقَدْ كَانُوا يُدْعَوْنَ إِلَى السُّجُودِ وَهُمْ سَالِمُونَ

44. එසේ හෙයින් මේ ප්‍රකාශනය[2116] ප්‍රතික්ෂේප කරන්නෙකු මා වෙතැ හැරුව. ඔවුන් නොදැනුවත්වැ අපි ඔවුන් අනුකෙමෙන් (විනාශයට) ගෙන යන්නෙමු.[2117]

٤٤- فَذَرْنِي وَمَن يُكَذِّبُ بِهَٰذَا الْحَدِيثِ سَنَسْتَدْرِجُهُم مِّنْ حَيْثُ لَا يَعْلَمُونَ

45. මම ඔවුන්. පමා කරන්නෙමි. ඇත්තෙන්ම මගේ උපාය තරසරය.[2118]

٤٥- وَأُمْلِي لَهُمْ إِنَّ كَيْدِي مَتِينٌ

46. හෝ! නුඹ ඔවුන්ගෙන් වැටුපක් ඉල්ලන්නෙහිද? ඒ (වැටුප ගෙවීම) හේතු කොට ගෙන ඔවුහු ණය බරට බියවන්නෝද?

٤٦- أَمْ تَسْأَلُهُمْ أَجْرًا فَهُم مِّن مَّغْرَمٍ مُّثْقَلُونَ

---

2112. 18/36, 10/77 බ.

2113. පුනරුත්ථාන දින මුස්ලිම්වරුන්ට වඩා උසස්තත්ත්වයකැවන්නෝයයි ඔවුන්ගේ සිතමතව.

2114. පරලොවැ මුස්ලිම්වරුනට වඩා විශේෂතත්ත්වයක්හෝ සමානතත්ත්වයක්ඔවුනට යයි ඔවුන්ගේ සිතමතව සිටීම අධාරයක් නැත.

2115. මෙලෙවිහි

2116. අල් කුර්ආන්

2117. 7/182 බ.

2118. අල්ලාහු තආලා කාෆිර්වරුන්ගේ අයහපත්ම්හි දැවුම් පමා කිරීමද ඔහු විසින් ඔවුනට දෙන ලද සැපසම්පත්ද ඔවුන්ගේ ක්‍රියාවන්ට ප්‍රතිඵලයයි සිතා හැඟුණ නොසලකා ඔවුහු වැඩි වැඩියෙන් පව් කරන්නෝය.

47. හෝ! ඔවුනු ගුප්තය දන්නෝද? ඔවුනු (එය) ලියා තබන්නෝද?

٤٧- أَمْ عِنْدَهُمُ الْغَيْبُ فَهُمْ يَكْتُبُونَ ○

48. එහෙත් නුඹ හිමියේ තීරණය[2119] ඉවසව. චිත්ත සන්තාපයෙන් අඬගෑ මත්ස්‍ය සහායයා මෙන් නොවව.[2120]

٤٨- فَاصْبِرْ لِحُكْمِ رَبِّكَ وَلَا تَكُنْ كَصَاحِبِ الْحُوتِ إِذْ نَادَى وَهُوَ مَكْظُومٌ ○

49. ඔහු හිමියෙන් ඔහුට අනුග්‍රහයක් නොපැමිණියේ නම් ඔහු ගර්හිතව, හිස් බිහුදු වෙරළෙහි හෙළනු ලබන්නේය[2121]

٤٩- لَوْلَا أَنْ تَدَارَكَهُ نِعْمَةٌ مِنْ رَبِّهِ لَنُبِذَ بِالْعَرَاءِ وَهُوَ مَذْمُومٌ ○

50. එහෙත් ඔහුගේ හිමි ඔහු තෝරා ගෙන ඔහු දැහැමියන්ගෙන් කෙළේය.[2122]

٥٠- فَاجْتَبَاهُ رَبُّهُ فَجَعَلَهُ مِنَ الصَّالِحِينَ ○

51. විශ්වාස නොකරන අය අල්-කුර්ආනය සමුදිරණය කරනු ඇසුවිට ඔවුනු ඔවුන්ගේ බැලමෙන් නුඹ කලබන්නෝය. තවද "ඇත්තෙන්ම ඔහු උම්මත්තකයෙක්මය" යි කියන්නෝය.

٥١- وَإِنْ يَكَادُ الَّذِينَ كَفَرُوا لَيُزْلِقُونَكَ بِأَبْصَارِهِمْ لَمَّا سَمِعُوا الذِّكْرَ وَيَقُولُونَ إِنَّهُ لَمَجْنُونٌ ○

52. එය ලෝ වැස්සනට සිහිවටනයක් මිස නැත.

٥٢- وَمَا هُوَ إِلَّا ذِكْرٌ لِلْعَالَمِينَ ○

- 68 වන සූරාව අල්-කලම් නිමි -

---

2119. 52/48 අදී. 1862 බ.

2120. ලා ඉලාහ ඉල්ලා අන්ත සුබ්හානක ඉන්නී කුන්තුම් මිනල්ලාලිමීන් (නුඹ හැර අන් දෙවියෙක් නැත. නුඹ සුවිශුද්ධය. ඇත්තෙන්ම මම අනාචාර කරගත් අයගෙන්ය) යි යූනුස් අලෙයිහිස්සලාම් මත්ස්‍ය කුසයෙන් මිදීමට අල්ලාහුතාආලාගේ අයැදියේය. විපතකට අසුවූ කෙනෙක් මේ දුආ ගායනා කළහොත් ඔහු එයින් මිදෙන්නේමය.
හදීස්. 21/87: 37/141 බ.

2121. අල්ලාහු තආලාගෙන් ඔහුට අනුග්‍රහය පැමිණියේය. එබැවින් ඔහු ගර්හිත කරනු නොලැබුවේය.

2122. 37/147 බ.

## අල්-හාක්කතු: සත්‍ය සිද්ධිය

سُورَةُ الحَاقَّة

මක්කාහිදී පහළ විය

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. සත්‍ය සිද්ධිය[2113]!

١- الْحَاقَّةُ ۝

2. සත්‍ය සිද්ධිය කුමක්ද!

٢- مَا الْحَاقَّةُ ۝

3. සත්‍ය සිද්ධිය කුමක්දැයි නුඹට හඟවන්නේ කුමක්ද !

٣- وَمَا أَدْرَاكَ مَا الْحَاقَّةُ ۝

4. ආද්ද[2114] සමූද්ද මහා විපත්ති කරදින[2126] ප්‍රතික්ෂේප කළහ.

٤- كَذَّبَتْ ثَمُودُ وَعَادٌ بِالْقَارِعَةِ ۝

5. සමූද් ජනතාව - මේ ගැස්ම් හා අකුණු සහිත කුණාටුවෙන් විනාශ කරන ලදහ.[2127]

٥- فَأَمَّا ثَمُودُ فَأُهْلِكُوا بِالطَّاغِيَةِ ۝

6. ආද් ජනතාව- ඔවුහු බිහිසුණු කුණාටු සහිත සුළඟෙකින් විනාශ කරන ලදහ.[2128]

٦- وَأَمَّا عَادٌ فَأُهْلِكُوا بِرِيحٍ صَرْصَرٍ عَاتِيَةٍ ۝

7. එය සත් රෑ අට දහවලක් ඔවුන් මත සැර වියරුවෙන්ද අනුකෙමෙන්ද හමන්නට ඔහු බල කෙළේය. ඔවුන් බිම පෙරළුණු ඉඳි කඳන් මෙන් එහි පිරිස වැතිර සිටිනු නුඹ දක්නෙහිය.

٧- سَخَّرَهَا عَلَيْهِمْ سَبْعَ لَيَالٍ وَثَمَانِيَةَ أَيَّامٍ حُسُومًا فَتَرَى الْقَوْمَ فِيهَا صَرْعَىٰ كَأَنَّهُمْ أَعْجَازُ نَخْلٍ خَاوِيَةٍ ۝

8. නුඹ ඔවුන්ගෙන් ඉතිරියකු දක්නෙහිද?

٨- فَهَلْ تَرَىٰ لَهُمْ مِنْ بَاقِيَةٍ ۝

---

2123. පුනරුත්ථාන දින.
2124. ආද් ජනතාව හූද් අලෛහිස්සලාම්ගේ පිරිසයි, 7/65 බ.
2125. සමූද් ජනතාව සාලිහ් අලෛහිස්සලාම්ගේ පිරිසයි 7/73 බ.
2126. පුනරුත්ථාන දින.
2127. 41/17: 54/31 බ.
2128. 41/16, 54/19 බ.

9. ෆිර්අවුන්ද ඔහුට පෙර අයද නවබුන් නගර ජනතාවද වරදෙහි යෙදුණාහ.

٩- وَجَاءَ فِرْعَوْنُ وَمَنْ قَبْلَهُ وَالْمُؤْتَفِكَاتُ بِالْخَاطِئَةِ ۝

10. ඔවුහු ඔවුන් හිමියගේ රසූල්වරයාට අකීකරුවූහ. එබැවින් ඔහු බිහිසුණු දඬුවමකින් ඔවුන් හසු කෙළේය.[2129]

١٠- فَعَصَوْا رَسُولَ رَبِّهِمْ فَأَخَذَهُمْ أَخْذَةً رَابِيَةً ۝

11. ජලය උතුරා ගිය කල්හි අපි නැවෙහි නොප[2130] උසුලුවෙමු.

١١- إِنَّا لَمَّا طَغَا الْمَاءُ حَمَلْنَاكُمْ فِي الْجَارِيَةِ ۝

12. අපි එය නොපට සිහිවටනක් කරනු පිණිසත්.සවන් දෙනකන්(එය අසා) සිහියේ තබා ගනු පිණිසත්.

١٢- لِنَجْعَلَهَا لَكُمْ تَذْكِرَةً وَتَعِيَهَا أُذُنٌ وَاعِيَةٌ ۝

13. එවිට හොරණෑවෙහි එක පිඹුමක් පිඹුකල්හි[2131]

١٣- فَإِذَا نُفِخَ فِي الصُّورِ نَفْخَةٌ وَاحِدَةٌ ۝

14. පොළොව කඳුන් සමග උකුල් දෙනු ලැබ එක පහරකින් සුනු විසුනු කරනු ලබන්නේය.

١٤- وَحُمِلَتِ الْأَرْضُ وَالْجِبَالُ فَدُكَّتَا دَكَّةً وَاحِدَةً ۝

15. එදිනැ සත්‍ය සිද්ධිය සිදුවන්නේය.

١٥- فَيَوْمَئِذٍ وَقَعَتِ الْوَاقِعَةُ ۝

16. තවද අහස විවර වන්නේය එදිනැ ඒ බෙලහීන වන්නේය.

١٦- وَانْشَقَّتِ السَّمَاءُ فَهِيَ يَوْمَئِذٍ وَاهِيَةٌ ۝

17. මලක්කු එහි පැතිවලහිය. ඔවුනට ඉහළින් එදිනැ අට දෙනෙක් මුඹ හිමියගේ 'අර්ෂ්'[2132] උසුලත්.

١٧- وَالْمَلَكُ عَلَىٰ أَرْجَائِهَا ۚ وَيَحْمِلُ عَرْشَ رَبِّكَ فَوْقَهُمْ يَوْمَئِذٍ ثَمَانِيَةٌ ۝

18. එදිනැ නොපි (විනිශ්චය පිණිස) ඉදිරිපත් කරනු ලබන්නාහුය.. නොප සඟවන සැම ක්‍රියාවක්ම (එදිනැ) නොසැඟවේ.

١٨- يَوْمَئِذٍ تُعْرَضُونَ لَا تَخْفَىٰ مِنْكُمْ خَافِيَةٌ ۝

19. ඔහුගේ ක්‍රියා ලේඛනය ඔහුගේ දකුණතෙහි දෙනු ලබන තැනැත්තේ "මෙන්න! මගේ ක්‍රියා ලේඛනය කියවා බලවු"යි කියන්නේය[2133]

١٩- فَأَمَّا مَنْ أُوتِيَ كِتَابَهُ بِيَمِينِهِ فَيَقُولُ هَاؤُمُ اقْرَءُوا كِتَابِيَهْ ۝

20. ඇත්තෙන්ම. මම මගේ ගණන් නැතිම හමුවන්නෙමියි දැන සිටියෙමි.

٢٠- إِنِّي ظَنَنْتُ أَنِّي مُلَاقٍ حِسَابِيَهْ ۝

21. එහෙත්. ඔහු පමුදිත ජීවනයක්හිය:

٢١- فَهُوَ فِي عِيشَةٍ رَاضِيَةٍ ۝

22. උසස්වූ ජන්නාවෙක්හිය:

٢٢- فِي جَنَّةٍ عَالِيَةٍ ۝

---

2129. 9/70 අදි. 522 බ.

2130. නොපගේ පියවරුන්ගේ නොදු ඇරෙහිවූ කල්හි නොප උසුලුවෙමු-

මනුෂ්‍ය වර්ගයා සියල්ලම නුහු අලෙයිහිස්සලාම්ගේ පුත්- සාම්: හාම්: යාපාස් යන සිදෙනාගෙන් පැවත එන සංතතියකි.

2131. 39/68 බ.

2132. මෙකල මලක්කුන් සිවුදෙනෙක් 'අර්ෂ්' උසුලති පුනරුත්ථාන දිනැ අටදෙනෙක් උසුලත් 9/129 අදි. 573A බ.

2133. 56/8 අදි. 1954 බ.

23. එහි වලුබර පලතුරු සමීප වෙයිය.[2134]

۲۳- قُطُوفُهَا دَانِيَةٌ ۝

24. "ගතවූ දිනයන්හිකළ (හොඳ) දෑය[2135] හේතු කොට ගෙන සැපසේ අනුභව කරවු: පානය කරවු"(යි එහි ඔවුනට කියනු ලබන්නේය.)

۲۴- كُلُوا وَاشْرَبُوا هَنِيٓـًٔا بِمَآ أَسْلَفْتُمْ فِى الْأَيَّامِ الْخَالِيَةِ ۝

25. ඔහුගේ ක්‍රියා ලේඛනය ඔහු ගේ වම් අතෙහි දෙනලද තැනැත්තේ. "අහෝ! මට මගේ ක්‍රියා ලේඛනය නොදෙන ලද්දේ නම්"යි කියන්නේය:

۲۵- وَأَمَّا مَنْ أُوتِىَ كِتَـٰبَهُۥ بِشِمَالِهِۦ فَيَقُولُ يَـٰلَيْتَنِى لَمْ أُوتَ كِتَـٰبِيَهْ ۝

26. තවද මගේ ගණන් ගැනීම කුමක්දැ"යි මම නොදැන සිටියෙම් නම්:

۲۶- وَلَمْ أَدْرِ مَا حِسَابِيَهْ ۝

27. "අහෝ! ඕ (මරණය) මා අවසන් කළානම්!

۲۷- يَـٰلَيْتَهَا كَانَتِ الْقَاضِيَةَ ۝

28. "මගේ වස්තුව මට ප්‍රයෝජන නොවීය!

۲۸- مَآ أَغْنَىٰ عَنِّى مَالِيَهْ ۝

29. මගේ අධිකාරය මගෙන් පහවීය.

۲۹- هَلَكَ عَنِّى سُلْطَـٰنِيَهْ ۝

30. "ඔහු අල්වවු: ගෙල දාම මසං ඔහුට විලංගු දමු: (යි නිරය පාලකයනට කියනු ලැබේ)

۳۰- خُذُوهُ فَغُلُّوهُ ۝

31. පසුව ඔහු නිරාගිත්තෙහි දමවු:

۳۱- ثُمَّ الْجَحِيمَ صَلُّوهُ ۝

32. පසුව රියන් සැත්තෑවක් දිග ඇති හැකිල්ලෙහි බැඳ තබවු.

۳۲- ثُمَّ فِى سِلْسِلَةٍ ذَرْعُهَا سَبْعُونَ ذِرَاعًا فَاسْلُكُوهُ ۝

33. ඔහු අති ශ්‍රේෂ්ඨවූ අල්ලාහු ගැන විශ්වාස නොකෙළේය.

۳۳- إِنَّهُۥ كَانَ لَا يُؤْمِنُ بِاللَّهِ الْعَظِيمِ ۝

34 තවද දුගියනට බොජුන්දීම ගැන උනන්දු නොකෙළේය.[2136]

۳۴- وَلَا يَحُضُّ عَلَىٰ طَعَامِ الْمِسْكِينِ ۝

35. එසේ හෙයින් මෙදිනැ ඔහුට (අනුකම්පාවන්තව) කිට්ටුවන්තයෙක් නැත:

۳۵- فَلَيْسَ لَهُ الْيَوْمَ هَـٰهُنَا حَمِيمٌ ۝

36. වණවලින් වගණය වන්නක් විනා ආහාරයකුත් නැත.

۳۶- وَلَا طَعَامٌ إِلَّا مِنْ غِسْلِينٍ ۝

37. පව්වන් හැර අන් කෙනෙක් එය අනුභව නොකෙරෙත්.

۳۷- لَّا يَأْكُلُهُۥٓ إِلَّا الْخَـٰطِـُٔونَ ۝

38. නොප දක්නා දෑමත ප්‍රමාණ කරමි.

۳۸- فَلَآ أُقْسِمُ بِمَا تُبْصِرُونَ ۝

---

2134. 55/54 බ.

2135. මේ ලෝකයේ ජීවත්වන කල්හි කළ දෑයි.

2136. තමාදුන්නේ නැත. මෙරමාට උනන්දු කළේද නැත.

39. තොප නොදක්නා දය මතද:

٣٩- وَمَا لَا تُبْصِرُونَ

40. ඇත්තෙන්ම. ඒ (අල් - කුර්ආනය) ගෞරවාන්විත රසූල්වරයෙකුගේ වචනයැ:

٤٠- إِنَّهُ لَقَوْلُ رَسُولٍ كَرِيمٍ

41 ඒ කිවියකුගේ වචනයක් නොවෙයි. ස්වල්පයැ තොප විශ්වාස කරන දය.

٤١- وَمَا هُوَ بِقَوْلِ شَاعِرٍ ۚ قَلِيلًا مَا تُؤْمِنُونَ

42. ඒ නෙමිත්තියකුගේ වචනයකුදු නොවෙයි. ස්වල්පයැ තොප සිහිපත් කරන දය.

٤٢- وَلَا بِقَوْلِ كَاهِنٍ ۚ قَلِيلًا مَا تَذَكَّرُونَ

43. (එය) සකලලෝක ස්වාමීහු ගෙන් පහළ වූවෙකි.

٤٣- تَنزِيلٌ مِّن رَّبِّ الْعَالَمِينَ

44. ඔහු අප ගැන බොරුවක් ගෙතුයේ නම්.

٤٤- وَلَوْ تَقَوَّلَ عَلَيْنَا بَعْضَ الْأَقَاوِيلِ

45. අපි ඔහු දකුණෙනිත් අල්වා ගන්නෙමුමයැ:

٤٥- لَأَخَذْنَا مِنْهُ بِالْيَمِينِ

46. පැසුව අපි ප්‍රාණ නහරය ඔහුගෙන් කපන්නෙමුමය.

٤٦- ثُمَّ لَقَطَعْنَا مِنْهُ الْوَتِينَ

47. (අපගේ උදහස) ඔහුගෙන් වළක්වා ලන්නට තොපෙන් කිසිවකුටත් නොහැකිය.

٤٧- فَمَا مِنكُم مِّنْ أَحَدٍ عَنْهُ حَاجِزِينَ

48. තවද. ඇත්තෙන්ම. ඒ[2137] බිය බැතියනට අනුශාසනාවක්යැ.

٤٨- وَإِنَّهُ لَتَذْكِرَةٌ لِّلْمُتَّقِينَ

49. තවද. ඇත්තෙන්ම. (එය) ප්‍රතික්ෂේප කරන අය තොපා අතුරෙහියයි අපි දන්නෙමුමය.

٤٩- وَإِنَّا لَنَعْلَمُ أَنَّ مِنكُم مُّكَذِّبِينَ

50. තවද. ඇත්තෙන්ම. විශ්වාස නොකරන්නවුනට ඒ බලවත් සිත් තැවුල්ලෙකි.

٥٠- وَإِنَّهُ لَحَسْرَةٌ عَلَى الْكَافِرِينَ

51. තවද. ඇත්තෙන්ම. ඒ ඒකාන්ත සත්‍යයයැ.

٥١- وَإِنَّهُ لَحَقُّ الْيَقِينِ

52. එහෙයින්.අති මහත්ත ඔබ හිමිගේ නාමය සුවිශුද්ධ කරව.

٥٢- فَسَبِّحْ بِاسْمِ رَبِّكَ الْعَظِيمِ ع

\- 69 වන සූරාව අල්-හාක්කතු නිමි -

2137. අල්-කුර්ආනය.

## අල්-මආරිජ්: ආරෝහණ මං

මක්කාහිදී පහළවිය

سُورَةُ الْمَعَارِجِ

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. ප්‍රශ්න කරන්නෙක් සිදුවන දඬුවම[2138] ගැන ප්‍රශ්න කොළේය.

١- سَأَلَ سَائِلٌ بِعَذَابٍ وَاقِعٍ

2. විශ්වාස නොකරන්නවුනට (සිදුවන දඬුවම ගැන): එය වළක්වන්නෙක් නැත:

٢- لِلْكَافِرِينَ لَيْسَ لَهُ دَافِعٌ

3. ආරෝහණ මං[2139] හිමිවූ අල්ලාහුගේ (පහළ වන දඬුවම)

٣- مِنَ اللَّهِ ذِي الْمَعَارِجِ

4: මලක්කුවරුද 'රූහු'ද[2140] ඔහු(ගේ අණ පහළ වන තැන) වෙතට - හවුරුදු පනස් දහසක් පමණ ඇත්තවූ- දවසෙක්හි[2141]

٤- تَعْرُجُ الْمَلَائِكَةُ وَالرُّوحُ إِلَيْهِ فِي يَوْمٍ كَانَ مِقْدَارُهُ خَمْسِينَ أَلْفَ سَنَةٍ

5. (මුෂ්රික්වරුන්ගේ සරදම් ගැන හෝක නොවී) හොඳින් ඉවසව.

٥- فَاصْبِرْ صَبْرًا جَمِيلًا

6. ඇත්තෙන්ම. ඔවුහු එය[2142] ඈත්ය[2143] සිතති.

٦- إِنَّهُمْ يَرَوْنَهُ بَعِيدًا

7. අප එය ළංයයි[2144] දන්නෙමු

٧- وَنَرَاهُ قَرِيبًا

---

2138. 8/32 අඩි. 435. ද 17/02 ද, බ.

2139. අහස්

2140. ජිබ්රීල් අලෛහිස්සලාම්

2141. අන්තිම දින.

2142. දඬුවම

2143. නොසිදුවන්නක්යයි.

2144. සිදුවන්නක්මයයි.

8. අහස උණු ලෝදිය මෙන් වන්නාවූ. දිනැ.

٨- يَوْمَ تَكُونُ السَّمَاءُ كَالْمُهْلِ ۝

9. කඳු පිරන ලද පුළුන් මෙන්[2145] වන්නාවූ දිනැ;

٩- وَتَكُونُ الْجِبَالُ كَالْعِهْنِ ۝

10. යහළුවෙක් යහළුවෙකුගෙන් ප්‍රශ්න නොකරන්නේය ;

١٠- وَلَا يَسْأَلُ حَمِيمٌ حَمِيمًا ۝

11. ඔවුන් එකිනෙකාගේ දර්ශනයට පත් කරනු ලබද්දී පව්කා එදින දඬුවමෙන් මිදීම පිණිස තම දරුවන් බිලි දෙන්නට කැමතිවන්නේය:

١١- يُبَصَّرُونَهُمْ ۚ يَوَدُّ الْمُجْرِمُ لَوْ يَفْتَدِي مِنْ عَذَابِ يَوْمِئِذٍ بِبَنِيهِ ۝

12. ඔහුගේ භාර්යාවද ඔහුගේ සහෝදරයාද;

١٢- وَصَاحِبَتِهِ وَأَخِيهِ ۝

13. ඔහුට ආරක්ෂා දෙන ඔහුගේ කුටුම්භයද;

١٣- وَفَصِيلَتِهِ الَّتِي تُؤْوِيهِ ۝

14. භූමියෙහි සියලු දයද: ඔහු මුදවාලිය හැක්කේ නම්.

١٤- وَمَنْ فِي الْأَرْضِ جَمِيعًا ثُمَّ يُنْجِيهِ ۝

15. නොඑසේ ! ඇත්තෙන්ම . ඒ තිරා ගින්නයැ:

١٥- كَلَّا ۖ إِنَّهَا لَظَىٰ ۝

16. එය සම ගලවන්නේය[2146]

١٦- نَزَّاعَةً لِلشَّوَىٰ ۝

17. පිටු හරවන්නාවූද මුහුණු හරවන්නාවූද අයට[2147] අඬගායිය.

١٧- تَدْعُوا مَنْ أَدْبَرَ وَتَوَلَّىٰ ۝

18. වස්තු රැස්කොට සංමාර්ගයෙහි නොයොදා) එම සෙෂම කරන්නාවූද(අයට).

١٨- وَجَمَعَ فَأَوْعَىٰ ۝

19. ඇත්තෙන්ම මිනිසා නොඉවසිලිවන්තයෙක්ව නිර්මාණය කරන ලදී.

١٩- إِنَّ الْإِنْسَانَ خُلِقَ هَلُوعًا ۝

20. නපුරක් ඔහුට සිදුවූ කල්හි මසුරුයැ:

٢٠- إِذَا مَسَّهُ الشَّرُّ جَزُوعًا ۝

21. ඔහුට යහක් සිදුවූ කල්හි මසුරුයැ:

٢١- وَإِذَا مَسَّهُ الْخَيْرُ مَنُوعًا ۝

22. සලාත කරනු හැරයැ:

٢٢- إِلَّا الْمُصَلِّينَ ۝

23. ඔවුන්ගේ සලාත්හි නිරත වන අය.[2148]

٢٣- الَّذِينَ هُمْ عَلَىٰ صَلَاتِهِمْ دَائِمُونَ ۝

24. ඔවුන්ගේ වස්තුන්හි නියම කොටසක්[2149] ඇත්තාවූ අය;

٢٤- وَالَّذِينَ فِي أَمْوَالِهِمْ حَقٌّ مَعْلُومٌ ۝

---

2145. 101/5 බ.

2146. සම්ද අවයවද ගලවන්නේය. පැසුර එිා ආපසු විස් එකතුවන්නේය. නැවත නැවත මෙසේ වන්නේය.

2147. මෙලොවදී සත්මාර්ගයෙන් වැලකුනු අය.

2148. සලාත් නොවරදවා ඉටුකරන අය.

2149. ධාන ධර්ම පිණිස වෙන් කරණ ලද දෑය.

25. සිඟන්නාටද පුළුනුනටද[2150]

٢٥- لِلسَّائِلِ وَالْمَحْرُومِ

26. විනිශ්චය දිනැ (සත්‍යයයි) විශ්වාස කරන අය.

٢٦- وَالَّذِينَ يُصَدِّقُونَ بِيَوْمِ الدِّينِ

27. ඔවුන් හිමිගේ දඬුවම බිය වන අය;

٢٧- وَالَّذِينَ هُم مِّنْ عَذَابِ رَبِّهِم مُّشْفِقُونَ

28. ඇත්තෙන්ම, ඔවුන් හිමිගේ දඬුවම ආරක්‍ෂා රහිතය

٢٨- إِنَّ عَذَابَ رَبِّهِمْ غَيْرُ مَأْمُونٍ

29. ඔවුන්ගේ හදන් ආරක්‍ෂා කරන්නාවූද අය:

٢٩- وَالَّذِينَ هُمْ لِفُرُوجِهِمْ حَافِظُونَ

30. ඔවුන්ගේ ඇඹේණියන්ගෙන්ද ඔවුන්ගේ දකුණු අත් හිමිකර ගත් දැසින්ද මිසක- මොවුහු දොෂාරෝපණය නොවෙත්-

٣٠- إِلَّا عَلَىٰ أَزْوَاجِهِمْ أَوْ مَا مَلَكَتْ أَيْمَانُهُمْ فَإِنَّهُمْ غَيْرُ مَلُومِينَ

31. යම් කෙනෙක් එයට පිට ගියේද, ඔවුහුයැ සීමාව ඉක්මවන්නෝ-

٣١- فَمَنِ ابْتَغَىٰ وَرَاءَ ذَٰلِكَ فَأُولَٰئِكَ هُمُ الْعَادُونَ

32. තමන් භාරයෙහි දැයද තමන්ගේ ප්‍රතිඥාවද ගෞරව කරන්නාවූද අය[2151]

٣٢- وَالَّذِينَ هُمْ لِأَمَانَاتِهِمْ وَعَهْدِهِمْ رَاعُونَ

33. ඔවුන්ගේ සාක්‍ෂියන්හි ස්ථිර වන්නාවූද අය.[2152]

٣٣- وَالَّذِينَ هُم بِشَهَادَاتِهِمْ قَائِمُونَ

34. ඔවුන්ගේ සලාත් ආරක්‍ෂා කරගන්නාවූද අය:

٣٤- وَالَّذِينَ هُمْ عَلَىٰ صَلَاتِهِمْ يُحَافِظُونَ

35. ඒ අය ජන්නාවන්හිය: සම්භාවනීයයැ

٣٥- أُولَٰئِكَ فِي جَنَّاتٍ مُّكْرَمُونَ

36. විශ්වාස නොකළ අය ඹබ ඉදිරියෙහි බැල්ම දික්කොට හිඳින්නේ කිම්ද?

٣٦- فَمَالِ الَّذِينَ كَفَرُوا قِبَلَكَ مُهْطِعِينَ

37 දකුණු පසින්ද වම් පසින්ද පිරිස් වශයෙන්[2153]

٣٧- عَنِ الْيَمِينِ وَعَنِ الشِّمَالِ عِزِينَ

38. ඔවුන්ගෙරෑන් සෑම මිනිසෙක්ම නන්දන ජන්නාවට [2154] ඇතුළු කරනු ලබන්නට ආශා කරන්නේද?

٣٨- أَيَطْمَعُ كُلُّ امْرِئٍ مِّنْهُمْ أَن يُدْخَلَ جَنَّةَ نَعِيمٍ

39. නොඑසේ! ඔවුන් දන්නා (අටම) දැයින් අපි ඔවුන් නිර්මාණය කෙළෙමු.[2155]

٣٩- كَلَّا إِنَّا خَلَقْنَاهُم مِّمَّا يَعْلَمُونَ

2150. ඉල්ලන අයටද, ලජ්ජා භයෙන් නොඉල්වන අයටද

2151. ප්‍රත්‍ය පිළිදි රැවා ඉටුකරන්නාවූද අය.

2152. අඩු වැඩි මාරු නොකොට සත්‍ය කියන්නාවූ අය.

2153. මුෂ්රික්වරු සමූහ වශයෙන් නබි තුමාවන් සල්ලල්ලාහු අලෙයිහි ව සල්ලම්ද මුස්ලිම්වරුන්ද වටකොගෙන මුහම්මද් කියන්නාක් මෙන් මොවුහු ස්වර්ගයෙහි ප්‍රවිශ වන්නාහුනම් මොවුනට පෙර අපි එහි ප්‍රවිශ වන්නෙමුයි සරදම් වශයෙන් කීවෝය.

2154. මුස්ලිම්වරු ඇතුළු කරනු ලබන්නාක් මෙන්.

2155. මනුෂ්‍යා වර්ගයා නිර්මාණයෙහි එක සමානය. එහෙත් ජන්නාවට ඇතුළු කරනු ලබන්නේ විශ්වාසවන්තයෝ පමණයැ.

٤٠- فَلَآ أُقْسِمُ بِرَبِّ ٱلْمَشَٰرِقِ وَٱلْمَغَٰرِبِ إِنَّا لَقَٰدِرُونَ ۝

40. සිරු නැගෙන්නාවූද සිරු බසින්නාවූද තැන් හිමියා ගෙන මම ප්‍රමාණ කරමි! ඇත්තෙන්ම, අපට පුළුවන.

٤١- عَلَىٰٓ أَن نُّبَدِّلَ خَيْرًا مِّنْهُمْ وَمَا نَحْنُ بِمَسْبُوقِينَ ۝

41. ඔවුනට වඩා හොඳ අයගෙන් ඔවුන් මාරුකරන්නට (අපට පුළුවන).අපි (අපගේ සැලැස්මෙන් වලක්වනු ලබන්නෝ නොවෙමු.

٤٢- فَذَرْهُمْ يَخُوضُوا۟ وَيَلْعَبُوا۟ حَتَّىٰ يُلَٰقُوا۟ يَوْمَهُمُ ٱلَّذِى يُوعَدُونَ ۝

42. ඔවුනට ප්‍රතිඥත ඔවුන්ගේ දින[2156] ඔවුන් හමුවන තෙක් දොඩමළුවට මෙහිද කෙළියෙහිදා හරුවා:

٤٣- يَوْمَ يَخْرُجُونَ مِنَ ٱلْأَجْدَاثِ سِرَاعًا كَأَنَّهُمْ إِلَىٰ نُصُبٍ يُوفِضُونَ ۝

43. ඔවුන්ගේ මිනිවළෙන් නික්මවැ. කණුවක් කරා තරහෙට දුවන්නාක් මෙන්. වෙලෙව්වැයන දින-

٤٤- خَٰشِعَةً أَبْصَٰرُهُمْ تَرْهَقُهُمْ ذِلَّةٌ ذَٰلِكَ ٱلْيَوْمُ ٱلَّذِى كَانُوا۟ يُوعَدُونَ ۝

44. ඔවුන්ගේ බැලුම් පහත හෙළෙන්නේය: නිවටකම ඔවුන් ගලහාංගු කරන්නේය: ඒයැ ඔවුනට ප්‍රතිඥත දින.

- 70 වන සූරාව අල්-මආරිජ් නිමි -

2156. පුනරුත්ථාන දින.

## නූහු

سورة نوح

මක්කාහිදී පහළවීය

دَيَالُ පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. ඔවුනට වේදනීය දඬුවම එන්නට පෙර, "නුඹ ජනතාවට අනුශාසනා කරව"යි ඇත්තෙන්ම, අපි නූහු ඔහුගේ ජනතාව වෙත එවවෙමු.

١- إِنَّا أَرْسَلْنَا نُوحًا إِلَىٰ قَوْمِهِ أَنْ أَنذِرْ قَوْمَكَ مِن قَبْلِ أَن يَأْتِيَهُمْ عَذَابٌ أَلِيمٌ

2. "එම්බල මගේ ජනතාවෙනි! ඇත්තෙන්ම මම තොපට පැහැදිලි අනුශාසකයෙක්මි"යි ඔහු කීවේය.

٢- قَالَ يَا قَوْمِ إِنِّي لَكُمْ نَذِيرٌ مُّبِينٌ

3. "අල්ලාහු නමදිනු. ඔහුට බිය බැතිමත් වනු. මට කීකරු වනු.

٣- أَنِ اعْبُدُوا اللَّهَ وَاتَّقُوهُ وَأَطِيعُونِ

4. "තොපගේ පවුවලින් තොපට සමාව දෙන්නේය.[2158] නියමිත කලකට තොපට කල් දෙන්නේය. ඇත්තෙන්ම, තොප දත සිටියහු නම්, අල්ලාහුගේ නියමිත කාලය පැමිණි කල්හි එය කල් නොදමනු ලබන්නේය".

٤- يَغْفِرْ لَكُم مِّن ذُنُوبِكُمْ وَيُؤَخِّرْكُمْ إِلَىٰ أَجَلٍ مُّسَمًّى ۚ إِنَّ أَجَلَ اللَّهِ إِذَا جَاءَ لَا يُؤَخَّرُ ۖ لَوْ كُنتُمْ تَعْلَمُونَ

5. "මගේ හිමියෙනි! ඇත්තෙන්ම මම මගේ ජනතාවට දිවා රෑ අඬගැසුවෙමි"යි ඔහු කීවේය.

٥- قَالَ رَبِّ إِنِّي دَعَوْتُ قَوْمِي لَيْلًا وَنَهَارًا

6. "එවිට මගේ අඬගැසීම පලායනය මිස ඔවුනට වැඩි නොකළේය.

٦- فَلَمْ يَزِدْهُمْ دُعَائِي إِلَّا فِرَارًا

7. "තවද, නුඹ ඔවුනට සමාව දෙන පිණිස මම ඔවුනට අඬගැසූ සෑම විටෙකම ඔවුන්ගේ ඇඟිලි ඔවුනගේ කන්හි කළහ. ඔවුන්ගේ වස්ත්‍රයන් ඔවුහු ආවරණය කර ගත්හ. (පව් කිරීමෙහි) ගිලුණෝය; බොහෝ අහංකාරද වූහ.

٧- وَإِنِّي كُلَّمَا دَعَوْتُهُمْ لِتَغْفِرَ لَهُمْ جَعَلُوا أَصَابِعَهُمْ فِي آذَانِهِمْ وَاسْتَغْشَوْا ثِيَابَهُمْ وَأَصَرُّوا وَاسْتَكْبَرُوا اسْتِكْبَارًا

---

2157. මෙලොවදී ජලගැල්මෙන් සිදුවූ කාෆිර්වරුන් විනාශවීම හා පරලොව නරක වේදනාව. 11/25-49 බ.

2158. ඉස්ලාම් ධර්මය වැළඳ ගැනීමට පෙර කළ පව්වලට සමාව දෙන්නේය.

8. පසුව මම ඔවුනට මහත් හඬින් අඬගැසුවෙමි. ۸- ثُمَّ إِنِّي دَعَوْتُهُمْ جِهَارًا ○

9. මම ප්‍රසිද්ධියේද රහසේද ඔවුනට අඬගැසුවෙමි: ۹- ثُمَّ إِنِّي أَعْلَنتُ لَهُمْ وَأَسْرَرْتُ لَهُمْ إِسْرَارًا ○

10. තොප හිමියාගෙන් සමාව ඉල්ලවු. ඇත්තෙන්ම, ඔහු අත්‍යධිකක්ෂමාශීලීයැයි කීවෙමි: ۱۰- فَقُلْتُ اسْتَغْفِرُوا رَبَّكُمْ إِنَّهُ كَانَ غَفَّارًا ○

11. තොපට අහස් වැසි බහුල වශයෙන් එවන්නේය: ۱۱- يُرْسِلِ السَّمَاءَ عَلَيْكُم مِّدْرَارًا ○

12. තවද ධනයෙන් හා පුත්‍රයන්ගෙන් තොප වැඩි දියුණු කරන්නේය: තොපට උයන්කර (දෙ)න්නේය: තොපට (ගලන දිය ඇති) ගංගාවන් කර (දෙ)න්නේය. ۱۲- وَيُمْدِدْكُم بِأَمْوَالٍ وَبَنِينَ وَيَجْعَل لَّكُمْ جَنَّاتٍ وَيَجْعَل لَّكُمْ أَنْهَارًا ○

13. තොපි, තොපට අල්ලාහු ගෞරව කිරීම.[2159] අපේක්ෂා නොකරන්නේ මන්ද? ۱۳- مَّا لَكُمْ لَا تَرْجُونَ لِلَّهِ وَقَارًا ○

14. ඔහු තොප විවිධ අවස්ථාවන්හි නිර්මාණය කළ දමය[2160] ۱۴- وَقَدْ خَلَقَكُمْ أَطْوَارًا ○

15. අල්ලාහු තආලා අහස් සත එක උඩ එක (සැසදෙනයේ) නිර්මාණය කෙළේ කෙසේදැයි තොපි නොදක්නහුද? ۱۵- أَلَمْ تَرَوْا كَيْفَ خَلَقَ اللَّهُ سَبْعَ سَمَاوَاتٍ طِبَاقًا ○

16. ඔවුන් අතර, ඔහු සඳ ආලෝකයක් කෙළේය: ۱۶- وَجَعَلَ الْقَمَرَ فِيهِنَّ نُورًا وَجَعَلَ الشَّمْسَ سِرَاجًا ○

17. අල්ලාහු තොප පොළොවෙන් (සෙමෙන්) වැඩෙන පැලයක් ලෙස පැල කෙළේය: ۱۷- وَاللَّهُ أَنبَتَكُم مِّنَ الْأَرْضِ نَبَاتًا ○

18. පසුව ඔහු තොපි එහි පුන පමුණුවන්නේය: තොප පුනරුත්ථානද කරන්නේමය: ۱۸- ثُمَّ يُعِيدُكُمْ فِيهَا وَيُخْرِجُكُمْ إِخْرَاجًا ○

19. අල්ලාහු තොපට පොළොව පලස් ඇතිරියක් මෙන් කෙළේය[2161]. ۱۹- وَاللَّهُ جَعَلَ لَكُمُ الْأَرْضَ بِسَاطًا ○

20. තොප එහි විශාල මාර්ගයන් කර ගෙන ගමන් කරනු පිණිස ۲۰- لِّتَسْلُكُوا مِنْهَا سُبُلًا فِجَاجًا ○

---

2159. යහ ඵල විපාක දීම.

2160. 22/5 23/12-14 බ.

2161. 2/22: 20/53 බ.

21. මහිමියෙනි! ඇත්තෙන්ම, ඔවුහු මට අකීකරු වී තම ධනය හා තම දරුවන් තමනට විනාශය හැර, ඔවුනට නොගෙන දෙන අය - අනුගමනය කළෝය"යි නූහු කීවේය.

٢١- قَالَ نُوحٌ رَّبِّ إِنَّهُمْ عَصَوْنِي وَاتَّبَعُوا مَن لَّمْ يَزِدْهُ مَالُهُ وَوَلَدُهُ إِلَّا خَسَارًا

22. ඔවුහු ඉතා මහත් කුමන්ත්‍රණයක් කළහ.

٢٢- وَمَكَرُوا مَكْرًا كُبَّارًا

23. තොපගේ දෙවියන් අත් නොහරිවූ: වද්ද සුවාඋද යගූස්ද යඌක්ද නස්ර්ද[2162] අත් නොහරිවූ"යි කීවෝය[2163]

٢٣- وَقَالُوا لَا تَذَرُنَّ آلِهَتَكُمْ وَلَا تَذَرُنَّ وَدًّا وَلَا سُوَاعًا وَلَا يَغُوثَ وَيَعُوقَ وَنَسْرًا

24. ඔවුහු බොහෝදෙනකු නොමගට හැරෙව්වෝමය. අන්‍යාය කරුවනට නොමග යෑම මිස වැඩි නොකරව.

٢٤- وَقَدْ أَضَلُّوا كَثِيرًا ۖ وَلَا تَزِدِ الظَّالِمِينَ إِلَّا ضَلَالًا

25. ඔවුන්ගේ පව් කාරණකොටගෙන(මහා ජලෝඝයෙහි) ඔවුහු ගිල්වන ලද්දාහ. පසුව ගින්නෙහි ඇතුළු කරවන ලද්දාහ. අල්ලාහු හැර උදව් කාරයෙක් ඔවුනට නැත.

٢٥- مِّمَّا خَطِيئَاتِهِمْ أُغْرِقُوا فَأُدْخِلُوا نَارًا فَلَمْ يَجِدُوا لَهُم مِّن دُونِ اللَّهِ أَنصَارًا

26. මහිමියෙනි! හැසිරෙන විශ්වාස නොකරන්නවුන්ගෙන් කිසිවකු භූමියෙහි නොතබව"යි[2164] නූහු කීවේය.

٢٦- وَقَالَ نُوحٌ رَّبِّ لَا تَذَرْ عَلَى الْأَرْضِ مِنَ الْكَافِرِينَ دَيَّارًا

27. ඇත්තෙන්ම, ඔබ ඔවුන් තැබුවොත් ඔවුහු ඔබගේ වාලුන් නොමග හරින්නෝය. තවද ඔවුහු අශිෂ්ට අකෘතඥයන් මිස උපත් නොකරන්නෝය.

٢٧- إِنَّكَ إِن تَذَرْهُمْ يُضِلُّوا عِبَادَكَ وَلَا يَلِدُوا إِلَّا فَاجِرًا كَفَّارًا

28. මහිමියෙනි! මටද දෙමව්පියනටද විශ්වාස කරන්නෝ වැ [6165] මගේ ගෙට ඇතුළුවූවනටද විශ්වාස කරන පුරුෂයනටද විශ්වාස කරන ස්ත්‍රීන්ටද ක්ෂමාව දෙව. අන්‍යාය කරන්නවුනට විනාශය විනා වැඩි නොකරව.

٢٨- رَّبِّ اغْفِرْ لِي وَلِوَالِدَيَّ وَلِمَن دَخَلَ بَيْتِيَ مُؤْمِنًا وَلِلْمُؤْمِنِينَ وَالْمُؤْمِنَاتِ وَلَا تَزِدِ الظَّالِمِينَ إِلَّا تَبَارًا

- 71 වන සූරාව නූහු නිමි -

2162. විවිධ අරාබි ගෝත්‍රිකයෝ ඇදහූ පිළිරූ.

2163. ප්‍රධානීහු පොදු ජනයාට කීවෝය.

2164. සියලු බව මුල් සහව.

2165. නූහු අගලෙයිස්සලාම්ගේ බිරිය හා ඔහුගේ පුත්‍ර කන්ආන් විශ්වාස නොකළේන්ගෙන්ය. 11/40 ආ ලි. 666 බ.

## අල් - ජින්නු: ජින්නු.

سُورَةُ الجِنِّ

මක්කාහිදී පහළ විය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

قُلْ أُوحِيَ إِلَيَّ أَنَّهُ اسْتَمَعَ نَفَرٌ مِّنَ الْجِنِّ فَقَالُوا إِنَّا سَمِعْنَا قُرْآنًا عَجَبًا ۝١

1. ජින්නුන්ගෙන් සමූහයක් (අල්-කුර්ආනයට) සවන් දුන්නේය[2166]. පැසුව. "ඇත්තෙන්ම, අපි පුදුම ගායනයකට සවන් දුන්නෙමු"යි (තම ජනතාවට) ඔවුහු කීවෝයයි මට වහී පහළ කරන ලද්දේ යයි කියව.

يَهْدِي إِلَى الرُّشْدِ فَآمَنَّا بِهِ ۖ وَلَن نُّشْرِكَ بِرَبِّنَا أَحَدًا ۝٢

2. එය සෘජු මගට මග පෙන්වයි. එහෙයින් අපි එය විශ්වාස කෙළෙමු: කිසි කෙනෙකුත් අප හිමිගට සමානයන් නොතබන්නෙමු:

وَأَنَّهُ تَعَالَىٰ جَدُّ رَبِّنَا مَا اتَّخَذَ صَاحِبَةً وَلَا وَلَدًا ۝٣

3. 'තවද ඔහු - අප හිමිගේ ශ්‍රී විභූතිය අත්‍යුත්කෘෂ්ටය භාර්යාවකු හෝ පුතකු හෝ නොගත්තේය.'[2167]

وَأَنَّهُ كَانَ يَقُولُ سَفِيهُنَا عَلَى اللَّهِ شَطَطًا ۝٤

4. තවද අප අතර, අඥයෝ අල්ලාහු ගැන ඉතා නපුරු බොරු කියන්නෝ වූහ[2168].

وَأَنَّا ظَنَنَّا أَن لَّن تَقُولَ الْإِنسُ وَالْجِنُّ عَلَى اللَّهِ كَذِبًا ۝٥

5. 'තවද මිනිස් හෝ ජින් හෝ අල්ලාහු ගැන කිසි කලෙකත් බොරු නොකියන්නාහයි අපි සිතුවෙමු[2169].

---

2166. ජින් යනු මලක්කුන්ටද මිනිසුන්ටද එක නොවන අදිශ්‍යමාන ශරීර ඇති වෙන වර්ගයකි. ජින්නු ජනයාගේ ඇසට නොපෙනෙති. එක් දිනක් රසූලුල්ලාහු අලෙයිහිවසල්ලම් තුමාගේ සහාබිවරුන්ගෙන් පිරිසක් සමඟ පරදු පලාතය කළ කලහි අල්-කුර්ආනය පරායනය කළේය. ජින්නුන්ගෙන් පිරිසක් එයට සවන් දී ඇත.

2167. 6/101 බ.

2168. 37/180 බ.

2169. අල්-කුර්ආනයට ඇහුම් කන්දුන් ජින්නුන්ගේ කථාව ගැන 72/8 බ.

6. "මිනිසුන්ගෙන් සමහරෙක් සමහර ජින්නුන්ගෙන් රැකවරණ පෙව්වෝය. මෙයින් ඔවුහු (මිනිස්සු) මොවුන්ගේ (ජින්නුන්ගේ) උඩගුකම වැඩි කළෝය-[2170]

وَأَنَّهُ كَانَ رِجَالٌ مِّنَ الْإِنسِ يَعُوذُونَ بِرِجَالٍ مِّنَ الْجِنِّ فَزَادُوهُمْ رَهَقًا ۝٦

7. -තොප[2171] සිතුවාක් මෙන්. අල්ලාහු කිසිවකු පුනරුත්ථාන නොකරන්නේමයයි ඔවුහුද[2172] සිතූහ.

وَأَنَّهُمْ ظَنُّوا كَمَا ظَنَنتُمْ أَن لَّن يَبْعَثَ اللَّهُ أَحَدًا ۝٧

8. 'අපි [2173] අහසට ළංවූයෙමු. එවිට එය දැඩි මුරකාවලින් හා අග්නි ජ්වාලයෙන් පිරී තිබෙනු දුටුවෙමු:[2174]

وَأَنَّا لَمَسْنَا السَّمَاءَ فَوَجَدْنَاهَا مُلِئَتْ حَرَسًا شَدِيدًا وَشُهُبًا ۝٨

9. 'අපි සවන් දෙනු පිණිස එහි හිඳිනය කෙරෙමින් හුන්නෙමු. යමෙක් දැන් සවන් දෙන්නේද ඔහුට සූදානම් කර ඇති අග්නි ජ්වාලයකු ඔහු සමඟ වන්නේය.[2175]

وَأَنَّا كُنَّا نَقْعُدُ مِنْهَا مَقَاعِدَ لِلسَّمْعِ ۖ فَمَن يَسْتَمِعِ الْآنَ يَجِدْ لَهُ شِهَابًا رَّصَدًا ۝٩

10. 'භූමියෙහි අයට නපුරක් සිතන ලද්දේද නැතහොත් ඔවුන්ගේ හිමි ඔවුනට යහමගක් සිතන්නේදයි අපි නොදනිමු:

وَأَنَّا لَا نَدْرِي أَشَرٌّ أُرِيدَ بِمَن فِي الْأَرْضِ أَمْ أَرَادَ بِهِمْ رَبُّهُمْ رَشَدًا ۝١٠

11. 'දැහැමියනුත් අපගෙන්ය: එසේ නොවන්නවුනුත් අප ගෙන්ය. අපි වෙනස් මං අනුගමනය කෙළෙමු.[2176]

وَأَنَّا مِنَّا الصَّالِحُونَ وَمِنَّا دُونَ ذَٰلِكَ ۖ كُنَّا طَرَائِقَ قِدَدًا ۝١١

12. 'භූමියෙහි අල්ලාහු නිෂ්ප්‍රභා කරන්නට අපි නොහැක්කෝ වෙමුමය: පලායනයෙන්ද ඔහුගෙන් බේරෙන්නට නොහැක්කෝ වෙමුමයයි අපි දැන ගත්තෙමු:

وَأَنَّا ظَنَنَّا أَن لَّن نُّعْجِزَ اللَّهَ فِي الْأَرْضِ وَلَن نُّعْجِزَهُ هَرَبًا ۝١٢

13. 'තවද අපි යහමග (අල්-කුර්ආනය) ශ්‍රවණය කළ කල්හි එය විශ්වාස කෙළෙමු. යමෙක් ඔහු හිමි විශ්වාස කෙරේද හෝ අඩුවක් හෝ අනවුවක් හෝ නොබා:

وَأَنَّا لَمَّا سَمِعْنَا الْهُدَىٰ آمَنَّا بِهِ ۖ فَمَن يُؤْمِن بِرَبِّهِ فَلَا يَخَافُ بَخْسًا وَلَا رَهَقًا ۝١٣

14. අප අතුරේ අවනතවූ[2177] අයත්ය. අනුමිකයනුත්ය[2178] අවනතවූ අය නම්-. ඔවුහු යත්මාර්ගය සොයා ගත්ත:

وَأَنَّا مِنَّا الْمُسْلِمُونَ وَمِنَّا الْقَاسِطُونَ ۖ فَمَنْ أَسْلَمَ فَأُولَٰئِكَ تَحَرَّوْا رَشَدًا ۝١٤

---

2170. යම්හර අරාබි වරු කිසි ස්ථානයක ගමන් කරන කල්හි එහි ජින්නුන්ගේ නායක පිටතයෙන් මිදෙනු පිණිස එහි ප්‍රධානීන් අවයා ආරක්ෂා පෙව්වෝය. එ ප්‍රධානීහු මේ කරන සොට ගෙන තව තවත් උඩගු වූහ.

2171. මක්කාවාසීනු.

2172. ජින්නු.

2173. 2168. බ.

2174. ජින්වරු අහසට පැමිණෙන්නට සිතා එහි ගියු කල්හි එහි සිටිනට විරුද්ධව මුරකාවල්ද අග්නි ජ්වාලද පිරී තිබුණෝය.15/17-18: 67/5 බ.

2175. මලක්වරුන්ගේ සම්භාෂණය ඇසීමට ජින්වරු අහසට ළංවීම සිරිතක් විය. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම්ගේ පිබොක්වයට පසු එසේ ළංවීම නතර විය. 72/27 බ.

2176. අල්-කුර්ආනයට සවන් දෙන්නට පෙර ජින්වරු විවිධ මතධාරී වූහ.

2177. ඉස්ලාම් ධර්මය වැළඳ ගත් අය.

2178. අල්-කුර්ආන් ප්‍රතික්ෂේප කළ අය.

15. 'අක්‍රමිකයෝ නම්, ඔවුහු ජහන්නමට[2179] දර වෙත්.'

١٥- وَأَمَّا الْقَاسِطُونَ فَكَانُوا لِجَهَنَّمَ حَطَبًا

16. ඔවුහු (ඉස්ලාම්) මාර්ගයෙහි අවංකවැ හන්නාහු නම් අපි ඔවුනට බොහෝ සෙයින් මහ වැයි වටවන්නෙම්මය.

١٦- وَأَن لَّوِ اسْتَقَامُوا عَلَى الطَّرِيقَةِ
لَأَسْقَيْنَاهُم مَّاءً غَدَقًا

17. (අප) ඔවුන් එහි පිරික්සනු පිණිස. යමෙක් ඔහු හිමි සිහිපත් කිරීමෙන් වලකින්නේද ඔහු ඔහුට තද දඬුවමක් දෙන්නේය.

١٧- لِّنَفْتِنَهُمْ فِيهِ
وَمَن يُعْرِضْ عَن ذِكْرِ رَبِّهِ
يَسْلُكْهُ عَذَابًا صَعَدًا

18. නැමදුම පොලවල් අල්ලාහුට (පමණක්) මයැ. එසේ හෙයින් අල්ලාහු සමඟ අන්කිසිවකු අඩ නොගාවු.

١٨- وَأَنَّ الْمَسَاجِدَ لِلَّهِ
فَلَا تَدْعُوا مَعَ اللَّهِ أَحَدًا

19. එහෙත්, අල්ලාහුගේ වාලා[2180] ඔහුට[2181] අඩගාන්නට ඉදිරි පත් වූ කල්හි ඔවුහු[2182] රැස්වී ඔහු[2183] වටකර ගත්තෝය.

١٩- وَأَنَّهُ لَمَّا قَامَ عَبْدُ اللَّهِ يَدْعُوهُ كَادُوا
يَكُونُونَ عَلَيْهِ لِبَدًا

20. "මම මහිමී අඩගාන්නේ මහිමීටය. මම ඔහු හා කිසිවකු සමාන නොකරමි"යි කියව.

٢٠- قُلْ إِنَّمَا أَدْعُو رَبِّي وَلَا أُشْرِكُ بِهِ أَحَدًا

21. "ඇත්තෙන්ම, නොපට අනතුරත් කරන්නට හෝ යහදන් කරන්නට හෝ මට අධිකාරයක් නැත"යි කියව.

٢١- قُلْ إِنِّي لَا أَمْلِكُ
لَكُمْ ضَرًّا وَلَا رَشَدًا

22. ඇත්තෙන්ම, අල්ලාහුගෙන් මා මුදවන්නට කිසිවකුට නොහැක්කේමය. ඔහු හැර පිළිසරණක් මට නැත්තේමය"යි කියව.

٢٢- قُلْ إِنِّي لَن يُجِيرَنِي مِنَ اللَّهِ أَحَدٌ
وَلَنْ أَجِدَ مِن دُونِهِ مُلْتَحَدًا

23. අල්ලාහුගෙන් මට ලැබුණු දැය හා ඔහුගේ දූත මෙහෙවර ප්‍රකාශ කිරීම විනා මට නැත අල්ලාහුටද ඔහුගේ රසූල්වරයාටද අකීකරු වන අය ඔවුනට ජහන්නමෙහි ගින්නය: ඔවුහු එහි සදාකල්හි වෙසෙත්.

٢٣- إِلَّا بَلَاغًا مِّنَ اللَّهِ وَرِسَالَاتِهِ
وَمَن يَعْصِ اللَّهَ وَرَسُولَهُ
فَإِنَّ لَهُ نَارَ جَهَنَّمَ
خَالِدِينَ فِيهَا أَبَدًا

24. අනතුරුව, ඔවුනට පිළින දෙන ලද දැය (ඔවුන්ගේ ඇයින්ම) ඔවුන් දකින විට - උදව් කරන්නවුන්ගෙන් බෙලහීනයා කවරෙක්ද සංඛ්‍යාවෙන් නොවැදගත් කවරෙක්දයි ඔවුහු දත ගන්නෝය.

٢٤- حَتَّىٰ إِذَا رَأَوْا مَا يُوعَدُونَ
فَسَيَعْلَمُونَ مَنْ أَضْعَفُ نَاصِرًا
وَأَقَلُّ عَدَدًا

25. "තොපට ප්‍රතිඥත දැය (දඬුවම) ළංද නැතහොත් මහිමී එයට කාලය දික්කරන්නේ යයිද මම නොදනිමි"යි කියව.

٢٥- قُلْ إِنْ أَدْرِي
أَقَرِيبٌ مَّا تُوعَدُونَ أَمْ يَجْعَلُ لَهُ رَبِّي أَمَدًا

---

2179. ·නිරය:

2180. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි ව සල්ලම්.

2181. අල්ලාහු තආලා.

2182. ජින්නු.

2183. 2179 බ.

26. "ගුප්ත දය ඔහු දන්නේය." ඔහු කිසිවකුට ඔහුගේ ගුප්ත දය එළිදරව් නොකරන්නේය:

٢٦- عٰلِمُ الْغَيْبِ فَلَا يُظْهِرُ عَلٰى غَيْبِهٖٓ اَحَدًا ۝

27. "ඔහු තෝරාගත් රසූල්වරයකු හැරය. ඔහුට ඉදිරිපසින් හා ඔහුට පිටුපසින් ඔහු මුරකාවලක් ගමන් කරවන්නේය.[2184]

٢٧- اِلَّا مَنِ ارْتَضٰى مِنْ رَّسُوْلٍ فَاِنَّهٗ يَسْلُكُ مِنْۢ بَيْنِ يَدَيْهِ وَمِنْ خَلْفِهٖ رَصَدًا ۝

28. ඔවුන් හිමිගේ දූතමෙහෙය ඔවුන් ගෙනැවිත්(වෙනස් නොවී) හාරදුන් දැමයයි ඔහු දැනගන්නා පිණිස. ඔහු ඔවුන් ළග ඇති දය වටා ලන්නේය. ඔහු සකල දය (එකක් පාසා) ගණන් ගන්නේය.

٢٨- لِيَعْلَمَ اَنْ قَدْ اَبْلَغُوْا رِسٰلٰتِ رَبِّهِمْ وَاَحَاطَ بِمَا لَدَيْهِمْ وَاَحْصٰى كُلَّ شَيْءٍ عَدَدًا ۝

- 72 වන සූරාව අල්-ජින්නු නිමි -

2184. 2174 බ.

## අල්- මුස්සම්මිල්: පොරවාගත් තැනැත්තා

سُورَةُ المُزَّمِّل

මක්කාහිදී පහළ විය

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්.

بِسْمِ اللهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

1. එම්බා පොරවාගත් තැනැත්තේ![2185]

١- يٰۤاَيُّهَا الْمُزَّمِّلُ

2. රාත්‍රියෙහි - (එයින්) ටිකක් හැර - නැගිට සලාත්හි යෙදුව.[2186]

٢- قُمِ الَّيْلَ اِلَّا قَلِيْلًا

3. එයින් අඩක් හෝ' එයිනුත් ටිකක් අඩුවෙන් හෝ.

٣- نِّصْفَهٗۤ اَوِ انْقُصْ مِنْهُ قَلِيْلًا

4. එයට ටිකක් වැඩියෙන් හෝ:[2187] කුර්ආනය සම-පද පාතයෙන් හදාරව.[2188]

٤- اَوْ زِدْ عَلَيْهِ وَرَتِّلِ الْقُرْاٰنَ تَرْتِيْلًا

5. ඇත්තෙන්ම, අපි බලගතු වචනයක්[2189] ඔබ වෙත පහළ කරන්නෙමු.

٥- اِنَّا سَنُلْقِيْ عَلَيْكَ قَوْلًا ثَقِيْلًا

6. ඇත්තෙන්ම රාත්‍රි (නින්දෙන්) නැගිට සිටීම - එය ආත්මදමනයෙහි ඉතා බලගතුය. වචන සකස් කිරීමෙහි ඉතා උචිතය.[2190]

٦- اِنَّ نَاشِئَةَ الَّيْلِ هِيَ اَشَدُّ وَطْاً وَّاَقْوَمُ قِيْلًا

2185. මේ වහී පහළ වන සමයෙහි නබි සල්ලල්ලාහු අලෛහි ව සල්ලම් පලසකින් පොරවා නිදාගෙන හුන්හ. පළමුවන වර ප්‍රකාශිත වන සූරාව 96/1-5 ආයාවන්ගෙන් පසු මෙසේ පොරවා සිටීම එතුමාගේ සිරිතකි.

2186. පංචවාර සලාතය පනවන්නට පෙර රාත්‍රි නින්දෙන් නැගිට සලාත් කිරීම නබි සල්ලල්ලාහු අලෛහි ව සල්ලම් කෙරෙහි ප්‍රතුකෘත්‍යමකි අ.ලි.909 බ.

2187. අඩකට ටිකක් වැඩියෙන් හෝ.

2188. අක්ෂර භේදය උච්චාරණ භේදය නොමැකිව තවත්ව තවත්ව කොට නැගිම උස් පහත් ප්‍රමාණයෙන් හදාරව.

2189. අල්-කුර්ආනය, 2187 බ.

2190. ලොව නිසසල වේලාවෙහි අල්-කුර්ආනය අවබෝධකරගැනීමටද නිසි බැතියෙන් සලාත් කිරීමටද උචිතය.

7. ඇත්තෙන්ම දාවලෙහි ඔබට නොයෙකුත් කටයුතුය?[2191]

٧- إِنَّ لَكَ فِي النَّهَارِ سَبْحًا طَوِيلًا ۝

8. ඔබ හිමියේ නාමය සිහිකරව. තවද අවංක භක්තියෙන් ඔහු කෙරෙහි භක්තිමත් වව[2192]

٨- وَاذْكُرِ اسْمَ رَبِّكَ وَتَبَتَّلْ إِلَيْهِ تَبْتِيلًا ۝

9. (ඔහු) නැගෙනහිරද බස්නාහිරද හිමියා. ඔහු හැර දෙවියෙක් නැත. එහෙයින් ඔහු (ඔබට) පාලකයකු ගනුව.

٩- رَبُّ الْمَشْرِقِ وَالْمَغْرِبِ لَا إِلَٰهَ إِلَّا هُوَ فَاتَّخِذْهُ وَكِيلًا ۝

10. ඔවුන් කියන දය ගැන ඉවසව ඔවුන් උදාර වර්ජනයෙකින් වර්ජනය කරව.

١٠- وَاصْبِرْ عَلَىٰ مَا يَقُولُونَ وَاهْجُرْهُمْ هَجْرًا جَمِيلًا ۝

11. මාත් මෙලොව ජීවිතයෙහි යහදය අනුභව කොට සත්‍යය ප්‍රතික්ෂේප කරන්නවුන් මට හරුව. ඔවුන් සමග ටිකක් ඉවසව.

١١- وَذَرْنِي وَالْمُكَذِّبِينَ أُولِي النَّعْمَةِ وَمَهِّلْهُمْ قَلِيلًا ۝

12. ( ඔවුන් බඳිති) විලංගුත්(ඔවුන් දවන) ගින්නකුත් අප ලඟයැ:

١٢- إِنَّ لَدَيْنَا أَنكَالًا وَجَحِيمًا ۝

13. හිරවෙන අහාරයකුත් වේදනීය දඬුවමකුත්:

١٣- وَطَعَامًا ذَا غُصَّةٍ وَعَذَابًا أَلِيمًا ۝

14. දිනෙකැ භූමියත් කඳුත් කම්පාවෙන දිනැ. තවද කඳු විසිරෙන වැලි කඳු බවට පැමිණෙන්නේය.[2193]

١٤- يَوْمَ تَرْجُفُ الْأَرْضُ وَالْجِبَالُ وَكَانَتِ الْجِبَالُ كَثِيبًا مَّهِيلًا ۝

15. ඇත්තෙන්ම. අප ෆිර්අවුන් වෙත රසූල්වරයකු[2194] එව්වාක් මෙන් තොප ගැනසාක්ෂි දරණපිණිස[2195] අපි තොප වෙතද රසූල්වරයෙකු[2196] එව්වෙමු.

١٥- إِنَّا أَرْسَلْنَا إِلَيْكُمْ رَسُولًا شَاهِدًا عَلَيْكُمْ كَمَا أَرْسَلْنَا إِلَىٰ فِرْعَوْنَ رَسُولًا ۝

16. එහෙත් ෆිර්අවුන් රසූල්වරයාට අකීකරු විය. එයේ හෙයින් අපි භයානක දඬුවමකින් ඔහු හසු කෙළෙමු.[2197]

١٦- فَعَصَىٰ فِرْعَوْنُ الرَّسُولَ فَأَخَذْنَاهُ أَخْذًا وَبِيلًا ۝

17. මෙලොවැ තෙපි(අල්ලාහ්) ප්‍රතික්ෂේප කළහු නම්. දරුවන් පුදුකෙස ඇතියවුන් කැරෙන දිනැ. තොපි කෙසේ (දඬුවමෙන්) ආරක්ෂා වන්නාහුද?

١٧- فَكَيْفَ تَتَّقُونَ إِن كَفَرْتُمْ يَوْمًا يَجْعَلُ الْوِلْدَانَ شِيبًا ۝

---

2191 මිනිසකුට දවාලෙහි ඉටු කරන්නට නානාප්‍රකාර කටයුතු ඇත.

2192. රෑ දහවල්හි අල්ලාහ් නමාලා සඳා පිහිතොට අවංක වව.

2193. 20/105 බ.

2194. මූසා අලෙයිහිස්සලාම් 10/75 බ.

2195. රසූල්වරු මේ ලෝකයට විත් ජනයාට උපදෙස් දුන් කලහි, ඒ ජනයා තමන්ගේ ධර්ම ප්‍රචාරය පිළිගත්තෝද නැද්ද යන්න ගැන පසුරුත්තානා දිනැ ඔවුහු සාක්ෂි සියන්නෝය.

2196. මුහම්මද් සල්ලල්ලාහු අලෙයිහි ව සල්ලම්.

2197. 10/90 බ.

18. එදිනැ අහස විවර වන්නේය. ඔහුගේ ප්‍රතිඥාව ඉටු වන්නේමයැ.

١٨- السَّمَاءُ مُنفَطِرٌ بِهِ ۚ
كَانَ وَعْدُهُ مَفْعُولًا ۝

19. ඇත්තෙන්ම, මෙය සිහිපත් කිරීමෙකි. යමෙක් අදිටන් කෙරේද ඔහු, හිමිවෙතට (යුතු) මාර්ගයක් ගනීවා!

١٩- إِنَّ هَٰذِهِ تَذْكِرَةٌ ۖ
فَمَن شَاءَ اتَّخَذَ إِلَىٰ رَبِّهِ سَبِيلًا ۝

20. ඇත්තෙන්ම, නුඹ රාත්‍රියෙන් තුනෙන් දෙකකට කිට්ටුව හෝ එයින් අඩකට හෝ, එයින් තුනෙන් එකකට හෝ නුඹද - නුඹසමගැ අයගෙන් කොටසක්ද නිදිවරා නැගිට හිඳින්නහුයයි නුඹ හිමි දන්නේය[2198]. අල්ලාහු දාවල හා රැයෙහි ප්‍රමාණය නියම කරන්නේය. තොප එය ගණන් නො කරන්නේමයයි ඔහු දන්නේය. එහෙයින් ඔහු තොප වෙත දයාළු වන්නේය. එබවින් කුර්ආනයෙන් ලෙහෙසි දය කියවුම. තොප අතුරෙන් රෝගාතුර් අයද, අල්ලාහුගේ අනුග්‍රහය සොයමින් භූමියෙහි සංචාරණය කරන තවත් අයද, අල්ලාහුගේ මාර්ගයෙහි සටන් කරන වෙනත් අයද ඇත්තාහයි ඔහු දන්නේය. එබැවින් එයින් ලෙහෙසි දය කියවවු: සලාත්හි නිරතවුව: zකාත් දෙවු. අල්ලාහුට ලක්ෂණ ණයකින් ණය දෙවු. තොප තමනට ඉදිරිපත් කරගත් හොද දය අල්ලාහුගේ සන්නිධානයෙහි ඉතා හොදයයිද ඵල විපාකයෙන් ඉමහත්යයිද තොපි දකින්නහුය. අල්ලාහුගෙන් සමාව ඉළියවු. ඇත්තෙන්ම, අල්ලාහු සමාන්විතයැ: දයාළුයැ.

٢٠- إِنَّ رَبَّكَ يَعْلَمُ أَنَّكَ تَقُومُ أَدْنَىٰ
مِن ثُلُثَيِ اللَّيْلِ وَنِصْفَهُ
وَثُلُثَهُ وَطَائِفَةٌ مِّنَ الَّذِينَ مَعَكَ ۚ
وَاللَّهُ يُقَدِّرُ اللَّيْلَ وَالنَّهَارَ ۚ
عَلِمَ أَن لَّن تُحْصُوهُ فَتَابَ عَلَيْكُمْ ۖ فَاقْرَءُوا
مَا تَيَسَّرَ مِنَ الْقُرْآنِ ۚ
عَلِمَ أَن سَيَكُونُ مِنكُم مَّرْضَىٰ ۙ
وَآخَرُونَ يَضْرِبُونَ فِي الْأَرْضِ
يَبْتَغُونَ مِن فَضْلِ اللَّهِ ۙ
وَآخَرُونَ يُقَاتِلُونَ فِي سَبِيلِ اللَّهِ ۖ فَاقْرَءُوا مَا تَيَسَّرَ مِنْهُ ۚ
وَأَقِيمُوا الصَّلَاةَ وَآتُوا الزَّكَاةَ
وَأَقْرِضُوا اللَّهَ قَرْضًا حَسَنًا ۚ
وَمَا تُقَدِّمُوا لِأَنفُسِكُم مِّنْ خَيْرٍ تَجِدُوهُ عِندَ اللَّهِ
هُوَ خَيْرًا وَأَعْظَمَ أَجْرًا ۚ
وَاسْتَغْفِرُوا اللَّهَ ۖ إِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ۝

- 73 වන සූරාව මුzස්zසම්මිල් නිමි -

2198. පංචවාර සලාතය නියමයට පෙර, සමහර සහාබිවරු සම්පූර්ණ රාත්‍රිය හෝ එයින් තුනෙන් දෙකක් හෝ, අඩක් හෝ, තුනෙන් එකක් හෝ නිදිවරා අල්-කුර්ආන් පරිශීලනය කරමින් සලාත් කළෝය.73/2 බ.

## අල්- මුද්දස්සිර්: වසාගත් තැනැත්තේ!

سُورَةُ المُدَّثِّر

මක්කාහිදී පහළ විය

دයාබර පරමදයාබර අල්ලාහ්ගේ නාමයෙන් — بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. එම්බා වසාගත් තැනැත්තේ! — ١- يَا أَيُّهَا الْمُدَّثِّرُ
2. නැගිට අනුශාසනය කරව.[2199] — ٢- قُمْ فَأَنذِرْ
3. ඔබ හිමි අති ශ්‍රේෂ්ඨයයි උත්කෘෂ්ට කරව.[2200] — ٣- وَرَبَّكَ فَكَبِّرْ
4. ඔබගේ වස්ත්‍ර පිරිසදු කරව[2201] — ٤- وَثِيَابَكَ فَطَهِّرْ
5. (සියලු) පිළිකුලෙන්[2202] වෙන්වව. — ٥- وَالرُّجْزَ فَاهْجُرْ
6. වැඩියක් බලාපොරොත්තු වෙත් නොදෙව: — ٦- وَلَا تَمْنُن تَسْتَكْثِرُ
7. ඔබ හිමි උදෙසා ඉවසව.[2203] — ٧- وَلِرَبِّكَ فَاصْبِرْ
8. හොරනෑව ශබ්ද කරනු ලබන කල්හි[2204] — ٨- فَإِذَا نُقِرَ فِي النَّاقُورِ
9. එදින අත්‍යන්ත අමාරු දිනයෙකි. — ٩- فَذَٰلِكَ يَوْمَئِذٍ يَوْمٌ عَسِيرٌ

---

2199. ඉහළින් පුරාවෙහි නබි (සල්ලල්ලාහු) අලෛහිවසල්ලම් උතුමා පිරිසුත් බවට පැමිණෙනු පිණිස බැසීමක් වන ලෙස අණවන ලදී. මෙහි මෙරමා පිරිසුත් බවට පමුණුවන ලෙස ඔහු අණවන ලදී.

2200. සුවිශුද්ධ කරව.

2201. නැමදුම හෝ නැමදුමෙන් බැහැර හෝ වස්ත්‍ර පිරිසිදු කරගනුව. වස්ත්‍ර භූමියෙහි ගෑවී අපිරිසිදු වන හෙයින් එවා ඇස් වටයෙන් පහත් නොවිය යුතුය.

2202. අල්ලාහ් හැර අන් දෑ ඇදහීමක් පිළිකුලකි.

2203. විශ්වාස කිරීමද අනුශාසනා කිරීමද හේතුකොට ගෙන සිදුවන උවදුරු ඉවසව.

2204. 6/73-297 බ.

10. විශ්වාස නොකරන්නවුනට ලෙහෙසි නැත.[2205]
١٠- عَلَى الْكَافِرِينَ غَيْرُ يَسِيرٍ

11. මාද. මා තනවැ නිර්මාණය කල අයද[2206] හරැව.
١١- ذَرْنِي وَمَنْ خَلَقْتُ وَحِيدًا

12. මම ඔහුට පුරාධනය දුනිමි.
١٢- وَجَعَلْتُ لَهُ مَالًا مَمْدُودًا

13. ඔහු ඉදිරිපිට[2207] වසන පුත්‍රයන්ද (දුනිමි)
١٣- وَبَنِينَ شُهُودًا

14. මම ඔහුට (ජීවිතය) සැපතින් සුවදා කෙළෙමි[2208]
١٤- وَمَهَّدْتُ لَهُ تَمْهِيدًا

15. එසේ තිබියදිත් මා (මහුට තවත්) වැඩියෙන් දිය යුතුයයි ඔහු ආශා කරන්නේය.
١٥- ثُمَّ يَطْمَعُ أَنْ أَزِيدَ

16. නොඑසේ! ඔහු අපගේ ආයාවනට විරුද්ධ විය.
١٦- كَلَّا ۖ إِنَّهُ كَانَ لِآيَاتِنَا عَنِيدًا

17. ඉක්මණින් මම ඔහු විපත්රැයකින් හසු කරන්නෙමි.
١٧- سَأُرْهِقُهُ صَعُودًا

18. ඇත්තෙන්ම ඔහු සිතාබලා කුමන්ත්‍රණ කෙළේය[2209]
١٨- إِنَّهُ فَكَّرَ وَقَدَّرَ

19. එහෙයින් ඔහු ශාප කරනු ලැබුවේය! ඔහු කුමන්ත්‍රණකල සැටි!
١٩- فَقُتِلَ كَيْفَ قَدَّرَ

20. යළිත් ඔහු ශාප කරනු ලැබූ වේය. ඔහු කුමන්ත්‍රණ කල සැටි
٢٠- ثُمَّ قُتِلَ كَيْفَ قَدَّرَ

21. පැසුව ඔහු වටා බැලුවේය.
٢١- ثُمَّ نَظَرَ

22. පැසුව ඔහු රවා දුර්මුඛ වූයේය.
٢٢- ثُمَّ عَبَسَ وَبَسَرَ

23. පැසුව ඔහු පිටු පෑ උවඟු.වූයේය.
٢٣- ثُمَّ أَدْبَرَ وَاسْتَكْبَرَ

24. එවිට "මේ පෙරැ පටන් පැවත එන සූනියම් මිය නැතැ"යි ඔහු කීවේය.
٢٤- فَقَالَ إِنْ هَٰذَا إِلَّا سِحْرٌ يُؤْثَرُ

25. මේ මිනිසකුගේ වචනයක් මිස නැත!
٢٥- إِنْ هَٰذَا إِلَّا قَوْلُ الْبَشَرِ

26. මම ඔහු සකර් යන තිරාගින්නට දමන්නෙමි!
٢٦- سَأُصْلِيهِ سَقَرَ

27. 'සකර්' යන තිරාගින්න කුමක්දැයි නුඹට හඟවන්නේ කුමක්ද!
٢٧- وَمَا أَدْرَاكَ مَا سَقَرُ

---

2205. විශ්වාස කරන්නවුන්ට ලෙහෙසිය.

2206. වලීදුබ්නු මුගීරා යන නැනැත්තා සම ධනය ගැනද දරුවන් ගැනද අහංකාර වී අල්ලාහු තආලාගේ ආයාවන් ප්‍රතික්ෂෙප කෙළේය.

2207. පුත්‍රයන් පිට යැවීමට උවමනාවක් නොවීය. මොහුගේ පුත්‍රයන්ගෙන් (කාලිද්, හිෂාම්,උමාරා, යන තිදෙනා ඉස්ලාම් වැළඳ ගත්හ:

2208. ධනපති බවද, උසස් තත්වයද අධිකාරයද මොහුට මම දුනිමි.

2209. තිරුක්කුර්ආනය ගැන කෙසේ අඩුපාඩු දක්වන්නෙම්දැයි මොහු සිතාබලා තමාතුලම තීරණය කර ගත්තේය.

28. එය කිසිවක් ඉතුරු නොකරයි: කිසිවක් නොහරී

٢٨- لَا تُبْقِي وَلَا تَذَرُ ۝

29. මිනිසාගේ සම කරකොට වැකරුළි ගසයි.

٢٩- لَوَّاحَةٌ لِّلْبَشَرِ ۝

30. එහි මත දහනව දෙනෙකි[2210]

٣٠- عَلَيْهَا تِسْعَةَ عَشَرَ ۝

31. අපි ගින්නෙහි ප්‍රතිපාලකයන් කොළෙමු: මවුන්ගේ සංඛ්‍යාව විශ්වාස නොකරන්නවුනට පිරික්සුමක් කෙළෙමු.(එසේ කිරීම) පුස්තකය දෙනලද අය(යහුදීවරු)[2211] විශ්වාස කරනු පිණිසත් (මවුන්ගෙන්) විශ්වාස කළ අය විශ්වාසයෙහි අධික වනු පිණිසත්. පුස්තකය දෙන ලද අයද (නසාරාවරුද) (අතිකුත්) විශ්වාස කළ අයද සැක නොකරනු පිණිසත්.තමන්ගේ සිත්හි කලව ඇත්තාවූ අය හා ප්‍රතික්ෂෙප කරන අය "අල්ලාහු මේ උපමාවෙන් කුමක් අදහස් කරන්නේද?" යි කියනු. පිණිසත්මය එසේය අල්ලාහු සිතන කෙනෙකු අයහමග යවන්නේ: මහු සිතන කෙනෙකු යහමග යවන්නේ. නුඹ හිමිගේ සේනාවග මහු හැර (අන්කිසිවෙක්) නොදනී. මෙය මිනිස් වර්ගයාට සිහිපත් කිරීමක් මිස නැත.

٣١- وَمَا جَعَلْنَا أَصْحَابَ النَّارِ إِلَّا مَلَائِكَةً ۙ وَمَا جَعَلْنَا عِدَّتَهُمْ إِلَّا فِتْنَةً
لِّلَّذِينَ كَفَرُوا لِيَسْتَيْقِنَ الَّذِينَ أُوتُوا
الْكِتَابَ وَيَزْدَادَ الَّذِينَ آمَنُوا إِيمَانًا
وَلَا يَرْتَابَ الَّذِينَ أُوتُوا الْكِتَابَ وَالْمُؤْمِنُونَ
وَلِيَقُولَ الَّذِينَ فِي قُلُوبِهِم مَّرَضٌ
وَالْكَافِرُونَ مَاذَا أَرَادَ اللَّهُ بِهَٰذَا مَثَلًا ۚ
كَذَٰلِكَ يُضِلُّ اللَّهُ مَن يَشَاءُ
وَيَهْدِي مَن يَشَاءُ ۚ وَمَا يَعْلَمُ جُنُودَ رَبِّكَ إِلَّا هُوَ ۚ
وَمَا هِيَ إِلَّا ذِكْرَىٰ لِلْبَشَرِ ۝

32. නොඑසේ චන්ද්‍රයා මත ශපතය!

٣٢- كَلَّا وَالْقَمَرِ ۝

33. රාත්‍රිය මතද- එය (දිවසට) විප්‍රායනය කරන කල්හි

٣٣- وَاللَّيْلِ إِذْ أَدْبَرَ ۝

34. අරුණෝදය මතද- එය දිලිසෙන කල්හි!

٣٤- وَالصُّبْحِ إِذَا أَسْفَرَ ۝

35. ඇත්තෙන්ම. ඕ[2212] මහත් එකකි.

٣٥- إِنَّهَا لَإِحْدَى الْكُبَرِ ۝

36. මිනිස් වර්ගයාට අවවාදයෙකි.

٣٦- نَذِيرًا لِّلْبَشَرِ ۝

37. නොපගෙන් ඉදිරියට යන්නට හෝ පස්සට යන්නට හෝ සිතන කෙනෙකුට:[2213]

٣٧- لِمَن شَاءَ مِنكُمْ أَن يَتَقَدَّمَ أَوْ يَتَأَخَّرَ ۝

38. සැම කෙනෙකුත්ම තමා සපයා ගත් දයට ඇපය–:[2214]

٣٨- كُلُّ نَفْسٍ بِمَا كَسَبَتْ رَهِينَةٌ ۝

39. දකුණත සහාකාරයන් හැරය[2215]

٣٩- إِلَّا أَصْحَابَ الْيَمِينِ ۝

---

2210. පෙරමළ ගියාවූද මින්පසු මැරෙන්නාවූද මිනිස් වර්ගයාට දුවම් දීමට මේ මලක්කුන් දහනව දෙනාව පුරවන් දුයි මක්කා කාෆිර්වරුද මදිනා කපට-වන්තයෝද අල්ලාහු නඅලා මලක්වරුනට ප්‍රධානය කර ඇති විශාල ශක්තිය ගැන නොදන්නව සිත.

2211. තව්රාත්හි මේ විස්තර සඳහන් කළාක්මෙන්ම අල්-කුර්ආනයද සඳහන් කර ඇති නිසා ඉන්මමද සල්ලල්ලාහු අලෙයිහි ව සල්ලම්ගේ සත්‍යත්වය යනුයයි.

2212. සකර් නම් නරකය.

2213. යහපත් කරන අය ඉදිරියට යන අයද,අයහපත් කරන අය පස්සට යන අයද:

2214. 2/286: 52/21 බ.

2215. 56/8-අදි. 1954 බ.

40. ජන්නාවන්හි ඔවුනොවුන් ප්‍රශ්න කරගන්නෝය.

٤٠- فِي جَنَّاتٍ يَتَسَاءَلُونَ ۝

41. පව්කාරයන්ගෙන් (අසති).

٤١- عَنِ الْمُجْرِمِينَ ۝

42. නොප නරක ගින්නට ගෙන ගියේ කුමක්ද?

٤٢- مَا سَلَكَكُمْ فِي سَقَرَ ۝

43. "අපි සලාත් කරන්නන්ගෙන් නොවූයෙමු"යි ඔවුහු කියන්නෝය:

٤٣- قَالُوا لَمْ نَكُ مِنَ الْمُصَلِّينَ ۝

44. "තවද දිළිඳුනට ආහාර දුන් නෝ නොවෙමු

٤٤- وَلَمْ نَكُ نُطْعِمُ الْمِسْكِينَ ۝

45. "තවද ප්‍රලාප දොඩන්නන් සමඟ ප්‍රලාප දොඩමින් හුන්නෙමු".

٤٥- وَكُنَّا نَخُوضُ مَعَ الْخَائِضِينَ ۝

46. "තවද නිශ්වය දින ප්‍රතික්ෂේප කරමින් හුන්නෙවු".

٤٦- وَكُنَّا نُكَذِّبُ بِيَوْمِ الدِّينِ ۝

47. "අපට අනිවාර්‍යය (මරණය) පැමිණෙන තෙක්.

٤٧- حَتَّىٰ أَتَانَا الْيَقِينُ ۝

48. එවිට මැදහත්වන්නන්ගේ මැදහත්වීම ඔවුනට ප්‍රයෝජන නොවන්නේය.[2216]

٤٨- فَمَا تَنفَعُهُمْ شَفَاعَةُ الشَّافِعِينَ ۝

49. ඔවුහු උපදේශය නොසලකන්නේ කිමිද?

٤٩- فَمَا لَهُمْ عَنِ التَّذْكِرَةِ مُعْرِضِينَ ۝

50. ඔවුන් නැතිගත් බූරුවන්මෙන්.

٥٠- كَأَنَّهُمْ حُمُرٌ مُّسْتَنفِرَةٌ ۝

51. සිංහයාගෙන් පලායන (බූරුවන්මෙන්).

٥١- فَرَّتْ مِن قَسْوَرَةٍ ۝

52. සැබවිටම ඔවුන්ගෙන් සැම මිනිසෙක්ම (අල්ලාහු තආලා ගේ) විවෘත පුස්තකයක් ලැබිය යුතුයයි කැමති වෙයි.[2217]

٥٢- بَلْ يُرِيدُ كُلُّ امْرِئٍ مِّنْهُمْ أَن يُؤْتَىٰ صُحُفًا مُّنَشَّرَةً ۝

53. නොඑසේ! සත්තකටම ඔවුහු අන්තිම දින ගැන නොබිති[2218]

٥٣- كَلَّا ۖ بَل لَّا يَخَافُونَ الْآخِرَةَ ۝

54. නොඑසේ ඇත්තෙන්ම මෙය[2219] සිහිපත් කිරීමකි.

٥٤- كَلَّا إِنَّهُ تَذْكِرَةٌ ۝

55. ඉවත කෙනෙක් එය සිහිපත් කෙරේවා.

٥٥- فَمَن شَاءَ ذَكَرَهُ ۝

56. කිසිවෙක් (එය) සිහිපත් නොකරන්නේය අල්ලාහු සිතුවොත් මිස. ඔහු බැතිමත් කමෙහි හිමියැ: ක්ෂමා කිරීමෙහිද හිමියැ

٥٦- وَمَا يَذْكُرُونَ إِلَّا أَن يَشَاءَ اللَّهُ ۚ هُوَ أَهْلُ التَّقْوَىٰ وَأَهْلُ الْمَغْفِرَةِ ۝

- 74 වන සූරාව අල්-මුද්දස්සිර් නිමි -

---

2216. ඔවුනට මැදිහත්වීමක් නැත.

2217. ඔවුන් සැමදෙනාටම මුහම්මදුව අනුගමනය කළයුතුයයි, වෙන වෙනම අමන්ත්‍රණය කරන ලද විශේෂ සංදේශයක් ඔවුනට ලැබුණොත් ඔවුහු විශ්වාස කරන්නාහයි ප්‍රතික්ෂේප කරන අය පරදම් වශයෙන් කීහ.17/93. බ.

2218. ඉහත දැක්වූ පරිදි තමනට රජයාගේ අණ ප්‍රකාශනයෙන් පැමිණිය යුතුයයි කීමෙන් ඔවුන් නබිත්වය නොදැන සිටියා පමණක් නොව, පරලොව ගැන බියක්ද ඔවුනට නොතිබීන.

2219. අල්-කුර්ආන්

## අල්- කියාමත් පුනරුත්ථානය

سُورَةُ الْقِيَامَةِ

මක්කාහිදී පහළවිය

දයාළු පරමදයාළු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. මම පුනරුත්ථාන දිනය ගෙන ප්‍රමාණ කොට කියමි.

١- لَا أُقْسِمُ بِيَوْمِ الْقِيَامَةِ ۝

2. මම ස්වයංගර්හණීය ආත්මය[2220] ගෙනද ප්‍රමාණ කොට කියමි.

٢- وَلَا أُقْسِمُ بِالنَّفْسِ اللَّوَّامَةِ ۝

3. ඔහුගේ ඇටකටු එක්රැස් කරන්නට අපි නොහැක්කෙමු යයි මිනිසා සිතන්නේද?[2221]

٣- أَيَحْسَبُ الْإِنسَانُ أَلَّن نَّجْمَعَ عِظَامَهُ ۝

4. නොඑසේ! ඔහුගේ ඇඟිලි අග් පවා ස්ථානයෙහි තබන්නට අපි හැක්කෝ වෙමු.[2222]

٤- بَلَىٰ قَادِرِينَ عَلَىٰ أَن نُّسَوِّيَ بَنَانَهُ ۝

5. එහෙත්, මිනිසා තමගේ ඉදිරියට වරද කරගන්නට සිතයි.[2223]

٥- بَلْ يُرِيدُ الْإِنسَانُ لِيَفْجُرَ أَمَامَهُ ۝

6. පුනරුත්ථාන දිනය කවරදාදැයි[2224] ඔහු ප්‍රශ්න කරෙයි.

٦- يَسْأَلُ أَيَّانَ يَوْمُ الْقِيَامَةِ ۝

7. එහෙත් දෘෂ්ටිය තිලංකාර වූ කල්හි;[2225]

٧- فَإِذَا بَرِقَ الْبَصَرُ ۝

8. චන්ද්‍රයා අඳුරේ ගිලුණු කල්හි;

٨- وَخَسَفَ الْقَمَرُ ۝

---

2220. තමාටම දොස් කියාගන්නා ආත්මය.

2221. 37/16: 53, 56/47, 79/11 බ.

2222. ඉතා කුඩාවූ ඇඟිලි අග් ඇට පවා එක්රැස්කොට යථා ස්ථානයෙහි තබන්නට අපි හැක්කෝවෙමු.

2223. ඉදිරියට ඇති පුනරුත්ථාන දිනට.

2224. පුනරුත්ථාන දිනයක් ගැන විශ්වාස නොකරන නිසා.

2225. විනිශ්චය දිනෑ.

9. ඉර සඳ සම්බන්ධ වූ කල්හි:
٩- وَجُمِعَ الشَّمْسُ وَالْقَمَرُ ۝

10. එදිනැ (පැනයායුතු) "රක්ෂාවරණ ස්ථානය කොහිද?" යි මිනිසා කියන්නේය.
١٠- يَقُولُ الْإِنسَانُ يَوْمَئِذٍ أَيْنَ الْمَفَرُّ ۝

11. නැත! රක්ෂාවරණ ස්ථානයක් නැත.
١١- كَلَّا لَا وَزَرَ ۝

12. නුඹ හිමි වෙතයැ එදිනැ විෂම ස්ථානයැ[2226].
١٢- إِلَىٰ رَبِّكَ يَوْمَئِذٍ الْمُسْتَقَرُّ ۝

13. එදිනැ ඔහු කලාවූද නොකලාවූද දය ගැන මිනිසා ගුහාරංචි දෙනු ලබන්නේය.
١٣- يُنَبَّأُ الْإِنسَانُ يَوْمَئِذٍ بِمَا قَدَّمَ وَأَخَّرَ ۝

14. කෙසේවුවද. මිනිසා තමාට විරුද්ධවැ සාක්ෂි දරා ගන්නේය.[2227]
١٤- بَلِ الْإِنسَانُ عَلَىٰ نَفْسِهِ بَصِيرَةٌ ۝

15. ඔහු ඔහුගේ ක්ෂමාවට කරුණු ඉදිරිපත් කලත් (භාරගනු නොලැබෙ).[2228]
١٥- وَلَوْ أَلْقَىٰ مَعَاذِيرَهُ ۝

16. අල් කුර්ආනය හදාරන්නට ඉක්මන් වී නුඹේ දිව නොසලව.[2229]
١٦- لَا تُحَرِّكْ بِهِ لِسَانَكَ لِتَعْجَلَ بِهِ ۝

17. එය එක්රැස් කිරීමත් එය සමුදිරණය කරවීමත් කෙරෙහියැ.
١٧- إِنَّ عَلَيْنَا جَمْعَهُ وَقُرْآنَهُ ۝

18. අප එය සමුදිරණය කල කල්හි. නුඹ ඒ සමුදිරණය අනුගමනය කරව.
١٨- فَإِذَا قَرَأْنَاهُ فَاتَّبِعْ قُرْآنَهُ ۝

19. පැසුව. එහි විවරණය අප කෙරෙහියැ.
١٩- ثُمَّ إِنَّ عَلَيْنَا بَيَانَهُ ۝

20. දන්නැ![2230] එහෙත් නොපි අනිත්‍ය ජීවිතය [2231] ප්‍රිය කරන්නහුය:
٢٠- كَلَّا بَلْ تُحِبُّونَ الْعَاجِلَةَ ۝

21. තවද නොපි පරලොව නොසලකා හරින්නහුය.[2232]
٢١- وَتَذَرُونَ الْآخِرَةَ ۝

22. එදිනැ මුහුණු[2233] දීප්තිමත්වැ බබලන්නේය:
٢٢- وُجُوهٌ يَوْمَئِذٍ نَّاضِرَةٌ ۝

---

2226. එක්රැස් කරනු ලබන ස්ථානය.

2227. එදිනැ මිනිසාගේ දිව්,අත්, පා ඔහුගේ ක්‍රියාවන් ගැන ඔහුට විරුද්ධවැ සාක්ෂි දරන්නේය. 24/24: 36/65 බ.

2228. 24/24: 36/65 බ.

2229. අල්-කුර්ආනය අමතක වේ යයි සිතා, නබි. නායක සල්ලල්ලාහු අලෙයිහි ව සල්ලම් උතුමා ජිබ්‍රීල් අලෙයිහිස්සලාම් එය ප්‍රකාශ කරන කල්හිම එය හැදෑරුවේය. එහි අවසාන වන තෙක් එසේ නොකළ යුතුයයි මෙහි අණවන ලදී. අමතක නොවී එය සිහියි තබාගන්නට සලස්වන්නේ අල්ලාහු තආලායයි [illegible] සියාවේ.20/114 බ.

2230. පුනරුත්ථාන දිනක් සිදුවන්නේමය.

2231. ක්ෂණභංගුර මෙලොව ජීවිතය.

2232. පරලොවහි ලැබිය හැකි ඵල විපාක ලබාගැනීමට සුදුසු ක්‍රියාවන් නොකරන්නාහුය.

2233. අවසාන දිනැ මුඃමින් වරුන්ගේ මුහුණු

23. ඔවුන්ගේ හිමි දෙස බලන්නේය.[2234] — إِلَىٰ رَبِّهَا نَاظِرَةٌ ٢٣

24. තවත් මුහුණු[2235] එදිනැ දුක්මුසුයැ: — وَوُجُوهٌ يَوْمَئِذٍ بَاسِرَةٌ ٢٤

25. කොඳු ඇට කැඩෙන විපතක් ඔවුනට සිදුවන්නේ යයි බලා පොරොත්තු වන්නේය. — تَظُنُّ أَنْ يُفْعَلَ بِهَا فَاقِرَةٌ ٢٥

26. දන්නැ ආත්මය! ගලතලට පැමිණෙත්. — كَلَّا إِذَا بَلَغَتِ التَّرَاقِيَ ٢٦

27. සුවකරන්නේ කවරේදැයි කියනු ලැබූ කල්හි — وَقِيلَ مَنْ ۜ رَاقٍ ٢٧

28. පරවිවිලි (කාල) යයි මිනිසා ස්ථිරව දනගන්නේය: — وَظَنَّ أَنَّهُ الْفِرَاقُ ٢٨

29. (ඔහුගේ) කකුල කකුල හා ඔසනු ලබන්නේය.[2236] — وَالْتَفَّتِ السَّاقُ بِالسَّاقِ ٢٩

30. එදිනැ දක්කා ගෙන යැම නුඹගේ හිමි වෙතටයැ — إِلَىٰ رَبِّكَ يَوْمَئِذٍ الْمَسَاقُ ٣٠

31. එහෙත්(මිනිසා) විශ්වාස නොකෙළේය; සලාත්ද නොකෙළේය. — فَلَا صَدَّقَ وَلَا صَلَّىٰ ٣١

32. එහෙත් ඔහු (සත්‍යය) ප්‍රතික්ෂේප කොට හැරුණේය. — وَلَٰكِنْ كَذَّبَ وَتَوَلَّىٰ ٣٢

33. පැසුරු ඔහුගේ කුටුම්බය වෙතැ ගර්වයෙන් (අඩිය උස්සා තබමින් මය්‍යාරවැ) ගියේය. — ثُمَّ ذَهَبَ إِلَىٰ أَهْلِهِ يَتَمَطَّىٰ ٣٣

34. (අහෝ මිනිස!) නුඹට විනාශයැ! නුඹ විනාශයට ඉතා සුදුස්සාය. — أَوْلَىٰ لَكَ فَأَوْلَىٰ ٣٤

35. යළිත් නුඹට විනාශයැ! නුඹ විනාශයට ඉතා සුදුස්සාය. — ثُمَّ أَوْلَىٰ لَكَ فَأَوْلَىٰ ٣٥

36. ඔහු කිසිත් නැතිව[2237] අත්හරිනු ලබන්නේයයි මිනිසා සිතන්නේද? — أَيَحْسَبُ الْإِنْسَانُ أَنْ يُتْرَكَ سُدًى ٣٦

37. ඔහු වත් කරන ලද කළවු බීජයක් නොවූයේයද?[2238] — أَلَمْ يَكُ نُطْفَةً مِنْ مَنِيٍّ يُمْنَىٰ ٣٧

38. පැසුරු ඔහු සත ලේකැටියක් විය පැසුරු - අල්ලාහු - එය අඹා හැඩ ගැස්සුවේය. — ثُمَّ كَانَ عَلَقَةً فَخَلَقَ فَسَوَّىٰ ٣٨

39. එවිට ඔහුගෙන් ප්‍රමිතිරි යුගල යත් කෙළේය. — فَجَعَلَ مِنْهُ الزَّوْجَيْنِ الذَّكَرَ وَالْأُنْثَىٰ ٣٩

40. (එසේ කළ)[2239] ඔහු මළවුනට පණදෙන්නට බලසම්පන්න නොවේද? — أَلَيْسَ ذَٰلِكَ بِقَادِرٍ عَلَىٰ أَنْ يُحْيِيَ الْمَوْتَىٰ ٤٠

- 75 වන සූරාව අල්-කියාමත් නිමි -

---

2234. මනුෂ්‍ය බැල්මට අවශ්‍යවූ වර්ණය, දිසා හැත් යනාදී නොමැතිව අල්ලාහු තආලා මුඃමින්වරුනට අභිසිම දිනැ දැකගත වන්නේය.

2235. කාෆිර්වරුන්ගේ මුහුණු.

2236. මරණාසන්න ගැවුනු අවස්ථා වන්නේය.

2237. අණපනත් පවරනු ලැබීමක් නැතිවද කළ කටට විනිසුමක් නැතිවද. 75/3: 23/115 බ.

2238. 22/5 බ.

2239. පෙර උදාහරණයක් නොමැතිව සියලු දෑය නිර්මාණය කළ ඔහු මේ සූරාව කැදෑරු අවසානයේදී සුබ්හානකල්ලාහුම්ම බලා එසේය ඔබ පුවිතුද්ධය යි කිව යොදයැ.

## අද් - දහ්රු: කාලය

سورة الإنسان

මදිනාහිදී පහළවිය.

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- هَلْ أَتَىٰ عَلَى الْإِنسَانِ حِينٌ مِّنَ الدَّهْرِ لَمْ يَكُن شَيْئًا مَّذْكُورًا ○

1. ඔහු ගැන කිසිත් කිව නොහැකි කාලයක්[2240] නොතිබුණේද?

٢- إِنَّا خَلَقْنَا الْإِنسَانَ مِن نُّطْفَةٍ أَمْشَاجٍ نَّبْتَلِيهِ فَجَعَلْنَاهُ سَمِيعًا بَصِيرًا ○

2. ඇත්තෙන්ම අපි මිනිසා - ඔහු පිරික්සනු පිණිස- (ප්‍රමිතිරි) කලලබිජ මිශ්‍රණයෙන් නිර්මාණය කෙළෙමු. එසේ හෙයින් අපි ඔහුට[2241] ශ්‍රවණයද දර්ශනයද කෙළෙමු.

٣- إِنَّا هَدَيْنَاهُ السَّبِيلَ إِمَّا شَاكِرًا وَإِمَّا كَفُورًا ○

3. ඔහු කෘතඥවී සත්මාර්ගය අනුගමනය කරන්නටද නැතහොත් එය ප්‍රතික්ෂෙප කරන්නටද අපි ඔහුට මාර්ගය පෙන්වෙමු.[2242]

٤- إِنَّا أَعْتَدْنَا لِلْكَافِرِينَ سَلَاسِلَ وَأَغْلَالًا وَسَعِيرًا ○

4. ඇත්තෙන්ම. අපි ප්‍රතික්ෂෙප කරන්නවුනට දම්ද ගෙල වළලුද දල්වෙන ගින්නද පිළියෙළ කෙළෙමු.

٥- إِنَّ الْأَبْرَارَ يَشْرَبُونَ مِن كَأْسٍ كَانَ مِزَاجُهَا كَافُورًا ○

5. ඇත්තෙන්ම. දැහැමියෝ කාපූර් නදියෙන්[2243] සම මිශ්‍රණයවූ කුසලානයකින්[2244] පානය කරන්නෝය:

٦- عَيْنًا يَشْرَبُ بِهَا عِبَادُ اللَّهِ يُفَجِّرُونَهَا تَفْجِيرًا ○

6. අල්ලාහුගේ වාලුන්[2245] පානය කරන පිරිතිර ගලාබසිනා උල්පතෙකි[2246].

---

2240. මිනිසා මනුෂ්‍ය රූපයෙන් පැමිණෙන්නට පෙරවූ කාලය.

2241. අනුශාසනා අසන්නටද දෘෂ්ටාන්ත දර්ශනය කරන්නටද

2242. රසූල්වරුන් එවමින් මාර්ග පෙන්නුවෙමු.

2243. ජන්නාහෙහි නදියකි.

2244. මත් ගතියක් ඇති නොකරන ජන්නා සම්පත්තිද්‍රව්‍ය පිරිසිදු මධු කුසලානය. 56/18, 19; 37/45 බ.

2245. විශ්වාස කළ අය.

2246. ඔවුනු නැගිට සිටි කල්හිද, වාඩිවී සිටින කල්හිද, ඇලෙහේ සිදින කල්හිද, යන එන කල්හිද මේ උල්පත ඔවුන් සමග වෙයි.

7. ඔවුහු ඔවුන්ගේ භාර ඉටු කෙරෙති; එහි තද පැතිර පවත්නා දිනය බියවෙති:[2247]

٧-يُوفُونَ بِالنَّذْرِ وَيَخَافُونَ يَوْمًا كَانَ شَرُّهُ مُسْتَطِيرًا ○

8 එයට ප්‍රිය කරද්දීත්[2248] ඔවුහු අසරණයාටද අනාථයාටද සිරකරුවාටද බොජුන් දෙති.

٨-وَيُطْعِمُونَ الطَّعَامَ عَلَىٰ حُبِّهِ مِسْكِينًا وَيَتِيمًا وَأَسِيرًا ○

9. "අල්ලාහ් උදෙසායයි අපි තොපට ආහාර දෙන්නේ. අපි තොපගෙන් වැටුපක් හෝ ස්තුතියක් කැමති නොවන්නෙමු"(යි කියන්නෝය).

٩-إِنَّمَا نُطْعِمُكُمْ لِوَجْهِ اللَّهِ لَا نُرِيدُ مِنكُمْ جَزَاءً وَلَا شُكُورًا ○

10. "(ඉතා තද ශෝකයෙන්) බැමිනටවා බැල්මද දත්මිටිකෑමද සහිත දිනයක් අපි අපගේ හිමියෙන් වන්නෙමු".

١٠-إِنَّا نَخَافُ مِن رَّبِّنَا يَوْمًا عَبُوسًا قَمْطَرِيرًا ○

11 අල්ලාහ් එදිනෑ නපුරෙන් ඔවුන් මුදවන්නේය; තවද ඔවුනට මුහුණු දිලිසීමද සතුටද දෙන්නේය.

١١-فَوَقَاهُمُ اللَّهُ شَرَّ ذَٰلِكَ الْيَوْمِ وَلَقَّاهُمْ نَضْرَةً وَسُرُورًا ○

12. ඔවුන්ගේ ඉවසීම හේතුකොට ගෙන ජන්නාවද පටවස්ත්‍රද ඔවුනට වැටුප් දෙන්නේය.

١٢-وَجَزَاهُم بِمَا صَبَرُوا جَنَّةً وَحَرِيرًا ○

13. එහි උච්චාසනයන්හි සයනය කරන්නෝ සූර්යයාගේ තාපය හෝ චන්ද්‍රයාගේ ශීතය එහි නොදකින්නේය.

١٣-مُّتَّكِئِينَ فِيهَا عَلَى الْأَرَائِكِ لَا يَرَوْنَ فِيهَا شَمْسًا وَلَا زَمْهَرِيرًا ○

14. (ජන්නාතෙහි) සෙවණලු ඔවුන් මත පාත් වන්නේය. තවද ඵලබර වලු එහි පහතට නැමී එල්බෙන්නේය.

١٤-وَدَانِيَةً عَلَيْهِمْ ظِلَالُهَا وَذُلِّلَتْ قُطُوفُهَا تَذْلِيلًا ○

15. රිදී මුවා බඳුන්ද පිළිමිණි පාත්‍රද ඔවුන් වටා යවනු ලබන්නේය.[2249]

١٥-وَيُطَافُ عَلَيْهِم بِآنِيَةٍ مِّن فِضَّةٍ وَأَكْوَابٍ كَانَتْ قَوَارِيرَا ○

16. පිළිමිණි පහන් පැහැති රිදී මුසේය. එහි මිණුම (ඔවුන්ගේ අභිමතයට අනුව) ඔවුහු ඉටා ගන්නෝය.

١٦-قَوَارِيرَ مِن فِضَّةٍ قَدَّرُوهَا تَقْدِيرًا ○

17. සැන්ජබිල් මිශ්‍රිත (මිදියපනු) තුසලානයක් එහි පානය කරන්නට ඔවුහු දෙනු ලබන්නෝය.

١٧-وَيُسْقَوْنَ فِيهَا كَأْسًا كَانَ مِزَاجُهَا زَنجَبِيلًا ○

18. එහි සල්සබිල් සයි නම් කරන ලද උල්පතෙකි.

١٨-عَيْنًا فِيهَا تُسَمَّىٰ سَلْسَبِيلًا ○

19. ඔවුන් වටා සදා නව යොවුනෙහි යොවුන්හු මෙහෙ කරන්නෝය. නුඹ ඔවුන් දක්නෙහි නම් ඔවුහු විසල මුතුහයි නුඹ හගින්නෙහිය:

١٩-وَيَطُوفُ عَلَيْهِمْ وِلْدَانٌ مُّخَلَّدُونَ إِذَا رَأَيْتَهُمْ حَسِبْتَهُمْ لُؤْلُؤًا مَّنثُورًا ○

20. නුඹ නරඹන කලැ එහි නුඹ ප්‍රීති ප්‍රමෝදය හා අති යෝගත රාජ්‍යයකු දකින්නෙහිය:

٢٠-وَإِذَا رَأَيْتَ ثَمَّ رَأَيْتَ نَعِيمًا وَمُلْكًا كَبِيرًا ○

---

2247. ආයාවන් 7-10 දක්වා මෙලොව ජීවිතයෙහි දැහැමියන්ගේ හැසිරීම ගැන විස්තර වේ. ආයාවන් 11-22 දක්වා පරලොව ජීවිතයෙහි ඔවුනට ලැබෙන සැප ගැන විස්තරවේ.

2248. බොජුන ඔවුනට මිහැසම් සිතියදීත්

2249. රිදියෙන් සාදන ලද, පිළිමිණි මෙන් විනිවිද පෙනීම ඇති සැනු

21. හරිත වර්ණ සිහින් දුහුලින්ද රත් කසුකම් කළ පටවස්ත්‍රයෙන්ද ඔවුන් පලන්දන ලදී. ඔවුහු රිදී වළලුයෙන් සමලංකෘතයහ. ඔවුන්ගේ හිමි ඔවුනට පිරිසිදු පානයෙකින්පානය කරවන්නේය.

٢١- عٰلِيَهُمْ ثِيَابُ سُنْدُسٍ خُضْرٌ وَّ اِسْتَبْرَقٌ ؗ وَّ حُلُّوْۤا اَسَاوِرَ مِنْ فِضَّةٍ ۚ وَ سَقٰىهُمْ رَبُّهُمْ شَرَابًا طَهُوْرًا ۝

22. ඇත්තෙන්ම, මෙය තොපට ඵල විපාකයෙකි. (භූමියෙහි) තොපගේ උත්සහාය පිළිගන්නා ලදී.

٢٢- اِنَّ هٰذَا كَانَ لَكُمْ جَزَآءً وَّ كَانَ سَعْيُكُمْ مَّشْكُوْرًا ۝

23. ඇත්තෙන්ම, අපියැ කුර්ආනය තොපට (වරින්වර) පහළ කෙළෙමු

٢٣- اِنَّا نَحْنُ نَزَّلْنَا عَلَيْكَ الْقُرْاٰنَ تَنْزِيْلًا ۝

24. එසේ හෙයින් නුඹ හිමිගේ තීරණය ඉවසව. ඔවුනතුරෙන් පව්ටාට හෝ අකෘතඥයාට හෝ කීකරු නොවව.[2250]

٢٤- فَاصْبِرْ لِحُكْمِ رَبِّكَ وَ لَا تُطِعْ مِنْهُمْ اٰثِمًا اَوْ كَفُوْرًا ۝

25. තවද, නුඹ හිමිගේ නාමය උදය සවසැසිහිපත් කරව.

٢٥- وَ اذْكُرِ اسْمَ رَبِّكَ بُكْرَةً وَّ اَصِيْلًا ۝

26. රාත්‍රියෙහි නුඹ ඔහුට සුජූද්කරව:දීඝ රාත්‍රියෙක්හි ඔහු සුවිශුද්ධ කරව.

٢٦- وَ مِنَ الَّيْلِ فَاسْجُدْ لَهٗ وَ سَبِّحْهُ لَيْلًا طَوِيْلًا ۝

27. ඇත්තෙන්ම, මේ අය[2251] අනිත්‍ය (මෙලොව) ජීවිතය ප්‍රිය කරන්නෝය: බරපතළ දිනය[2252] ඔවුන්ගේ පිටුපසින් දමන්නෝය.

٢٧- اِنَّ هٰۤؤُلَآءِ يُحِبُّوْنَ الْعَاجِلَةَ وَ يَذَرُوْنَ وَرَآءَهُمْ يَوْمًا ثَقِيْلًا ۝

28. අපි ඔවුන් නිර්මාණය කොට ඔවුන්ගේ සන්ධි ශක්තිමත් කෙළෙමු. අපි සිතුවෙමු නම් ඔවුන් වෙන අය ගෙනෙන්නෙමු.

٢٨- نَحْنُ خَلَقْنٰهُمْ وَ شَدَدْنَاۤ اَسْرَهُمْ ۚ وَ اِذَا شِئْنَا بَدَّلْنَاۤ اَمْثَالَهُمْ تَبْدِيْلًا ۝

29. ඇත්තෙන්ම, මෙය[2253] අවවාදානුශාසනයෙකි: යමෙක් සිතුයේ නම් ඔහුගේ හිමිවෙතට මාර්ගයක්[2254] සොයා ගනීවා.

٢٩- اِنَّ هٰذِهٖ تَذْكِرَةٌ ۚ فَمَنْ شَآءَ اتَّخَذَ اِلٰى رَبِّهٖ سَبِيْلًا ۝

30. අල්ලාහු තආලාගේ සිතීම විනා තොපි නොසිතන්නහුය. අල්ලාහු සියල්ල දන්නේය; නුවණැතිය:

٣٠- وَ مَا تَشَآءُوْنَ اِلَّاۤ اَنْ يَّشَآءَ اللّٰهُ ؕ اِنَّ اللّٰهَ كَانَ عَلِيْمًا حَكِيْمًا ۝

31. ඔහු සිතන කෙනෙකු ඔහුගේ දයාලු භාවයට ඇතුළු කරවන්නේය. තපුරුකම් කරන්නවුනට වේදනීය දඬුවමක් පිළියෙල කැරැ ඇත.

٣١- يُّدْخِلُ مَنْ يَّشَآءُ فِيْ رَحْمَتِهٖ ؕ وَ الظّٰلِمِيْنَ اَعَدَّ لَهُمْ عَذَابًا اَلِيْمًا ۝

\- 76 වන සූරාව අද්-දහ්රු නිමි -

2250. ඉස්ලාම් ධර්මය ගැන ඊර්ෂ්‍යා කිරීම නවත්වවයි ඔවුන්ගේ සිත නොසලකවවු.

2251. පව්වන්

2252. විනිශ්චය දිනය.

2253. ඉහත දැක්වූ ආයාවන්

2254. අල්ලාහු තආලා පිණයන මාර්ග

## අල් - මුර්සලාත්: ගණ බැඳමෙන් හෝ අනුලෝමයෙන් එවන ලද මාරුතයන්

سُوْرَةُ الْمُرْسَلٰتِ

මක්කාහිදී පහළ විය

| | |
|---|---|
| දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන් | بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ |
| 1. අනුලෝමයෙන් එවන ලද මාරුතයන් මත ශපථය: | ١-وَالْمُرْسَلٰتِ عُرْفًا ۝ |
| 2. චණ්ඩ මාරුතයන් මතද; | ٢-فَالْعٰصِفٰتِ عَصْفًا ۝ |
| 3. වැහි වලාකුල් විසුරුවන මාරුතයන් මතද. | ٣-وَّالنّٰشِرٰتِ نَشْرًا ۝ |
| 4. සත්‍යාසත්‍ය වෙන් කරන ආයාවන්[2256] මතද; | ٤-فَالْفٰرِقٰتِ فَرْقًا ۝ |
| 5. දේශනා පතුරුවා හරින්නන්[2257] මතද (ශපථය)! | ٥-فَالْمُلْقِيٰتِ ذِكْرًا ۝ |
| 6. (දැහැමියන්) නිදොස් කරන හෝ (පව්ටන්) තරවටු කරන (දේශනා) | ٦-عُذْرًا اَوْ نُذْرًا ۝ |
| 7. ඇත්තෙන්ම, ඔබාපට පිළින දෙ ලද දය[2258] සිදුවන්නේමය. | ٧-اِنَّمَا تُوْعَدُوْنَ لَوَاقِعٌ ۝ |
| 8. තරු නිෂ්පභා කරනු ලැබ. | ٨-فَاِذَا النُّجُوْمُ طُمِسَتْ ۝ |
| 9. අහස විවර කරනු ලැබ. | ٩-وَاِذَا السَّمَآءُ فُرِجَتْ ۝ |
| 10. කඳු දූලිමෙන් කරනු ලැබ | ١٠-وَاِذَا الْجِبَالُ نُسِفَتْ ۝ |
| 11. රසූල්වරු නියමිත වේලාවට එක්රැස් කරනු ලැබූ කල්හි - | ١١-وَاِذَا الرُّسُلُ اُقِّتَتْ ۝ |

2256. අල්-කුර්ආනයේ ආයාවන්.

2257. අල්ලාහු තආලා විසින් එවන ලද දූතයන්.

2258. පුනරුත්ථාන සිදුවීමද මෙලොවැ කළ කම්වල විපාක දීමද.

12. කුමන දිනයකටද මේවා කල් දමන ලද්දේ! — ١٢- لِأَيِّ يَوْمٍ أُجِّلَتْ ۝

13. විනිශ්චය (කරනු ලබන) දිනයටය. — ١٣- لِيَوْمِ الْفَصْلِ ۝

14. විනිශ්චය (කරනු ලබන) දිනය කුමක්දැයි ඔබට හඟවන්නේ කුමක්ද? — ١٤- وَمَا أَدْرَاكَ مَا يَوْمُ الْفَصْلِ ۝

15. එදිනැ ප්‍රතික්ෂේප කරන්න වූනට විනාශයැ! — ١٥- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ۝

16. පෙර වූවන් අපි විනාශ නොකෙළෙමුද? — ١٦- أَلَمْ نُهْلِكِ الْأَوَّلِينَ ۝

17. පැසුළු පසු පරම්පරාවන්ද (විනාශයෙහි) ඔවුන් අනුගමනය කරන්නෙමු. — ١٧- ثُمَّ نُتْبِعُهُمُ الْآخِرِينَ ۝

18. එලෙසයැ. අපි පව් කාරයනට කරන්නේ. — ١٨- كَذَٰلِكَ نَفْعَلُ بِالْمُجْرِمِينَ ۝

19. එදිනැ ප්‍රතික්ෂේප කරන්න වූනට විනාශයැ! — ١٩- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ۝

20. අපි තොප තුච්ඡ ජලයෙන් නිර්මාණය නොකෙළෙමුද?[2260] — ٢٠- أَلَمْ نَخْلُقكُّم مِّن مَّاءٍ مَّهِينٍ ۝

21. අපි එය සුරක්ෂිත ස්ථානයෙකැ[2261] තැබුවෙමු: — ٢١- فَجَعَلْنَاهُ فِي قَرَارٍ مَّكِينٍ ۝

22. නියම කාලයක්[2262] දක්වා. — ٢٢- إِلَىٰ قَدَرٍ مَّعْلُومٍ ۝

23. (එහි කාලය) අපි· නියම කෙළෙමු. අපි (නියම කරන්නන්ගෙන්)කොපමණ හොද නියම කරන්නෝද? — ٢٣- فَقَدَرْنَا فَنِعْمَ الْقَادِرُونَ ۝

24. එදිනැ ප්‍රතික්ෂේප කරන්න වූනට විනාශයැ: — ٢٤- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ۝

25. අපි භූමිය රැස්කරන තැනක් නොකෙළෙමුද? — ٢٥- أَلَمْ نَجْعَلِ الْأَرْضَ كِفَاتًا ۝

26. ජීවත් වන්නවුන්ද මළවුන්ද![2263] — ٢٦- أَحْيَاءً وَأَمْوَاتًا ۝

27. තවද අපි එහි උස්කඳු කෙළෙමු. තොපට මිහිරි පැන්ද සැපයෙව්වෙමු. — ٢٧- وَجَعَلْنَا فِيهَا رَوَاسِيَ شَامِخَاتٍ وَأَسْقَيْنَاكُم مَّاءً فُرَاتًا ۝

28. එදිනැ ප්‍රතික්ෂේප කරන්න වූනට විනාශයැ. — ٢٨- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ۝

---

2259. නබී පූර්වුවත් සල්ලල්ලාහු අලෛහි ව සල්ලම්ගේ පෙර විසූ අය තමන්ගේ නබිවරුනට විරුද්ධවූ හෙයින් විනාශ කරනු ලද්දෝය. 11/44: 60: 67: 92: 99: බ.

2260. 16/4, 36/77, 75/37 බ.

2261. මවගේ ගර්භයයි

2262. ගර්භයෙහි වන කාලය.

2263. ඇම්මෙනද ගැලඹිද.

29. තොප ප්‍රතික්ෂේප කරමින් සිටි දෙය[2264] වෙත පිටත්වවු!(යි ඔවුනට කියනු ලබන්නේය) — ٢٩- انطلقوا إلى ما كنتم به تكذبون

30. වැම් තුනෙකින් ආරෝහණය වන දුම සෙවලලු යෙක්[2265] වෙත පිටත්වවු. — ٣٠- انطلقوا إلى ظل ذي ثلاث شعب

31. ඒ සෙවනසිහිල් නොදෙන්නේය. දරුණු ගිනි දලින් ආරක්ෂාද නොකරන්නේය. — ٣١- لا ظليل ولا يغني من اللهب

32. ඇත්තෙන්ම. එ[2266] තොටු පේත්‍ර බදු (මහා) විස්ථුලිඩග විසිකරන්නීය: — ٣٢- إنها ترمي بشرر كالقصر

33. තද කහපාවණ ඔටුවන් (රැළක් තුරිතව ගමන් කරන්නාක්) මෙන් — ٣٣- كأنه جمالت صفر

34. ඒ දිනැ ප්‍රතික්ෂේප කරන්න වුනට විනාශයැ — ٣٤- ويل يومئذ للمكذبين

35. මෙදිනැ ඔවුනු කථා නොකරන්නනෝය[2267] — ٣٥- هذا يوم لا ينطقون

36. නිදහසට කරුණු ගෙනහැර පාන්නට ඔවුනට අවසරද නොදෙනු ලබන්නේය. — ٣٦- ولا يؤذن لهم فيعتذرون

37. එදිනැ ප්‍රතික්ෂේප කරන්නවුනටවිනාශයැ. — ٣٧- ويل يومئذ للمكذبين

38. මේ සත්‍යවන්තයන් හා අසත්‍යවන්තයන් වෙන් කන දිනයැ. අපි තොප[2268] හා (තොපට) පෙරවූවන් එක්රැස් කෙළෙමු. — ٣٨- هذا يوم الفصل جمعناكم والأولين

39. එහෙයින් (දඬුවමින් මිදෙන්නට) උපායක් තොපට වී නම් එය මට විරුද්ධව යොදවු. — ٣٩- فإن كان لكم كيد فكيدون

40. එදිනැ ප්‍රතික්ෂේප කරන්නවුනට විනාශයැ. — ٤٠- ويل يومئذ للمكذبين

41. ඇත්තෙන්ම. බිය බැතියෝ සෙවනැ හා උල්හියැ.[2269] — ٤١- إن المتقين في ظلال وعيون

42. ඔවුන් කැමතිවන පලතුරුද (ඔවුනටයැ).[2270] — ٤٢- وفواكه مما يشتهون

---

2264. නිරය.

2265. නිරයෙහි දුම.

2266. නිරයගින්න විශාල ගිනි පුපුරු විසි කරන්නීය.

2267. ඔවුන් අදාවන්තයන්යයිකථා කරන්නට නොහැක්කේය. ඔවුන්ගේ අවයව ඔවුනට විරුද්ධව සාක්ෂි දරන්නේය. 24/24 බ.

2268. නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම්ටතුමාගේ ජනවර්ගයා ප්‍රතික්ෂේප කළ අයවෙති.

2269. 47/15 බ.

2270. 13/35 බ.

43. "තොප කළ යහ දැය හේතු කොට ගෙන සැපසේ අනුභව කරවු. පානය කරවු"(යි ඔවුනට කියනු ලැබේ).

٤٣- كُلُوا وَاشْرَبُوا هَنِيٓـًٔا بِمَا كُنتُمْ تَعْمَلُونَ ۝

44. එලෙසය අපි යහ දැමියනට ප්‍රතිඵල දෙන්නේ.

٤٤- إِنَّا كَذَٰلِكَ نَجْزِي الْمُحْسِنِينَ ۝

45. එදිනැ ප්‍රතික්ෂේප කරන්නවුනට විනාශයැ.

٤٥- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ۝

46. (අදැමිවුවෙනි!) අනුභව කරවු: ස්වල්ප වේලාවක් සැප විඳිවු[2271] ඇත්තෙන්ම තොපි පව්වුහුයැ

٤٦- كُلُوا وَتَمَتَّعُوا قَلِيلًا إِنَّكُم مُّجْرِمُونَ ۝

47. එදිනැ ප්‍රතික්ෂේප කරන්නවුනට විනාශයැ.

٤٧- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ۝

48. "රු 'කූඋ' කරවු"යි [2272] ඔවුනට කියනු ලැබූ කල්හි. ඔව්හු 'රුකූඋ' නොකෙරෙත්.

٤٨- وَإِذَا قِيلَ لَهُمُ ارْكَعُوا لَا يَرْكَعُونَ ۝

49. එදිනැ ප්‍රතික්ෂේප කරන්නවුනටවිනාශයැ.

٤٩- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ۝

50. එවිට එයට[2273] පසුව කවර දූත මෙහෙවරක්ද ඔවුහු විශ්වාස කරන්නේ?

٥٠- فَبِأَيِّ حَدِيثٍ بَعْدَهُ يُؤْمِنُونَ ۝

- 77 වන සූරාව අල්-මුර්සලාත් නිමි -

2271. මෙලොව ජීවිතයෙහි ·සැපවිඳීම.

2272. සලාත් කරවු.

2273. අල්-කුර්ආනයට.

අන්නබඋ : ආරංචිය.

سُورَةُ النَّبَإ

මක්කාහිදී පහළවිය

| | |
|---|---|
| දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්. | بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ |
| 1. කුමක් ගැන ඔවුනොවුන් අතර ඔවුහු විවාද කරන්නාහුද?[2274] | ١- عَمَّ يَتَسَاءَلُونَ ۝ |
| 2. මහත් ආරංචිය[2275] ගැන: | ٢- عَنِ النَّبَإِ الْعَظِيمِ ۝ |
| 3. ඔවුහු එහි වාද විවාද කළහ. | ٣- الَّذِي هُمْ فِيهِ مُخْتَلِفُونَ ۝ |
| 4. ඇත්තෙන්ම, ඔවුහු මතු දැන ගන්නෝය: | ٤- كَلَّا سَيَعْلَمُونَ ۝ |
| 5. ඇත්තෙන්ම, ඔවුහු මතු දැන ගන්නෝමය. | ٥- ثُمَّ كَلَّا سَيَعْلَمُونَ ۝ |
| 6. අපි පොළොව අතුරණයක් නොකෙළෙමුද? | ٦- أَلَمْ نَجْعَلِ الْأَرْضَ مِهَادًا ۝ |
| 7. කඳු කාදති මෙන් (නොකෙළේද?) | ٧- وَالْجِبَالَ أَوْتَادًا ۝ |
| 8. තවද අපි තොප යුගල වශයෙන් නිර්මාණය කෙළෙමු. | ٨- وَخَلَقْنَاكُمْ أَزْوَاجًا ۝ |
| 9. තවද තොපගේ නින්ද විශ්‍රාම වශයෙන් කෙළෙමු. | ٩- وَجَعَلْنَا نَوْمَكُمْ سُبَاتًا ۝ |
| 10. අපි රාත්‍රිය වසන්තරාවක් කෙළෙමු. | ١٠- وَجَعَلْنَا اللَّيْلَ لِبَاسًا ۝ |
| 11. තවද අපි දිවස ජීවිකා වෘත්තියක් කෙළෙමු. | ١١- وَجَعَلْنَا النَّهَارَ مَعَاشًا ۝ |

2274. පුනරුත්ථාන දින ගැනද එහි සත්‍යතාව ගැනද මක්කා කුරෛෂිවරු එක් කෙනෙක් අනිකාගෙන් ප්‍රශ්න කරමින් විවාද කළහ. පුනරුත්ථාපනයකිරීමට අල්ලාහු කෙතරම් බලසම්පන්නයායි මතු ආයාවන්හි කියාවේ.

12. අපි තොපට ඉහලින් ශක්තිමත් (අහස්) සත් තැනුවෙමු.[2276]

١٢- وَبَنَيْنَا فَوْقَكُمْ سَبْعًا شِدَادًا ۝

13. අපි ප්‍රභාමත් පහනක්ද කෙලෙමු.

١٣- وَجَعَلْنَا سِرَاجًا وَهَّاجًا ۝

14. තවද අපිමේඝයෙන් ජලය අධික වශයෙන් පහල කෙලෙමු.

١٤- وَأَنْزَلْنَا مِنَ الْمُعْصِرَاتِ مَاءً ثَجَّاجًا ۝

15. එ යින් අස්වැන්න හා උද්භිද දය අප හටගන්වනු පිණිස:

١٥- لِنُخْرِجَ بِهِ حَبًّا وَنَبَاتًا ۝

16. සුහුඹුල් උයන්(ද හටගන්වනු පිණිස).

١٦- وَجَنَّاتٍ أَلْفَافًا ۝

17. ඇත්තෙන්ම, විනිශ්චය දිනය නියමිතයැ;

١٧- إِنَّ يَوْمَ الْفَصْلِ كَانَ مِيقَاتًا ۝

18. හොරණෑව පිඹිනු ලබන දිනය. එවිට තෝපි රංචු වශයෙන් එන්නහුය.

١٨- يَوْمَ يُنْفَخُ فِي الصُّورِ فَتَأْتُونَ أَفْوَاجًا ۝

19. අහස් විවෘතව් දොරවල් මෙන් වන්නේය.

١٩- وَفُتِحَتِ السَّمَاءُ فَكَانَتْ أَبْوَابًا ۝

20. කඳු මිරිඟුවක් මෙන් අතුරුදහන් වන්නේය.

٢٠- وَسُيِّرَتِ الْجِبَالُ فَكَانَتْ سَرَابًا ۝

21. ඇත්තෙන්ම, ජහන්නම බලාපොරොත්තු වන්නේය.

٢١- إِنَّ جَهَنَّمَ كَانَتْ مِرْصَادًا ۝

22. අතික්‍රමනය කලවුන් අයින් වන තැනක්වැ.

٢٢- لِلطَّاغِينَ مَآبًا ۝

23. ඔවුහු එහි කාලාන්තරයන්හි[2278] වෙසෙත්තෝය.

٢٣- لَابِثِينَ فِيهَا أَحْقَابًا ۝

24. ඔවුහු එහි සිසිලක් හෝ පැනක් අගු නොබලන්නෝය.

٢٤- لَا يَذُوقُونَ فِيهَا بَرْدًا وَلَا شَرَابًا ۝

25. හිම තැති උණු දියද අතිශීතෝදක දියද මිස:[2279]

٢٥- إِلَّا حَمِيمًا وَغَسَّاقًا ۝

26. (ඔවුනට) සුදුසු ඵල විපාක වශයෙන්:

٢٦- جَزَاءً وِفَاقًا ۝

27. ඔවුන් (තම ක්‍රියාවන් ගැන) විචාරණයකු බලාපොරොත්තුනුවූ හෙයින්![2280]

٢٧- إِنَّهُمْ كَانُوا لَا يَرْجُونَ حِسَابًا ۝

28. තවද, ඔවුහු අපගේ ආයාවන්[2281] (බොරුයයි වැරෙන්) ප්‍රතික්ෂෙප කලහ.

٢٨- وَكَذَّبُوا بِآيَاتِنَا كِذَّابًا ۝

---

2275. පුනරුත්ථානය

2276. 65/12 බ.

2277. 25/61 බ.

2278. සදාකල්හි

2279. 38/57 බ.

2280. ඔවුහු පුනරුත්ථානය ප්‍රතික්ෂෙප කල හෙයින් එහි විචාරණයද නොදැලකුවෝය.

2281. අල්-කුර්ආනය.

29. අපි සියලු දෑය සටහනෙහි[2282] සුරක්ෂිත කර ඇත්තෙමු

٢٩- وَكُلَّ شَيْءٍ أَحْصَيْنَٰهُ كِتَٰبًا ۝

30. එසේ හෙයින් (තොපගේ ක්‍රියාවන්හි දඬුවම) විඳිවු: අපි දඬුවම මිස තොපට වැඩි නොකරන්නෙමුමය[2283]

٣٠- فَذُوقُوا
فَلَن نَّزِيدَكُمْ إِلَّا عَذَابًا ۝

31. ඇත්තෙන්ම, බිය බැතියනට මහත්වූ සෞභාග්‍යයෑ:

٣١- إِنَّ لِلْمُتَّقِينَ مَفَازًا ۝

32. පවුරින් පිරිවට තානා පලතුරු උයන්ද මිදිවතුද.

٣٢- حَدَآئِقَ وَأَعْنَٰبًا ۝

33. සම වයසක සහකාරියන්ද[2284]

٣٣- وَكَوَاعِبَ أَتْرَابًا ۝

34. (මුව විට තෙක්) පිරුණු කුසලානක්ද.

٣٤- وَكَأْسًا دِهَاقًا ۝

35. ප්‍රලාප හෝ අසත්‍යය එවුනු එහි නොඅසන්නෝය

٣٥- لَّا يَسْمَعُونَ فِيهَا لَغْوًا وَلَا كِذَّٰبًا ۝

36. අතිශයින් ත්‍යාගයක්ව මුඹ හිමිගෙන් එල විපාකයෙකි:

٣٦- جَزَآءً مِّن رَّبِّكَ عَطَآءً حِسَابًا ۝

37. අහස්හිද පොළොවෙහිද එදෙක අතර දෑයෙහිද හිමියෑ; පරමදයාලුහුය. ඔහු හා විවාද කරන්නට හැක්කෙක් නැත.

٣٧- رَّبِّ السَّمَٰوَٰتِ وَالْأَرْضِ
وَمَا بَيْنَهُمَا الرَّحْمَٰنِ لَا يَمْلِكُونَ مِنْهُ خِطَابًا ۝

38. එදිනෑ "තරුණු"ද[2285] මලක්වරුද පෙළගෑයි සිටින්නෝය. පරමදයාලුහු අවසර දුන් කෙනෙක් විනා කිසිවෙක් කථා නොකරන්නෝය: ඔහු[2286] සත්‍යයම කියන්නේය.

٣٨- يَوْمَ يَقُومُ الرُّوحُ وَالْمَلَٰٓئِكَةُ صَفًّا
لَّا يَتَكَلَّمُونَ
إِلَّا مَنْ أَذِنَ لَهُ الرَّحْمَٰنُ وَقَالَ صَوَابًا ۝

39. එය සැබෑ දිනය. එහෙයින් යමෙක් තම හිමි වෙතට (යාප්‍ත) පුත ප්‍රාප්තියක් සිතන කෙනෙක්. ඒ අනුව හැසිරේවා![2287]

٣٩- ذَٰلِكَ الْيَوْمُ الْحَقُّ
فَمَن شَآءَ اتَّخَذَ إِلَىٰ رَبِّهِۦ مَـَٔابًا ۝

40. ඇත්තෙන්ම, අපි ආසන්න දඬුවමක් ගැන තොප අවවාද කෙළෙමුදය: මිනිසා තමාගේ අත් ඉදිරිපත් කළ (ක්‍රියාවන්) දකින දිනෑ:[2288] ප්‍රතික්ෂේප කරන්නා "මා දූලි[2289] වුණි නම්"යි කියන දිනෑ.

٤٠- إِنَّآ أَنذَرْنَٰكُمْ عَذَابًا قَرِيبًا
يَوْمَ يَنظُرُ الْمَرْءُ مَا قَدَّمَتْ يَدَاهُ
وَيَقُولُ الْكَافِرُ يَٰلَيْتَنِى كُنتُ تُرَٰبًا ۝

- 78 වන සූරාව අන්නබඋ නිමි -

---

2282. මේ ලෝකයෙහි සිදුවන සියලු කාර්යයන්හි සටහන.

2283. 4/56 බ.

2284. 44/54 අඩි. 1719 බ.

2285. 70/4 බ. ජිබ්රීල් අලෛහිස්සලාම්

2286. පරමදයාලුහුගෙන් අවසර ලැබුණු අය.

2287. අන්තිම දිනෑ දඬුවමින් මිදී යහ ඵල විපාක ලබා ගන්න සිතන කෙනෙක් මෙලොව යහක්‍රියා කෙරේවා

2288. 17/13 බ.

2289. දූවිල්ලෙන් ප්‍රාණ සිරිමක් නැසි හිසා 33/72 බ.

අන්-නාසිආත්: තදින් ගලවන්නෝ
النازعات
මක්කාහිදී පහළවිය.

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන් — بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. (විශ්වාස නොකරන්නවුන්ගේ ආත්ම) තදින් ගලවන්නවුන්[2290] (මත ශපථය). — ١- وَالنَّازِعَاتِ غَرْقًا

2. (විශ්වාස කරන්නවුන්ගේ ආත්ම) මෘදු ලෙස ගලවන්නවුන් මතද; — ٢- وَالنَّاشِطَاتِ نَشْطًا

3. තමහට අණ කරන ලද කරුණු ඉටු කිරීම පිණිස ඉක්මන් කරන්නවුන් මතද. — ٣- وَالسَّابِحَاتِ سَبْحًا

4. එකිනෙකා පෙරපෙන්නවුන්[2291] මතද: — ٤- فَالسَّابِقَاتِ سَبْقًا

5. (තම හිමියගේ) අණ ඉටු අණ ඉටු කිරීමෙහි පිළියෙල වන්නවුන්[2292] මතද ශපථය. — ٥- فَالْمُدَبِّرَاتِ أَمْرًا

6. ලොව[2293] තදින් කම්පාවන දිනද. — ٦- يَوْمَ تَرْجُفُ الرَّاجِفَةُ

7. එය අනුගමනය දෙවෙනි හොරණෑව සිදුවන්නේය.[2294] — ٧- تَتْبَعُهَا الرَّادِفَةُ

8. එදිනද සිත ගැහෙන්නේය. — ٨- قُلُوبٌ يَوْمَئِذٍ وَاجِفَةٌ

2290. මලක්වරුන්

2291. (ජන්නාවට හෝ නිරයට) ආත්ම වෙලෙව්ව අයින් කරන මලක්වරුන්

2292. මලක්වරුන් ජිබ්රයිල්, මීකායිල්, ඉස්රායිල් ඉස්රාෆීල් අලෛහිමුස්සලාම් යන මලක්වරුන්

2293. පළමු හොරණෑ ශබ්දයට

2294. 6/73 අඩි. 297 බ.

9. ඇස්[2295] පහත හෙලෙත්තේය — ٩- أَبْصَارُهَا خَاشِعَةٌ

10. "කිම! අපි අපගේ පලමු තත්වයට පුන පමුණුවනු ලබන්නේම්ද"යි ඔවුහු[2296] කියත්තෝය. — ١٠- يَقُولُونَ أَإِنَّا لَمَرْدُودُونَ فِي الْحَافِرَةِ

11. "කිම! අප දිරූ ඇට වූවායින් පසුද? — ١١- أَإِذَا كُنَّا عِظَامًا نَّخِرَةً

12. "එසේ නම් තිසරූ පුනරාගමනයකැයි" කියති — ١٢- قَالُوا تِلْكَ إِذًا كَرَّةٌ خَاسِرَةٌ

13. ඇත්තෙත්ම, එය එකම හඬෙකි. — ١٣- فَإِنَّمَا هِيَ زَجْرَةٌ وَاحِدَةٌ

14. එවිට! ඔවුහු (විනිශ්චයට සපුරා) පුබුදු වන්නෝය. — ١٤- فَإِذَا هُم بِالسَّاهِرَةِ

15. මූසාගේ වෘත්තාන්තය නුඹට පැමිණියේද?[2297] — ١٥- هَلْ أَتَاكَ حَدِيثُ مُوسَىٰ

16. ඔහුගේ හිමි පරිශුද්ධවූ තුවා. නිමත ගුම්යෙහිදී ඔහුට අඩගැටනම: — ١٦- إِذْ نَادَاهُ رَبُّهُ بِالْوَادِ الْمُقَدَّسِ طُوًى

17. "ෆිර්අවුන් වෙතට යව්. ඇත්තෙත්ම ඔහු සීමාව ඉක්මවූයේය"[2298] — ١٧- اذْهَبْ إِلَىٰ فِرْعَوْنَ إِنَّهُ طَغَىٰ

18. "තෝ (පාපයෙන්) පිරිසිදු වන්ට කැමැත්තෙහිද?යි කියව. — ١٨- فَقُلْ هَل لَّكَ إِلَىٰ أَن تَزَكَّىٰ

19. මම තගේ හිමි යහමග වෙත තට මග පෙන්වන්නෙම්; එවිට තෝ බියවන්නෙහිය — ١٩- وَأَهْدِيَكَ إِلَىٰ رَبِّكَ فَتَخْشَىٰ

20. එවිට (මූසා) ඔහුට මහත් සලකුණ පෙන්වූයේය.[2299] — ٢٠- فَأَرَاهُ الْآيَةَ الْكُبْرَىٰ

21. එහෙත් ඔහු (ෆිර්අවුන්) ප්‍රතික්ෂේප කොට අකීකරු වූයේය. — ٢١- فَكَذَّبَ وَعَصَىٰ

22. පසුව ඔහු පිටු පෑ යත්න කළේය.[2300] . — ٢٢- ثُمَّ أَدْبَرَ يَسْعَىٰ

23. ඔහු ඔහුගේ (පුතියම්කාරයන්ද සේනාවද) රැස් කොට ප්‍රකාශණ කෙළේය [2301] — ٢٣- فَحَشَرَ فَنَادَىٰ

24. "මම තොපගේ අති උසස් ස්වාමීම්"යි කීවේය. — ٢٤- فَقَالَ أَنَا رَبُّكُمُ الْأَعْلَىٰ

---

2295. ඔවුන් හිමියන්ගේ ඇස්.

2296. පුනරුත්ථානය ප්‍රතික්ෂේප කළ අය.

2297. 20/9-98 බ.

2298. සූරා 20-24 සිට බ.

2299. 7/107 26/32 බ.

2300. ෆිර්අවුන් මූසා අලෙයිහිස්සලාම්ගේ උපදෙස් ප්‍රතික්ෂේප කොට ඔහුට විරුද්ධ දූය කරන්නට පටන්ගති:

2301. 20/60 බ.

25. එහෙයින් අල්ලාහු ඔහු පරලොවැ හා මෙලොවැ දඬුවමින් හසු කෙළේය.

٢٥- فَأَخَذَهُ اللَّهُ نَكَالَ الْآخِرَةِ وَالْأُولَىٰ ۝

26. ඇත්තෙන්ම, මෙහි අල්ලාහු තආලාට බහින කෙනෙකුට දහම්හි කමෙකි.

٢٦- إِنَّ فِي ذَٰلِكَ لَعِبْرَةً لِّمَن يَخْشَىٰ ۝

27. තොප නිර්මාණය කිරීමද අහස (නිර්මාණය කිරීම)ද වඩා අමාරුද එය(අහස) පිහිටෙව්වේය:

٢٧- أَأَنتُمْ أَشَدُّ خَلْقًا أَمِ السَّمَاءُ ۚ بَنَاهَا ۝

28. ඔහු ඉහල අහස් වියන මසවා එයට පූර්ණත්වය දුන්නේය:

٢٨- رَفَعَ سَمْكَهَا فَسَوَّاهَا ۝

20. එහි රාත්‍රිය අඳුරු කෙළේය. එහි (දාවල) ප්‍රභාව කෙළේය.

٢٩- وَأَغْطَشَ لَيْلَهَا وَأَخْرَجَ ضُحَاهَا ۝

30. එයට පැසුර භූමිය දිග්ගැස්සු වේය.

٣٠- وَالْأَرْضَ بَعْدَ ذَٰلِكَ دَحَاهَا ۝

31. එයින් එහි ජලය හා එහි තණබිම් බැහැර කෙළේය.

٣١- أَخْرَجَ مِنْهَا مَاءَهَا وَمَرْعَاهَا ۝

32. ඔහු කඳු ප්‍රතිෂ්ඨාපනය ස්ථිර කෙළේය.

٣٢- وَالْجِبَالَ أَرْسَاهَا ۝

33. තොපටද තොපගේ ගවේළක තුමේලකයනටද භෝග වශයෙන්:

٣٣- مَتَاعًا لَّكُمْ وَلِأَنْعَامِكُمْ ۝

34. එහෙත්, මහත් විපත්තිය[2302] පැමිණුණුත්ම;

٣٤- فَإِذَا جَاءَتِ الطَّامَّةُ الْكُبْرَىٰ ۝

35. මිනිස (මෙලොවෙහි) කළ සියලු දය සිහිපත් කන දින.[2303]

٣٥- يَوْمَ يَتَذَكَّرُ الْإِنسَانُ مَا سَعَىٰ ۝

30. සියල්ලනට පෙනෙනසේ නිරැ ගින්න තබනු ලබන්නේය.

٣٦- وَبُرِّزَتِ الْجَحِيمُ لِمَن يَرَىٰ ۝

37 යම් කෙනෙක් සීමාව ඉක්මවී

٣٧- فَأَمَّا مَن طَغَىٰ ۝

38. මෙලොව දිවිය තෝරාගනහොත්[2303A].

٣٨- وَآثَرَ الْحَيَاةَ الدُّنْيَا ۝

39. නිරයයි ඔහු නිවසන තැන.

٣٩- فَإِنَّ الْجَحِيمَ هِيَ الْمَأْوَىٰ ۝

40. තම හිමි සන්නිධානයෙහි (අන්තිම දිනැ) ඉදිරිපත්වීම ගැන බියවී(මෙලොව) පහත් ආශාවෙන් වැලකුනු අය නම්

٤٠- وَأَمَّا مَنْ خَافَ مَقَامَ رَبِّهِ وَنَهَى النَّفْسَ عَنِ الْهَوَىٰ ۝

---

2302. අන්තිම දින.

2303. මිනිසා මෙලොව සැප සම්පත්ති හිලි හිදීම කරණ කොට ගෙන එහි කළ කම් ගැන ඔහු නොසැලකුවේය. අන්තිම දිනැ ඔහුට දෙන ලද සඳහනින් ඔහුගේ හොඳ නොහොඳ කම් ගැන දැනගන්නේය.

2303A. සියලු සීමාවන් ඉක්ම අල්ලාහු තආලාට විරුද්ධවැ ද්‍රෝහිකම් කළ මෙලොවැ පහත් ජීවිතයෙහි ප්‍රමුඛත්වයෙහි හා කාමයාගවනයි ඇලුණු අයට සදා ලුවම් වන්නේය. මානසික දුර්වල කමින් හෝ කුඩා පාපයන් කරණ කොට ගෙන හෝ පශ්චාත්තාප වී සමාව කරනු ලැබුවාවූද ඔවුන් ගේ ක්‍රියා ඔවුන්ගේ යහ ක්‍රියාවන් හා සිරනු ලැබුවාවූද අයට මේ ලුවම නොපැමිණෙන්නේය.

41. ජන්නාවෙහි ඔහු නිවසන තැන

٤١- فَإِنَّ الْجَنَّةَ هِيَ الْمَأْوَىٰ ۝

42. ඔවුහු නුඹගෙන් පැය (අන්තිම දින) ගැන - එය වන්නේ කවදාදැයි අසති[2304].

٤٢- يَسْأَلُونَكَ عَنِ السَّاعَةِ أَيَّانَ مُرْسَاهَا ۝

43. එහි ප්‍රකාශනය ගැන නුඹට දැනුමක් කොහෙත්ද?

٤٣- فِيمَ أَنتَ مِن ذِكْرَاهَا ۝

44. එහි දැනුම නුඹ හිමි කෙරෙහිය.

٤٤- إِلَىٰ رَبِّكَ مُنتَهَاهَا ۝

45. එය බයවන්නාවූ කෙනෙකුට නුඹ ඔවාදකයෙක් පමණෙකි.

٤٥- إِنَّمَا أَنتَ مُنذِرُ مَن يَخْشَاهَا ۝

46. ඔවුන් එය[2305] දකින දිනැ ඔවුහු සවසක් හෝ උදෑසනක් හෝ මිස කල් නොගත කලාක් මෙන්යැ[2306].

٤٦- كَأَنَّهُمْ يَوْمَ يَرَوْنَهَا لَمْ يَلْبَثُوا إِلَّا عَشِيَّةً أَوْ ضُحَاهَا ۝

79 වන සූරාව අන්-නාසිආත් නිමි -

2304. 7/187 බ.

2305. පුනරුත්ථානය.

2306. ඔවුන්ගේ සිතිවලිනි

අබස: අසතුට පෙන්වූයේය.

عبس

මක්කාහිදී පහළවිය.

දයාළු පරමදයාළු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. අසතුටුවී හැරුණේය.[2307]

١-عَبَسَ وَتَوَلَّىٰ ۝

2. අන්ධ මිනිසෙක් ඔහු වෙතට පැමිණි නිසා.

٢-أَن جَاءَهُ الْأَعْمَىٰ ۝

3. නුඹට (ඔහු ගැන) කුමක් දන්වන්නේද? ඔහු පිරිසිදුවන්නට පුළුවන:

٣-وَمَا يُدْرِيكَ لَعَلَّهُ يَزَّكَّىٰ ۝

4. හෝ. ඔහු උපදෙස් ලැබ ඒ උපදේශය ඔහුට ප්‍රයෝජන වන්නට පුළුවන.

٤-أَوْ يَذَّكَّرُ فَتَنفَعَهُ الذِّكْرَىٰ ۝

5. තමා ස්වාධීනයයි.සිතන කෙනෙකු නම්-

٥-أَمَّا مَنِ اسْتَغْنَىٰ ۝

6. නුඹ ඔහු වෙත හැරෙන්නෙහිය:

٦-فَأَنتَ لَهُ تَصَدَّىٰ ۝

7. ඔහු පිරිසිදු නොවීමෙන් නුඹට (දෝෂයක්) නැත.

٧-وَمَا عَلَيْكَ أَلَّا يَزَّكَّىٰ ۝

8. නුඹ වෙතට උනන්දුවෙන් පැමිණි අය නම්-

٨-وَأَمَّا مَن جَاءَكَ يَسْعَىٰ ۝

9. ඔහු බියබැතිමත්ව,-

٩-وَهُوَ يَخْشَىٰ ۝

10. නුඹ ඔහු නොසැලකුවෙහිය.

١٠-فَأَنتَ عَنْهُ تَلَهَّىٰ ۝

11. එසේ නොකළ යුතුය: ඇත්තෙන්ම (අල්-කුර්ආනය) උපදේශයෙකි.

١١-كَلَّا إِنَّهَا تَذْكِرَةٌ ۝

2307: කුරෛෂ් ප්‍රධානීන් ඉස්ලාම් ධර්මය වැළඳ ගත්තොත් බොහෝ අනුගාමිකය කරන පෙළම ජනතාවත් ඉස්ලාම් ධර්මය වැළඳ ගනීය යනු නබි නායක තුමාගේ අදහස විය. එරත් නබි සල්ලල්ලාහු අලෛහි ව සල්ලම් උතුමා මිථ්‍යාදෘෂ්ටික කුරෛෂ් නායකයන්ට පරිශුද්ධවූ අල්-කුර්ආන් උපන්‍යාසයෙන් ගැඹුරු ලෙස විස්තර කරමින් සිටියදී ඉබ්නු උම්මිමක්තූම් නැමති දුක්ඛිත අන්ධ සහාබිවරයෙක් ඇවිත් එතුමාගෙන් උපදෙස් පෙව්වේය. මේ බාධාවට නබි තුමා අසතුටුවී ඉබ්නු උම්මිමක්තූම් ගැන නොසලකා හැරියේය.

12. සිතූ කෙනෙක් එයින් උපදෙස් ලබාගනිත්වා.
١٢- فَمَن شَاءَ ذَكَرَهُ ۝

13. ( එය - අල්-කුර්ආනය) ගෞරව පුස්තකයන්හියැ:
١٣- فِي صُحُفٍ مُّكَرَّمَةٍ ۝

14 ශ්‍රේෂ්ඨයැ: සුපිරිසිදුයැ:
١٤- مَّرْفُوعَةٍ مُّطَهَّرَةٍ ۝

15. ලේඛකයන්ගේ[2308] අත්වලින් (ලියන ලද්දේය)-
١٥- بِأَيْدِي سَفَرَةٍ ۝

16. ගෞරවාන්විත බැතිමත් (ලේඛකයන්).
١٦- كِرَامٍ بَرَرَةٍ ۝

17. (ප්‍රතික්ෂේප කරන) මිනිසාට ශාපය: ඔහු කෙසේ ප්‍රතික්ෂේප කෙළේද?
١٧- قُتِلَ الْإِنسَانُ مَا أَكْفَرَهُ ۝

18. කවර දෙයකින් (අල්ලාහු) ඔහු නිර්මාණය කෙළේද?
١٨- مِنْ أَيِّ شَيْءٍ خَلَقَهُ ۝

19. කලලයෙන් ඔහු නිර්මාණය කොට නානා තත්ත්ව යනට පත් කෙළේය[2309]
١٩- مِن نُّطْفَةٍ خَلَقَهُ فَقَدَّرَهُ ۝

20. පසුව ඔහුට මාර්ගය පහසු කෙළේය[2310]
٢٠- ثُمَّ السَّبِيلَ يَسَّرَهُ ۝

21. පසුව ඔහු මැරෙන්නට සලස්වා මිනීවළෙහි තැම්පත් කරවන්නේය.[2311]
٢١- ثُمَّ أَمَاتَهُ فَأَقْبَرَهُ ۝

22. පසුව ඔහු (අල්ලාහු) සිතූ කල්හි ඔහු පුනරුත්ථාන කරන්නේය.
٢٢- ثُمَّ إِذَا شَاءَ أَنشَرَهُ ۝

23. ඇත්තෙන්ම (අල්ලාහු) ඔහුට අණකළ දෙය ඔහු ඉටු නොකෙළේය.[2311A]
٢٣- كَلَّا لَمَّا يَقْضِ مَا أَمَرَهُ ۝

24. මිනිසා තම ආහාරය[2312] දෙස බලාවා.
٢٤- فَلْيَنظُرِ الْإِنسَانُ إِلَىٰ طَعَامِهِ ۝

25. අපි ජලය බහුල වශයෙන් වැස්සෙව්වෙමු:
٢٥- أَنَّا صَبَبْنَا الْمَاءَ صَبًّا ۝

26. පසුව. අපි පොළොව කඩින් කඩ විවර කොට
٢٦- ثُمَّ شَقَقْنَا الْأَرْضَ شَقًّا ۝

27. අපි එහිබෝග ජාතිද හටගැන්වූයෙමු.
٢٧- فَأَنبَتْنَا فِيهَا حَبًّا ۝

---

2308. නියමිත මලක්වරු 'ලව්හුල් මහ්ෆූල්' යන ආරක්ෂිත පලකයෙන් ජිබ්රීල් අලෛහිස් සලාම් විසින් ගෙනෙන ලද අල්-කුර්ආනය පිටපත් කළ මලක්වරු මේ ලේඛක 'බෛතුල් ඉස්සත්' යන ස්ථානයෙහි තබා ඇත. මෙයින්, විසි තුන් වසක් පාසා, වෙලාවට උචිත පරිදි ජිබ්රීල් අලෛහිස්සලාම් නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාට වහි ගෙන ආවේය:

2309. 22/5, 23/14 බ.

2310. මවගේ කුසෙහි සිට දෙරුවා නික්මවන මග.

2311. 7/25, 20/55 බ.

2311A. මේ සියලු ආශිර්වාදයන් හා අවස්ථාවන් අල්ලාහු තආලාගේ කරුණාවෙන්. මිනිසාගේ යහපත පිණිස සම්පාදනය කරන ලද නමුදු අකෘතඥ මිනිසා නිර්මාණයෙහි හා ජීවිතයෙහි අල්ලාහු තආලාගේ අභිප්‍රාය සපුරාලීමෙහි අසමත් වන්නේය.

2312. එය කෙසේ සම්පාදනය කරන ලද්දේ දැයි.

| | |
|---|---|
| 28. ද්‍රාක්ෂද පෝෂ්‍යකර පැලෑටිද | ٢٨- وَعِنَبًا وَقَضْبًا ۝ |
| 29. ඔලිවද ඉඳිද | ٢٩- وَزَيْتُونًا وَنَخْلًا ۝ |
| 30. ( උස් ගසින් පුත්) ගැසුණු වතුපිටිද | ٣٠- وَحَدَآئِقَ غُلْبًا ۝ |
| 31. (වෙනත්) පලතුරුද තණ පිට්ටනිද | ٣١- وَفَٰكِهَةً وَأَبًّا ۝ |
| 32. තොපටද තොපගේ ගවේලක කුමේලකයනටද භෝග වශයෙන්(හටගැන්වූයේය). | ٣٢- مَّتَٰعًا لَّكُمْ وَلِأَنْعَٰمِكُمْ ۝ |
| 33. අන්තිමේදි (කන් බිහිරි කැරෙන) මේ ගැප්ම පැමිණි කල්හි[2313]. | ٣٣- فَإِذَا جَآءَتِ ٱلصَّآخَّةُ ۝ |
| 34. මිනියා තම සොහොයුරා ගෙන් පලා යන දිනැ | ٣٤- يَوْمَ يَفِرُّ ٱلْمَرْءُ مِنْ أَخِيهِ ۝ |
| 35. තම මවගෙන්ද තම පියාගෙන්ද. | ٣٥- وَأُمِّهِۦ وَأَبِيهِ ۝ |
| 36. තම අඹුවගෙන්ද තම දරුවන්ගෙන්ද:[2314] | ٣٦- وَصَٰحِبَتِهِۦ وَبَنِيهِ ۝ |
| 37. ඔවුනතුරෙන් සැම මිනිසකුටම එදිනැ ඇතිකාරණ කටයුතු ඇත්තේය:[2315] | ٣٧- لِكُلِّ ٱمْرِئٍ مِّنْهُمْ يَوْمَئِذٍ شَأْنٌ يُغْنِيهِ ۝ |
| 38. එදිනැ (ඇතැම්) මුහුණු පැහැපත් වන්නේය. | ٣٨- وُجُوهٌ يَوْمَئِذٍ مُّسْفِرَةٌ ۝ |
| 39. සිනහසෙමින් හා සන්තෝෂයෙන්. | ٣٩- ضَاحِكَةٌ مُّسْتَبْشِرَةٌ ۝ |
| 40. ( තවත්) මුහුණු- එදින- එමතදූලි. | ٤٠- وَوُجُوهٌ يَوْمَئِذٍ عَلَيْهَا غَبَرَةٌ ۝ |
| 41. අඳුරතාවය එය මතයැ. | ٤١- تَرْهَقُهَا قَتَرَةٌ ۝ |
| 42. මොවුහුය නපුරුකම් කරන්නෝ: ප්‍රතික්ෂෙපකයෝ. | ٤٢- أُو۟لَٰٓئِكَ هُمُ ٱلْكَفَرَةُ ٱلْفَجَرَةُ ۝ |

- 80 වන සූරාව අබස නිමි -

2313. අන්තිම දිනැ විනිශ්චය ප්‍රකාශය පෙරවූ.

2314. මේ ජීවිතයෙහිවූ ඔහුගේ සහ ලේ නෑයෝවත් ඔහුගේ සොහොයුරන්තයෝවත් ඊ භයානක දිනයෙහිදී ඔහුට අධාරකරන්නට හෝ ඔහු ඔවුනට ආධාරකරන්නට හෝ නොහැකිය.

2315. මෙරමා සලකන්නට ඔහුට නොහැකිය.

අත්- තක්වීර්. හැකිළීම.

التكوير

මක්කාහිදී පහළවිය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

1. සූර්යයා හකුළනු ලැබූ කල්හි.[2316]

١- إِذَا الشَّمْسُ كُوِّرَتْ

2. තාරකාවෝ (අලෝකයෙන් තොරව) ගිලිහෙන කල්හි:[2316]

٢- وَإِذَا النُّجُومُ انْكَدَرَتْ

3. කඳු (මිරිඟු දියක් මෙන්) අතුරුදහන් වන කල්හි:[2317]

٣- وَإِذَا الْجِبَالُ سُيِّرَتْ

4. දසමාසික ගැබ්බර ඔටුවෙනුන් නොසලකා අත්හැර දමනු ලද කල්හි:[2318]

٤- وَإِذَا الْعِشَارُ عُطِّلَتْ

---

2316. සූර්යයාගේ ආලෝකය පහවෙනවා. ආයා 1 සිට 13 දක්වා අදාළවන වාක්‍යයන එහි නාමවා එකය 14 වන ආයාවෙහිය, අපදන්නා හැටියට ස්වභාව ධර්මයේ ප්‍රක්‍රියාවේ ක්‍රියා කරණය නතර වන වේලාවක් පැමිණෙන්නේය. එවිට ආත්මය ඉබේ වැටහීමෙන් පමණක් තම ක්‍රියා ප්‍රතිඵලයන් දැනගන්නේය. පෞද්ගලික ආත්මයක් ගැනනම්: එහි අභ්‍යාවිච අර්බුදාවස්ථාව පුනරුත්ථානය. සකල ඉන්ද්‍රිය ලෝකය හා සංකල්පනයක් ප්‍රදොවක් පවා උණුවියෙයි.

2316. හසරත් ඉබ්නු අබ්බාස් රලියල්ලාහු අන්හු මහුගේ මිවායක් පරිදි තාරකාවෝ අහසටද පොළොවටද අතර. ගුවනෙහි එල්ලා ඇත. මේ තාරකා තරු රෙයාකි නැමති දම්වැල්වලින් බඳනා ලදුවූ ගුවනහි වූ මලක්කුන්ගේ අත්වලින් දෙනලදී. ඔවුහු මේවා බිම නොවැටෙන සේ ඇද අල්වාගෙන සිටිති. තවද ලෝක විනාශයේදී සියල්ල විනාශවනවිට මේ තාරක තරු අල්වාගෙන සිටින මලක්කුද මැරී ඇද වැටෙති. එහෙයින් ඔවුහු හමුම ඇද වැටෙති.

2317. සූරා LXXVIII. 20. බ. අපේ මේ පෘථිවියේ ඉතා ස්ථිරසාර කැපී පෙනෙන උදාහරණ වශයෙන් පෙනියන්නේ 'සදාකාලික කඳුය' එහෙත් එවා පවා මිරිඟු දියක් සේ මෙහි නොපැවතුනක් මෙන් අතුරුදහන් යනු අදහසි. කඳු සිඳුරණ කැතින් වෙන හැකාව මරුවෙයි. කඳු ගුවනෙහි වලාකුළුමෙන් පියැඹා යැම ඉහළින් විවරණය කරන ලදී. මේ ආයාවෙහි එය එසේ අදහස් නොකරන ලදී. මේ ආයාවෙහි අදහස් කරන ලද. පළමුවෙනි වතාවේ 'සූර්' නම් හොරණෑව පිම්බාව පැසුර සිදුවෙයි. අනික් සම්භවය දෙවන වර සූර් නම් හොරණෑව පිම්බාසින් පැසුර සිදුවේ.

2318. අරාබි හිතියාගේ වස්තුවේ ආදර්ශය එමෙන්ම අරාබි ජාතිකයාගේ සුරතල් සතා යේ ආදර්ශය ඔටුවාය. තවද ඉතා අගනා ඔටුනම් හාගා වඳින්නාව සිටින ඔටුවෙනායැ. ඕ සාමාන්‍ය අවස්ථාවල ඉතා හිතැතකයාසිට මහත් සැලකිල්ලෙන් පරිපෝෂණය කැර. බලාගන්නා ලදු ලැබුවා. දූත් මෙන් කිසිවක් එවකැ නොවේ.

දසමස් පිරෙන ඔටු දරු සමඟ ඔටු දෙනාට 'ඉෂෝර යනු නමැ'උෂරා උ' යනු එහි බහුවචන. දසමස් ඔටු දරුවා සමඟ ඇයව ප්‍රසව කරන තෙක් මේ නම කියන ලදී. මෙබඳු ඔටු දෙන්නුයැ අරාබි ජාතිකයනට. අගනා වස්තු ඔවුන්ගේ ජීවනෝපායට ප්‍රධාන වස්තුව වූයේ මෝ ඔටුදෙනායැ. මේ ලෝක සන්නිවාසය අවසන්වන කල්හි එහිනෙකානට තම තමාගේ වස්තුව රැකබලාගෙනීමේ ආශාව සිඳෙන්නට බැරිය. එහෙයින් අරාබි ජාතිකයා මහුගේ ප්‍රධාන වස්තුව යයි සලකනු ලබන ගැබ්බර ඔටුදෙන පවා නොසලකා අත්හරිනු ලබන්නිය. එසේ හෙයින් එදිනැ නිසිදුනුකම මේ ආයාවෙන් පැහැදිලි වෙයි.

| | |
|---|---|
| 10. පුස්තක තවද විවෘතකොට තැබූ කල්හි.[2323] | ١٠- وَإِذَا الصُّحُفُ نُشِرَتْ ۝ |
| 11. ඉහල ලෝකයේ අහස්වැස් මද ඉවත් කරනු ලැබූ කල්හි දෙලෙන ගිනි ජවලාව හා ජන්නාව.[2324] | ١١- وَإِذَا السَّمَاءُ كُشِطَتْ ۝ |
| 12. දෙල්වෙන ගින්නද තද උණුසුමෙන් ඵවලෙන කල්හි.[2325] | ١٢- وَإِذَا الْجَحِيمُ سُعِّرَتْ ۝ |
| 13. ජන්නාවද ළඟා කරනු ලැබූ කල්හි[2326] | ١٣- وَإِذَا الْجَنَّةُ أُزْلِفَتْ ۝ |
| 14. එවිට සැම කෙනෙක්ම තම තමන් ඉදිරිපත් කළ දැයද දනිති [2327] | ١٤- عَلِمَتْ نَفْسٌ مَّا أَحْضَرَتْ ۝ |
| 15. වක්‍රවන ග්‍රහයන් ප්‍රමණ කොට![2328] | ١٥- فَلَا أُقْسِمُ بِالْخُنَّسِ ۝ |
| 16. උදාවී අස්තංගතවන තාරකා | ١٦- الْجَوَارِ الْكُنَّسِ ۝ |

---

2323. මිනිසුන්ගේ යහපත් අයහපත් සියලු ක්‍රියා ලද පුස්තක ඔවුන් සියල්ලන් ඉදිරියෙහි විවෘත කොට තබනු ලැබේ සූරා 1.17-18:

Lxxxii 11-12 හි. මේ වර්තමාන විද්‍යමානකාර මායාකාරී ලෝකයෙහි දැ (දුවන) තැනිය හැක. එහෙත් පරම යථාර්ථ ආත්මික ලෝකයෙහි සැම යන අයහපත්වක් එදිදරවී කැරනු ලැබෙන්නේය ක්‍රියාවන්ගේ පිහිටු කායික අද්දිව දෙගේ නොපෙනිය හැකි ආත්මික වේදනාව් නොසැලකිලිකම හෝ උදවිව එදිදරවීකරනු ලබන්නේය. ආත්මය පිළිබඳවූ ආත්මික, ගෙය - ඊ ඉහලින් ගෝ පූර්ණිය ඵලය සැලසෙද්දෑ.

2324. ඉහළ ලෝකය - පදාර්ථ වියයන් වෙනුවෙන් ඇති අහස හෝ ස්වර්ග ඉහළ ලෝකය - පදාර්ථ වියයන් දෙලෙන ගිනි ජවලාව හා ජන්නාව හා වෙනුවෙන් ඇති අහස හෝ ස්වර්ගය පරලොව නිවස. ඊ ඉහලින් හෝ පූර්ණිය ඵලය සැලසෙද දැ එයට විශාම දුන් තුනී තිල නාගවියයන් වූ මායාවද මේ මායාලෝකයෙහි ආත්මික ඇසින් අපගත කරනු ලබන්නේය. සිරියන් පසඟතුගේ සම දලාශයෙදු කල උගේ සැරි මාංසයද ලෙයන හා අන්තරාංශයන්ද හා එය එදා සිතිමට පිට වැස්මින් තොමැසිවු දක්නමාන වන්නේ යම්සේද ආත්මික ලෝකයෙහි අත්තර් සම තත්ත්වය එසේම පැහැදිලි වන්නේය. මේ භූ ලෝකයවද රාජාසනයවද නොව. අහස් වියන්තරා මෙන් පවති. පුනරුත්ථාන දිනෑ මේ අහස් අපගතකරනු ලබන්නේය. මිනිසා රාජාසනයද ස්වර්ගයද නිරයද ඇසිමට මෙවිට නොව. ඇසි වියන්තරා එවිට ඇසිවිය නොහැකිය.

2325. එවිට අත්තර් නිරය ගිනි ඇවිලෙන්නේය. පැවසින්නාව වෙනසරුවූ ආත්මික පරිසාපයේ කැබිල එල පිදුවියු. විතිස්වය දිනව පැසව ප්‍රතිසඥප කළ ගය යෙදු පිහිස පුනරුත්ථාන දිනෑ නිරයෙහි කද ගින්නද ඇවිලී ඇවිලී වෙන වනු පිහිස ඊ වසනු ලැබේ. නරකය දැනුදු පවති. එදිනෑ එහි ගින්න අධික ලෙස මොලවනු ලැබේයි යනු මෙයින් ගම්‍ය මානවෙයි වාදීහු නිරය දැන් නැතැයිද පුනරුත්ථාන දිනෑම එය උත්පාදනය කරනු ලබන්නේයයිද වාදය කෙරෙති. ඔවුන්ගේ මේ වාදය මේ ආයාවට ඉතුරාම විරුද්ධය.

2326. රූපකයන්ගේ අන්සිමයු - ආශිර්වාදිත ජන්නාව අල්ලාහු සනොලාංගේ වස්තු ලෝකය (xcii). 20 දර්ශනය පැමිණෙන්නේය. ,-නාඋම සම්ප්‍රාප්ත ගෞව් එහෙත් දර්ශනීයයු පහසුකාස් ගොහ කරන ලද්දෙය. 'දැන් කරාදී කුට ඇසින් සිලිකියු. ආත්ම ගතමේ තමාම දනී ස්වර්ගය ඔිය හැකියන්නේ පැත්තෙතු ඇසිසේ එයට සමීපයෙහි ඔවුනු සිදුවනු ලැබෙන්නෝය. ස්වර්ගය ඔවුනව දුරයෙහි ඇසිවිය නොහැක යන අර්ථ ස්වර්ගය ඇති තැනමයු ලැස්සේ එය ඇසි ස්ථානයන් පහතොව ග්‍රහණය කළ නොහැක එයේ යෙඩින් ඔිය හැකියෝ එයට සමීපයෙහි කරනු ලැබෙයිසි කෙසේ රස්මුල්ලාහ් කියා ඇත. මේ අදාළේ ගෙයාවන්හි අදාලේ සම්කාව කෙයෙකස් දක්වන ලද්දාහ. මොවුනු තතුරෙන් භට සම්කාව කොතෙක් මේ ලෝකයෙහිම පලවිවර. අනාරණුල පිළිමටද දෙවනවර. පිහිනු ගොරණුල පිඹිනු ලැබීමට පසුව සිද්ධ සම්කාව කෙනෙතැයි කියන ලද්දාහ. ජනතා තමන්ගේ අන්තර්වියෙහි සිටින කල්හි පුනරුත්ථානය වන්නාව පෙර නිමිති සයක් පහළ වෙයි. එවිට සූර්යයාගේ ප්‍රභා ප්‍රකාශය අතුරුදහන් වෙයි. ඊ එලෙස ඇසිවන කල්හි තාරකා ගිලිහී ඇද වැටෙයි. ඒවා එලෙස වන කල්හි කඳු පොළොව මත ගිලිහී ඇදවැටෙයි. කම්පාව හටගැනෙයි. ජින්නු මිනිසුන් වෙතද මිනිසුන් ජින්නුන් වෙතද බියෙන් දිව එති. මෘගයෝද පක්ෂීහුද සිංහයෝද ඔවුනොවුන් එකතුවී ලෑ ගෙති. එවිට ජින්නු මිනිසුන් වෙත ගොස් 'අපි කොපව පවුරු ගෙන එන්නෙමුයි කියා මුහුදෙහෙන් සිටි අමාරයෙන එති. එවිට ඊ සමුද්‍රය ගින්නෙන් පැසෙමින් පවති. මෙලෙස ඇසි කල්හි භූමියෙහි මහා නැවුමක් වෙයි. මේ භූමිය සත්වන භූමිය සමග සම්බන්ධව වී පසුව සත්වන අහස සමඟව උස් වෙයි. මේ සැඳෑගියෙහි මහා සුළඟක් ඇවිත් එසියල්ල විනාශ කෙරෙයි. මෙසේ ලිමුන්නගේ පිලියෙහි කියන ලදී.

2327. එදින සැම දෙනාම තම තමන් කළ හොඳ නොහොඳ ක්‍රියාවන් දැනගනිති. ඔවුනු කෙසේ හෝ දැනගනිති යන්න ගැන විවරණ මෙහි නොකියන ලද්දේ නමුදු වෙන ආයාවන්හි සිට 'ඔවුනු තමන්ගේ ක්‍රියාවන් ලියන ලද වට්ටෝරු බලකොට හෝ ඊ ක්‍රියාවන් දෙකොට හෝ දැන ගනිති. මෙලොව මිනිසා කරන ක්‍රියාවන් ඇසට නොපෙනෙන දේය. එහෙත් පරලොව ඒවා මූර්තිමත් දේයු. මේ මූර්තිමත් ඊ ඊ ක්‍රියාවන්ගේ කරාසිරමව ගැළපෙන සේ ලක්ෂණ යහා අවලක්ෂණ හෝ වෙති' යන්න ගැන ප්‍රත්‍යයෝ පැහැදිලි ලෙස කියා ඇත. ඔවුන් කියන ලද්දෙහි සාරාංශය ඉහළ කියන ලද්දේ නමුදා මෙහි විවරණ එහි සලසාදැනගත යුතු. 'තම තමන් ඉදිරිපත් කළ දැය' යනු 'ඔවුන්ගේ අත් ඉදිරිපත් කළ දැය' යනුයි සූරා 78. 40. බ.

27. මෙය සකල ලෝක වාසීනට සිහිවටනයක් මිස නොවන්නේය.[2340]

٢٧- إِنْ هُوَ إِلَّا ذِكْرٌ لِّلْعَٰلَمِينَ ۝

28. තොප අතුරෙන් ඍජු මාර්ගය කැමති වන කවරෙකුහට වුවද[2341]

٢٨- لِمَن شَآءَ مِنكُمْ أَن يَسْتَقِيمَ ۝

20. සකල ලෝක ස්වාමිවූ අල්ලාහු කැමතිවන්නා හැර තොපි කැමති නොවන්නාහුය[2342]

٢٩- وَمَا تَشَآءُونَ إِلَّآ أَن يَشَآءَ ٱللَّهُ رَبُّ ٱلْعَٰلَمِينَ ۝

- 81 වන තක්වීර් සූරාව නිමි -

2340. සකල ලෝකවාසීන් යනුවෙන් මනු ජින් සහ දෙවර්ගය හඟවා මේ දෙවර්ගයටයැ රාජයා ශ්‍රී කුර්ආන් දේශනා පහළ කෙළේ.

2341. මේ දේශනයේ අය සංවර්ගය දල්වාගෙන ඍජු පාදය මැදෙද ගන්නට කැමැත්තුට යැ ශ්‍රී කුර්ආන් උපදේශය ප්‍රයෝජන වන්නේ.

2342. මේ ආයාව අබූජහල් කණුහුනු කෙනෙහි 'සායෝසිය මා ළඟ කම්යි ඇත්තේ! මා දුටුවොත් කම්යි කෙළින් දුටුවෙමි. මා නුදුටුවොත් කෙළින් නුදුටුවෙමි.' යනු කිය එවිට රාජයා මේ ආයාව පහළ කෙළේය.

ඉන්ෆිතාර්: විවරවීම

الانفطار

මක්කාහිදී පහලවිය.

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ

1. අහස විවර වූ කල්හි:

١- إِذَا ٱلسَّمَآءُ ٱنفَطَرَتۡ

2. තවද තාරකා තරු ඇද හැළුණු කල්හි;[2343]

٢- وَإِذَا ٱلۡكَوَاكِبُ ٱنتَثَرَتۡ

3. තවද සමුද්‍රරු උතුරා යන කල්හි[2344]

٣- وَإِذَا ٱلۡبِحَارُ فُجِّرَتۡ

4. සොහොන් ගබ උඩුයටි කුරු කරනු ලබන කල්හි[2345].

٤- وَإِذَا ٱلۡقُبُورُ بُعۡثِرَتۡ

5. සෑම කෙනෙක්ම ආත්මයක්ම ඔහු ඉදිරිපත් කල දෙයද අත පසු කල දෙයද දන්නේය[2346].

٥- عَلِمَتۡ نَفۡسٞ مَّا قَدَّمَتۡ وَأَخَّرَتۡ

---

2343. සූරා Lxxxi. 1-14 ස.බ. මේ භෞතික ලෝක සන්නි වාසය සහාවූ අද්‍යාත්මික විද්‍යාමානයාව පිහිටුවමින් අන්තිම විනිශ්චය දිනට පෙර විනාශ කරනු ලබන්නේය. විනිශ්චය දින හටගන්නට පෙර මේ සකල ලෝක සන්නි වාසය විනාශ වී පසුව නව නිර්මාණයක් හටගන්නේය. එසමයෙහි පළමු කොට විනාශවන්නේ ඉහළ ලෝකයෑ ඒ කෙසේදයත් යමෙක් ගෙයක් කඩා එය අලුත් වැඩියා කරන්නට සිතුවහොත් පළමුකොට ඔහු එ ගෙහි මුදුන බලා එහි වහල වෙන් කරන්නේය. ඔහු එය වෙන් කරන කලැ මුදුනෙහි ඇති සියලු දැව දඬු කාණ්ඩ බිමට වැටීම ස්වභාවය.

එලෙස මේ ලෝකය විනාශවන කල්හි පළමුව අහස විවරවෙයි. පසුව එහි ඇති තාරකා තරු ආදිය පොළොව මත ඇද හැලෙයි. මේ විවරණ දෙක සිටාව පසු. පසුව එන ආයාවන්හි මේ ලෝක විනාශය ගැන විවරණය සියනු ලැබේ.

2344. සමුද්‍රරු සකල භූගෝල නිමග්නකරන්නේයරූපක වශයෙන් විවිධ කුඩා මහත් ප්‍රදේශ ඇල දොළ එකම අයකාය ප්‍රදේශයෙහි සම කරනු ලබන්නේය. දෛවික ආලෝක සොත්‍රය දරන්නේය.

2345. සකල දකිව කාමය කොපමණ වෙනස් කරනු ලබන්නේද සිවහොත් මරණය පවා මරණය නොවන බව මෙහි ප්‍රාරම්භිකය. මරණයෙන් උප ශාන්තිය වන්නේ යයි අපි සිතමු. එහෙත් එහි උප ශාන්තියක් නැත්තේය. වචනාර්ථ විසින් හා රූපක වශයෙන් මරණය නව ජීවනයක පවත් ගැන්වියෑ. අප මරණයයි සිතන්න ජීවනය ගෙන දෙන්නේය.

2346. අතීත් ජීවිතය ගැන ඉදිරිපත් කරන ලද අද්‍යාත්මික ගතකාවයන් මේ ජීවිතයෙහි ඔහු ආවම්බරවූ භෞතික වස්තු.

6. එම්බා මිනිස! ඔබගේ ත්‍යාගශීලී හිමි ගැන ඔබ නොසැලකිලිමත් කෙළේ කුමක්ද?[2347]

٦- يَا أَيُّهَا الْإِنسَانُ مَا غَرَّكَ بِرَبِّكَ الْكَرِيمِ ۝

7. තා නිර්මාණය කොට තා ආරෝහ පරිණාහයෙන් හැඩ ගැස්වූ (ඇබූ) ඔහු තට සාධාරණ පක්ෂපාතවයක් දුන්නේය.[2348]

٧- الَّذِي خَلَقَكَ فَسَوَّاكَ فَعَدَلَكَ ۝

8. කොබඳු ස්වරූපයකින් ඔහු සිතන්නේද එයින් තනයිම් තා හැඩගස්වන්නේය.[2349]

٨- فِي أَيِّ صُورَةٍ مَّا شَاءَ رَكَّبَكَ ۝

9. නො එසේ නෙපි අන්තිම තීරණ දින ප්‍රතික්ෂේප කරන්නාහුය[2350]

٩- كَلَّا بَلْ تُكَذِّبُونَ بِالدِّينِ ۝

10. තවද ඇත්තෙන්ම. තොප කෙරෙහි ආරක්ෂක (මලක්වරු) පත් කරනු ලබන්නේය[2351].

١٠- وَإِنَّ عَلَيْكُمْ لَحٰفِظِينَ ۝

---

2347. 'එම්බා මිනිස, උපකාර හිමිහට ඔබ කාරිවූ ඔබ වෙනස්වන ලෙස ඔබ වෙනස් කළේ කුමක්ද? එනම් ඔබට උපකාර කළ ඔබගේ හිමිහට ඔබ වෙනස්වීම සුදුසු නැත' යනු අදහසි. හසරත් අලී රළියල්ලාහු අන්හුට එක වහල් කොලුවෙක් සිටියේය. ඔහු වාසල් දොර තුන් වරක් අලී රළියල්ලාහු අන්හු ඔහුට කීප වරක් අඬගැසුවේය. ඔහු (එයට) පිළිතුරක් නොදී ඒ අඬගැසීම නොසලකා හැරියේය. එවිට අලී රළියල්ලාහු අන්හු 'තව මා කිහිප වරක්ම අඬගැ නමුදු පිළිතුරක් නොදී සිටීමට කාරණය කිමෙක්ද? යි කී කල්හි ඔබතුමාගේ ශාන්ත භාවය ගැන මගේ විශ්වාසය හා ඔබ දඬුවම් නොකරන්නෙහිය.' යි මම නොඅසා සිටියෙමියි පිළිතුරු දුන්නේය. ඔහුගේ මේ දක්ෂ පිළිතුර ගැන හසරත් අලී රළියල්ලාහු අන්හු ඔහුට සමාව දී ඔහු වහල් භාවයෙන් මිදුවේය.

2348. පෙළෙහි 'සව්වාක්' යනු අවයවයන්හි කොහිම අඩුකමක් නොමැතිව එනම් ඒ ඒ කාර්යයනට ඒ ඒ අවයව නිර්මාණය කරන ලද්දේද ඒ ඒ කාර්යයනට ඒ ඒ අවයව උපයෝග කල හැකිසේ හැඩගස්වන ලද යන අර්ථයි. පෙළෙහි අද ලක, යනු ඒ ඒ අවයව කොපමණ දිග හෝ කොපමණ පළල විය යුතුද ඒ ඒ ප්‍රමාණයට ඒවා හැඩගස්වන ලදී. ප්‍රමාණයට නොගැලපෙන නොහැඩගස්වන ලදී යන අර්ථයි. සූරා 15.29. බ. අල්ලාහුතාලා මිනිසා නිර්මාණය කළා පමණක් නොව, ඔහු ආරෝහ පරිණාහයෙන් හැඩ ගැසී අඩුයේය. ඔහුට ඔහුගේ උපස් දිවිය සපුරා ලන්නට හැකිවන විධියට ඔහුට විශේෂ බල පුරවන් කම් දෙන ලදී. අදලයන් ගැන සූරා Vi 1. බ (එහි ය අදිලුන් කියා ඇත.) අපට ධීමත නිදහස් නියතයක් දී අපේ පුනුවෙන් හා අද්‍යාත්මික ඉන්ද්‍රියයන්ගෙන් අපට සාධාරණ පක්ෂපාතත්වයක් දෙන ලදී. අපි වැරදි කරන්නෙමු. නම් එවිට අපේ නියතයැ වරදෙහි.

2349. ඔහු සිතූ ස්වරූපයෙහි කළුවට හෝ රතුවට හෝ ලක්ෂණට යහෝ අවලක්ෂණට හෝ අඟුටු මිට්ට හෝ දික්වූ හෝ කෙසඟවහෝ තරබාරුව හෝ නිර්මාණය කරන ලදී. යන අර්ථයි

ස්වරූපය,

ස්වරූපයෙහි, 'ඉල්ම්' (ඥාණ (දැනය))

ස්වරූපයෙහි, 'රූහ්' (ආත්මය)

ස්වරූපයෙහි, 'මිදුලි (පෙර පැවසි ස්වරූපය.)

ස්වරූපයෙහි, 'ජිස්ම් (ශරීරය සම්බන්ධ උරුවම)

යයි ස්වරූපය සිවුවදෑරුම් වෙයි.

ඔහුගේ ශාරීරික හා සමාජීය පරිසරය.

ඔහුගේ සිතේ ආත්මයේ සංහතිලය ඔහුගේ ශාරීර හා අන්තර් ජීවිතයට ඇතුළත් දෑය ස්වරූපය (සූරත්) යන්නෙන් මම අදහස් කරමි මේ සියලු දෑයෙහි අල්ලාහු තආලාගේ අනුග්‍රහය පෙන්වන ලදී. ඔහුගේ නියතය පූර්ණ ප්‍රඥාවෙන් හා යහපතින් සාධිතයැ.

2350. ඔහුගේ සියලු සතුන් කෙරෙහි අල්ලාහු තආලාගේ සහ සත්වය හා ඔහුගේ අනුග්‍රහය කරණ කොට ගෙන මිනිසා ඔහුට කෘතඥ විය යුතුයි. ඒ වෙනුවට ඔවුහු ප්‍රක්තියට පිටුපා වර්ග කිරීමේ දින ප්‍රතික්ෂේප කෙරෙති. මෙහිදී කළ පැම ක්‍රියාවකටම මෙදිනැ සාධාරණ ඵල විපාක හෝ දඬුවම් ලැබෙන්නේය.

2351. මිනිසුන් කරන ක්‍රියාවන් සටහන් කැර. ඔවුන් ආරක්ෂා කිරීමට රාජයා විසින් නියම කරන ලද මලක්වරුන් මේ ආයාවෙහි සඳහන් කෙරේ.

11. (තොපගේ ක්‍රියාවන්) සටහන් කරන ගෞරවනීය සටහන් කරුවන්[2352] — ١١- كِرَامًا كَاتِبِينَ ۝

12. තොප කරන දෑ ඔවුහු දනිති (වටහති)[2353]. — ١٢- يَعْلَمُونَ مَا تَفْعَلُونَ ۝

13. ඇත්තෙන්ම, යහකම් කරන්නවූ ආශිර්වාද යෙහිමය[2353] — ١٣- إِنَّ الْأَبْرَارَ لَفِي نَعِيمٍ ۝

14. තවද ඇත්තෙන්ම, නපුරු කම් කරන්නවූ නිරයෙහි මය.[2354] — ١٤- وَإِنَّ الْفُجَّارَ لَفِي جَحِيمٍ ۝

15. විපාක දෙන දිනැ ඔවුහු එහි ඇතුළුවන්නෝය. — ١٥- يَصْلَوْنَهَا يَوْمَ الدِّينِ ۝

16. ඔවුහු එයින් වැළකී සැඟවෙන්නට නොහැක් කෝමය[2355]. — ١٦- وَمَا هُمْ عَنْهَا بِغَائِبِينَ ۝

17. විපාක දෙන දින යනු කුමැයි නුඹට විස්තර කරන්නේද? — ١٧- وَمَا أَدْرَاكَ مَا يَوْمُ الدِّينِ ۝

18. පැසුළු විපාක දෙනදින යනු කුමැයි නුඹට විස්තර කරන්නේද? — ١٨- ثُمَّ مَا أَدْرَاكَ مَا يَوْمُ الدِّينِ ۝

19. කිසිවෙක් කිසිවකුට කිසිවකින් උදව් නොකරන දින.[2356] — ١٩- يَوْمَ لَا تَمْلِكُ نَفْسٌ لِنَفْسٍ شَيْئًا ۖ وَالْأَمْرُ يَوْمَئِذٍ لِلَّهِ ۝

- 82 වන සූරාව ඉන්ෆිතාර් නිමි -

---

2352. තමාට මග පෙන්වීමට මිනිසා දෙන ලද ඉන්ද්‍රියයන්ද, අල්ලාහු තආලාගේ සන්නිධානයට කවින් කට එළඹිය හැකි ස්වරූපය හා පුද්ගල භාවය හැර. තමාට උදව් කිරීමටද අන්තිමේදී සාධාරණ ප්‍රශ්නිය ඉටුවනයේ තමාගේ සටහන සටහන් කර තබන ආත්මික තහාවරු තමා වටා ඇත්තාහ. මේ ආරක්ෂක මලක්වරුන් ගැන සූරා 50, 17-18 බ. ඇත්තෙන්ම, සටහන රූපයායැ එහෙත් මිනිසාගේ යහකම් සම්පූර්ණ සාධාරණය ඉටු කළ හැකි වෙයි. අල්ලාහු තආලාගේ භුවණ සව් සම්පූර්ණය පටගන් වලින් තොරයැ.

2353. 'තොප කරන දෑය'යනුවෙන් සාමාන්‍යයෙන් සියන උද්දෙන් කුඩා මහත් හොඳ නොහොඳ ආදී විවිධ කායික ඇඟැවෙයි.

2353. තමාගේ විශ්වාසයෙහි සත්‍ය ලෙස පිවැ අභ්‍යාවශ්‍ය (පර්ද්) දෑය සපුරා පව්කම්න් වැළකුණ අය යහකම් කරන්නවූ යන පදයෙන් හැඟවේ. නයිම් (භාග්‍යය ඇත්සේය.) හෙවත් ආශිර්වාදය යනුවෙන් ස්වර්ගය හැගවෙයි.

2354. පෙළෙහි 'ෆුජ් ජාර්'යනු 'ෆාජිර්' යනුයෙහි බහු බසි. සංමාර්ගයට එකග නොවැ කැඩී බිඳී බෙදී අයට 'ෆාජිර්'යි නමෙති. එහෙත් මේ පදයෙන් දුර්මාර්ගිකයා, දුෂ්ටයා කියැවේ.

2355. ඒ වේදනාවෙන් ඔවුහු කිසි විටෙකත් නොවැළකෙත්.

2356. තමාගේ වස්තුවද දරුවන්ද යෙනැ තමාට පැමිණෙන මේ බන්ධනය අල්වාගත් දැත්මෙන් එදිනැ අල්වා ගත නොහැක රත් හෝ වස්තුව හෝ අඹුදරු නෑහැදෑයෝ හෝ එදිනැ උදව් නොකෙරෙති. සියලු කායික අල්ලාහු තආලාගේ අණ පරිදි සිදුවේ. වෙන අයගේ ආදරය එදින එහි දකින්නට නොලැබේ.

## අල්-මුතෆ්ෆිෆීන් (වංචාකිරීම)

التطفيف

මක්කාහිදී පහළවිය

දයාළු පරමදයාළු අල්ලාහ්ගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. වංචා කරන්නවුනට නපුර[2357]

١- وَيْلٌ لِّلْمُطَفِّفِينَ

2. ඒ අය ජනයාගෙන් මැනගන්නා විට පුරණ මානයෙන් ඉල්වති.[2358]

٢- الَّذِينَ إِذَا اكْتَالُوا عَلَى النَّاسِ يَسْتَوْفُونَ

3. තවද ඔවුහු මෙරමාට මැන දෙන කල්හි හෝ කිරාදෙන කල්හි හෝ අඩු කරන්නාහ[2359]

٣- وَإِذَا كَالُوهُمْ أَو وَّزَنُوهُمْ يُخْسِرُونَ

4. ඒ අය පුනරුත්පාදනය කරනු ලබන්නෝ 'යයි ඔවුහු කල්පනා නොකරන්නෝ?

٤- أَلَا يَظُنُّ أُولَٰئِكَ أَنَّهُم مَّبْعُوثُونَ

5. මහත් දිනයකට.[2360]

٥- لِيَوْمٍ عَظِيمٍ

6. (සියලු මිනිස් වර්ගයා) සකල ලෝක ස්වාමී ඉදිරියෙහි සිටින දින[2361]

٦- يَوْمَ يَقُومُ النَّاسُ لِرَبِّ الْعَالَمِينَ

---

**2357.** පාඨයෙහි 'මුතෆ්ෆිෆීන්' යන පදය තත්ෆීෆ් යන්නෙන් බිඳුණ වෙයි. මානයෙහි හා කිරුමෙහි ලා ජනයාගේ උරුමය පැහැර ගැනීම. මදීනා වාසීහු ජනයාට මානය දෙනවිට සාධාරණ මානයෙන් දෙනවා වෙනුවට අඩුමානයෙන් දීම පිරිතක් කරගෙන පැවතුණහ. මේ අවස්ථාවෙහි නායක (සල්ලල්ලාහු අලෛහිවසල්ලම්)තුමෝ මක්කාමා නගරයෙන් හිජ්රාකොට මදීනාවට පැමිණියාහ. ඒ සන්ධර්භයෙහි මේ ආයාව පහළවිය. එකෙනෙහි නායක සල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන් මහ ජනයාට මේ ආයාව පහළවිය. එකෙනෙහි නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන් මහ ජනයාට මේ ආයාව පරායනය කළහ. 'පස් කරුණක් වෙනුවට පස් කරුණක් ඇත. සාධාරණ මානය කඩ කළ ජනයා කෙරෙහි ඔවුන්ගේ විරුද්ධත්වය අල්ලාහු තආලා නොදන්නා නොවේ. තමනට අල්ලාහු තආලා දී ඇති සාධාරණ මාන නීරණය කඩ කළ අයට පැමිණෙන දිළිඳු භාවය නොවැළැක්විය හැක්කේය. තුව තුලා මානාදිය ඔවුන් කළ කල්හි ඔවුනට මරණ බිය පැතිර පවතින්නේය. මානය ඔවුන් ගසා රල අඩුවී දුර්භික්ෂයෙන් පීඩාකරනු ලැබීමෙන් ඔවුහු නොවැළකෙන්නාහ. සකාත් දීමෙන් වැළකුණ ඔවුනට වැසි නොවසී. අසීනයෙන් දුර්භික්ෂය වැඩකලහොත් දිළිඳු බව වැඩිවේ. ව්‍යභිචාරය ඇති කල්හි මරණ බිය වැඩි වෙයි. මානය අඩු කල කල්හි ගසා රල අඩුවී දුර්භික්ෂය හටගැනෙන් දාන වම අඩුවන විට වැසි නොවසින්නේය. යි කීහ. මේ උපදෙස් පිළිගෙන ඔවුහු එව අනුව පිළිපැද්දාහ.

මානය ඉතා මැනවින් පූරණය කොට දුන්නාහ. එබැවින් ඔවුහු මෙදිනත් මානය අවංක ලෙස දෙන්නාහ. මාලික් බිනු දී නාර් රහ්මතුල්ලාහ් මරණ මංචකයෙහි සිටින ඔහුගේ අසල් වැසියා බැන කියේය. එවිට ඒ රෝගියා ඔහුට 'මාලික් මා ඉදිරියෙහි ගිනියෙන් දිලිසෙන කඳු දෙකක් ඇත. එදෙක මත නැගෙන ලෙස මම නිබන්ධනය කෙරෙමියි කීවේය. මම ඔහුගේ තිරිද විචාළෙමි'ඔහු ගෙ (මාන) සේ රූ දෙකක් ඇත. එකෙකින් මැන ගනී. අනිකින් මැන දෙයි'යි කීවාය. එවිට මම ඒ මාන දෙක ගෙන්වාගෙන එකෙකින් එකට ගසා පොඩිකර දැම්මෙමි. පැසුව, මම ඔහු විචාළෙමි එය මා පින් නොවිදින්නේ නොවෙයියි කීවේය

**2358.** පාඨයෙහි 'යස්තව්ෆූන්' (පූරණ මානයෙන්) යනුවට තමනට සාධාරණ මානයෙන් මැනැ දෙන්නැයි කැමති වීම පමණක්ම අර්ථ නොවෙයි. ජනයාට හා හා යුක්ති සියා අඳහස් පරිදි කල්පනා පරිදි දන ප්‍රයෝග කොට වැඩියෙන් මැන ගැනීම' යන අර්ථය.

**2359.** දීම ගැනීම් කරන කල්හි ඔවුහු අවංක නැත යනු මේ ආයාව කියා.

**2360.** මහත් දිනයත් යනුවෙන් යුක්ති පසිඳින දිනය සඳහන් කෙරේ. එවැනි දිනයත් පැමිණෙන්නේය. මෙදිනැ එසිහෙසොට තම තමන්ගේ ක්‍රියා අනුව ප්‍රතිඵල ලැබෙන්නේ යයි දැන සිටියාහු නම් ඉතා දැක්වූ පරිදි මැනුම් කිරුම් වැනි දැයෙහි වංචාකොට මෙරමාගේ යකාවක පැහැර නොගන්නාහ. මේ සන්දර්භයෙහි එවැනි දිනයක් පැමිණෙන්නේයයි උරුදියෙන් විශ්වාස කළ අය මෙවැනි දොෂයට නොපැමිණෙන්නාහ යන අර්ථයි.

**2361.** අල්ලාහු තආලා ඉදිරියෙහි සතලිස් වසරක් සිදිනාහ යනු මේ ලෝක වර්ෂ ප්‍රමාණයෙන් තුන්සිය වසරක් සිදිමයි ඔවුන්ගේ කණ්ඩියයන්ගෙන් කොටස් වශයෙන් තිබුන් වෙයි. ඔවුනට කොහි විධියක සිදුවීමක් සිදුනොවේ. ඔවුනට කොහි විධියක අණක්වත් ගනාකරනු ලැබේ. මෙවැනි තත්ත්වයෙක ඔවුහු සිටිනාගයි රිවායත්හි කියන ලදී.

7. නො එසේ. පවිටන්ගේ සටහන් පොත සිජ්ජීන්හි මය.[2362]

٧- كَلَّا إِنَّ كِتَٰبَ ٱلْفُجَّارِ لَفِى سِجِّينٍ

8. සිජ්ජීන් යනු කුමැයි නුඹට විස්තර කරන්නේද?

٨- وَمَآ أَدْرَىٰكَ مَا سِجِّينٌ

9. (පූණි කෙටුම්පොතෙකි).

٩- كِتَٰبٌ مَّرْقُومٌ

10. තපුරු - එදින ප්‍රතික්ෂෙප කරන්නවුනට.

١٠- وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ

11. ඒ අය විනිශ්චය දින ප්‍රතික්ෂෙප කෙරෙති[2363].

١١- ٱلَّذِينَ يُكَذِّبُونَ بِيَوْمِ ٱلدِّينِ

12. සකල සීමාත් ක්‍රමනය කළ, පවිටා හැර, කිසිවකුට එය ප්‍රතික්ෂෙප කළ නොහැකිය.[2364]

١٢- وَمَا يُكَذِّبُ بِهِۦٓ إِلَّا كُلُّ مُعْتَدٍ أَثِيمٍ

13. අපගේ ආයාවන් ඔවුනට හදාල කල්හි පැරණි යන්ගේ කථාන්තරය යි ඔහු කියයි[2365].

١٣- إِذَا تُتْلَىٰ عَلَيْهِ ءَايَٰتُنَا قَالَ أَسَٰطِيرُ ٱلْأَوَّلِينَ

14. නොඑසේ එසෙත් ඔවුන් සපයාගත් දයින් ඔවුන්ගේ සිත්හි කෙලෙස් මලය[2366].

١٤- كَلَّا ۖ بَلْ ۜ رَانَ عَلَىٰ قُلُوبِهِم مَّا كَانُوا۟ يَكْسِبُونَ

15. නො එසේ. ඇත්තෙන්ම ඔවුහු ඔවුන්ගේ හිමියෙන් අප ගත වන එදින, ඔවුහු වගන්තරාවෙන් වසන ලබන්නෝය.[2367]

١٥- كَلَّآ إِنَّهُمْ عَن رَّبِّهِمْ يَوْمَئِذٍ لَّمَحْجُوبُونَ

16. පැසුව. ඔවුහු ජගත්නමට ඇතුළු වන්නෝය.[2368]

١٦- ثُمَّ إِنَّهُمْ لَصَالُوا۟ ٱلْجَحِيمِ

---

2362. මෙහෙලෙහි සිජ්ජීන් යන පදය සිජ්න් මූල ප්‍රකෘතිය ලෙස කොට ඇත්තේය. සිර ගෙය යන අර්ථයි. පහළ 18 වන ආයාවෙන් 'ඉල්ලියින්' ශබ්දය හා විරුද්ධාර්ථ වන්වූ, එය හා අනුප්‍රාසවේ. එය ස්ථානයක් යයි බොහෝ අටුවාචාරීන්ගේ මතයි. එබැවින් තපුරු පෙළඹුන් විනිශ්චයාසනය ඉදිරියෙහි පෙනෙන තුරු ඇතුළත් කරන දග ගෙය අදහස් කෙරේ.

2363. පැම ආත්මයකටම පෞද්ගලික වගකීමේ සත්‍යය නොපමණ නොඅනුමානද කිවහොත් එය ප්‍රතික්ෂෙප කරන්නාවු එනසා අනුකම්පා කළ යුත්තිය. ශණන් ගත්තා දිනැ ඔවුහු ඉතාමත් අනුකම්පා කළයුතු තත්ත්වයෙකැයැ. සකලූලින් වර්ජක පවිටා හැර කිසිවකුට එය ප්‍රතික්ෂෙප කළ නොහැක. ඔහු එය ප්‍රතික්ෂෙප කරන්නේ බොරුවෙහි කෙළි දෙලොන්යැ.

2364. පෙළෙහි "අසීම්" යනු මහා පාපියා යන අර්ථ එනම් ආශාවන්හි පෙරදැරියන් මේ පදයෙන් අදහස් කෙරේ. පෙළෙහි "මූ අතදින්" යනු හරියන්හි සියන ලද නීති රීති උල්ලංඝනය කළ අයවලුන් අදහස් කෙරේ.

2365. සිරුත් කුර්ආනය හදාරා පෙන්වා සංමාර්ගය වැදෙ ගන්නව යයි කී කල්හි, එය නිරාකරණය නොකොට සිරුත් කුර්ආනය රාජ්‍යයාගේ වේදගම යයි අඩගි ග්‍රහණය නොකොට, මේ ආයාවෙහි පෙන්නුම් කළ ලෙස මහා පාපිශ්ඨවූ සීමාත් ක්‍රමනය කළ කාෆිර් සියන්නේය යන අදහසි. පුරා Vi. 25; Lxvii. 15 බ. ඔවුහු සත්‍යයට සරදම් අපහාස කෙරෙමින් එය බොරුයයි ව්‍යාජයෙන් ක්‍රියා කෙරෙති.

2366. මිනිසාගේ සිත අල්ලාහු හදාලා නිර්මාණය කළ පරිදි ප්‍රභාස්වරය නිර්මලය මිනිසා අයහපත් කළ පැම විටෙකම ඔහුගේ සිත්හි (ඒ ක්‍රියාව) කැලෙක් හෝ මලක් සටහන් කෙරේ එහෙත් නමින් කළ කමට පසුතැවිලි වීමෙන් හා ක්ෂමාව යැදීමෙන් ඒ කැලෙ ගැඹුරු වීමෙන් හා වැඩි වැඩි පැසිරයාමෙන් හා සිත මුද්‍රා පිහටෙයි පුරා 11 7. බ. පැසුව, එනිසා ආත්මික මරණයෙන් මියෙහි මෙරමා විසඳවූ සත්‍යයන් ඔහුට වටහා ගත නොහැක්කේ එබඳු කැලේ ඔහුගේ සිත්හි පැවැත්ම හේතු කොට ගෙනයැ. එනිසා ඔහු සත්‍යයට සරදම් කොට අසත්‍යය ඔහුගේ පසුවට කදින් බදාගනී. පෙළෙහි රාන් යනු රයින් 'යන්නෙන් සිද්ධ වූවකි. මලකඩ කනවා කළිඟුරු බැඳෙනවා යන අර්ථයන්හි වැටේ.

2367. ඔවුහුගේ සිත්හි තපුරු කම්හි කෙලෙස් මල ඔවුන්ගේ සිත් තැමහි දීප්ත කලය මලිනී කෙරේ. එසේ හෙයින් එද පීන කලය ආලෝකය විකාශනය නොකෙරේ. විනිශ්චයෙහිදී සත්‍යවූ ආලෝකය, ස්වාමීහුගේ ශ්‍රී විභූතිය දැකැමියන්ගේ ප්‍රසාදය, පව්වන්ගේ ඇස් කෙරෙන් වගන්තරා වලින් වසනු ලැබෙයි. වෙනුවට ඔවුන්ට හැගෙන එකම යථාර්ථය දඬුවමේ ගින්නයි.

2368. අධ්‍යාත්මික වේදනාව ගැන කීවාට පසු මේ ආයාවෙහි ඔවුන්ට දෙනු ලබන ශාරීරික වේදනාව ගැන කියනු ලැබේ. පෙර කියන ලද අවමානය කරුණාව නොපෙන්වන ලද්ද වැනි වේදනාවට වඩා තපුරුයයි කිසිය හැක. කොයි හැටි හෝ වේවා අවමානයෙන් මනසට පමණක් වේදනාව වෙයි. නිරයෙහි වැටුණුවිට මේ මානසික වේදනාවත් ශාරීරික වේදනාවත් යනු දෙකම වේ. ද්විවිධ වේදනාව විමද මානසික වේදනාවට වඩා තපුරුය යනු පැහැ නැත.

| | |
|---|---|
| 17. පැසුළු. තොප බොරුයැ'යි. ප්‍රතික්ෂේප කළ (සත්‍යය) මේ යැයි කියනු ලබන්නේය | ١٧- ثُمَّ يُقَالُ هَٰذَا الَّذِي كُنتُم بِهِ تُكَذِّبُونَ ۝ |
| 18. නො එසේ. ඇත්තෙන්ම. දැහැමියන්ගේ සටහන් පොත ඉල්ලියූන්හියැ[2369]. | ١٨- كَلَّا إِنَّ كِتَابَ الْأَبْرَارِ لَفِي عِلِّيِّينَ ۝ |
| 19. ඉල්ලියූන් කුමැයි තොපට විස්තර කරන්නේද? | ١٩- وَمَا أَدْرَاكَ مَا عِلِّيُّونَ ۝ |
| 20. පුණ් කෙටුම් පොතෙකි[2370]. | ٢٠- كِتَابٌ مَّرْقُومٌ ۝ |
| 21. (අල්ලාහු තආලාට) සමීපස්ථයෝ එයට සාක්ෂි දරති[2371] | ٢١- يَشْهَدُهُ الْمُقَرَّبُونَ ۝ |
| 22. ඇත්තෙන්ම යහ කැමියෝ ආශිර්වාදිත ස්ථානයෙහියැ | ٢٢- إِنَّ الْأَبْرَارَ لَفِي نَعِيمٍ ۝ |
| 23. වුහු උත්තම යහනාසනයන්හි (සියලු දැය) නරඹන් නෝය[2372]. | ٢٣- عَلَى الْأَرَائِكِ يَنظُرُونَ ۝ |
| 24. නුඹ ඔවුන්ගේ මුහුණුහි ආශිර්වාදිත දීප්තියෙන් ඇඳින ගන්නෙහිය[2373]. | ٢٤- تَعْرِفُ فِي وُجُوهِهِمْ نَضْرَةَ النَّعِيمِ ۝ |
| 25. මුදා පිත මුද්‍රිකා පානයෙන් ඔවුන්ගේ පිපාසය සංසිඳවනු ලබන්හිය[2374]. | ٢٥- يُسْقَوْنَ مِن رَّحِيقٍ مَّخْتُومٍ ۝ |
| 26. එහි මුද්‍රාව කස්තුරියෙන්ය. උත්සහා කරන්නෝ එහි උත්සහ කෙරෙත්වා[2375]. | ٢٦- خِتَامُهُ مِسْكٌ ۚ وَفِي ذَٰلِكَ فَلْيَتَنَافَسِ الْمُتَنَافِسُونَ ۝ |
| 27. එහි මිශ්‍රනය තස්නිමයෙන්යැ[2376]. | ٢٧- وَمِزَاجُهُ مِن تَسْنِيمٍ ۝ |
| 28. උල්පතෙකි (අල්ලාහු තආලාට) සමීපස්ථයෝ ඉන් පානය කරන්නෝය[2377]. | ٢٨- عَيْنًا يَشْرَبُ بِهَا الْمُقَرَّبُونَ ۝ |

---

2369. ඉල්ලියූන් යනු දැහැමියන් කරන යහකම්හි නාමයෙන් ආරක්ෂා සහිතවූ ලියා තැන්පත් කර තබන ස්ථානයෙහි නම වවනාර් විසින් 'උස් ස්ථානය' යන අර්ථ. මලක්වරුන් එහලූන්ගේ ක්‍රියා රැකෙන ස්වර්ගයට යෙහි. ඒ ක්‍රියා ඔවුනු අල්ප ස්වල්ප වශයෙන් සිතති. අල්ලාහු තආලා සිතූ ස්ථානය දක්වා ඔවුන් ගිය කල්හි රාජය ඔවුනට 'තොපි මගේ එහලූන් ආරක්ෂා කිරීමට තබන ලද්දහුයි එසේම මමද ඔවුන්ගේ පින්හි දැය ඇසින් දකින්නෙක්මි. ඔවුහුද තමන්ගේ ක්‍රියා විත්ත ඇද්ධියෙන් කළහ. එහෙයින් එය ඉල්ලියූන්හි ආරක්ෂා සහිතවූ තැන්පත් කර තබව.

2370. දැහැමියන්ගේ නම සවිස්තරවූ එහි අන්තර්ගතයැ. එය රූපක වශයෙන් වචනා ගත්‍යුතුය.

2371. මෙහෙහි මුකර්රබූන් (සමීප ස්ථයෝ) යන්නෙන් අල්ලාහු තආලාගේ දර්ශනයෙහි මලක්වරුන් හෙවා මොවුනු ඉතා සඳහන් පුණ් කෙටුම් පොත ආරක්ෂා කෙරෙයි, සූරා Lvi. 11, බ.

2372. මෙහෙහි 'අරායික්' යනු 'ආරී කත්තුන්' යන්නෙහි බහු වචන. අලංකාර මංගල යහන යන අර්ථ. දැහැමියෝ මෙවැනි යහනාසනයන්හි උැතුම් ගෙන තමනට රජයා විසින් එළවන ලද ස්වර්ග සම්පත් ඇසට විෂයවූ පමණින් තුෂ්ටි ප්‍රාප්ත වෙති. සූරාව xxxvi. 56 බ.

2373. සූරා Lxxv . 22 Lxxvi, 11. බ.

2374. මේ මුද්‍රිත පානය ඉතා පිරිසිදුය. අති මධුර රසයෙන් යුක්තය. එය කොපමණ අතකිද සිවගොත් මුද්‍රාවවසින් ආරක්ෂා කරන ලදී. ඉතා ඉහළ ලෙස සලකන ලද පුවදවත් මුද්‍රාව පෙරදීග වර්ණා කස්තුරි ද්‍රව්‍යයෙහින් මුද්‍රාපිතයැ.

2375. සත්‍යවූ පවසින වර්ණාකම් ඔබ දන්නෙහි නම් උත්සහ කළ යුත්තේ මෙවැනි විදියේ පිරිසිදු ආශිර්වාදයන්ය. පසු භාගයෙහි හිරන දලයෙන් ඉහිරී කැර මෙලොව තාවකාලික ආස්වාදයන් නොවේ.

2376. තස්නිම්: වවනාර්ථ විසින් උස්බව, සම්පූර්ණකම්, වස්තුව සඳහන් කෙරේ. මෙහි ස්වර්ගය උල්පතෙක නම එහි පානය ඉතා පිරිසිදු මදිත පානයට යුගතේය. අල්ලාහු තආලාට සමීපස්ථයන් පානය කරන අමෘතයැ.
සූරා LVI.11 බ. LXXVI. 5
කාපූර් (ලාඉ)1LXXVI 17-18 සල් සබීල්. බ.

2377. තස්නිම් යයි ඉතා සඳහන් කරන ලද්ද මේ ආයාවෙහි විවරණය කරන ලදී. එනම්: එක දිය උල්පත් සඳහන් කරන ලදී.'ඒ දිය උල්පෙහි මට සමීප ස්ථයෝ පානය කරන්නෝය' යනු මේ ආයාවෙහි අදහසි. ඉහත ආයාවෙහි සඳහන් දැහැමියන්ගේ පානයෙහි 'තස්නිම්' නම් උල්පත් දිය මිශ්‍රණය.කරන ලදී යනුද මේ උල්පත් දිය පානය කරන අය සමීපස්ථයන් යයිද, දැහැමියනට වඩා සමීපස්ථයන් ශ්‍රේෂ්ඨයයිද වැටහේ.

29. පව්වුනු විශ්වාස කළවුනට සිනහසෙමින් සිටිත්තෝය[2378].

٢٩- إِنَّ الَّذِينَ أَجْرَمُوا كَانُوا مِنَ الَّذِينَ آمَنُوا يَضْحَكُونَ ۝

30. ඔවුහු ඔවුන් ළඟින් ගිය සෑම විටෙකම (සරදම් වශයෙන්) ඔවුනට ඉඟි මරන්නෝ වූහ[2379].

٣٠- وَإِذَا مَرُّوا بِهِمْ يَتَغَامَزُونَ ۝

31. ඔවුන්ගේ ජනතාව වෙතැ ඔවුන් පුන පැමිණුන විට ඔවුහු සරදම් කෙරෙමින් පැමිණුණාහ.[2380]

٣١- وَإِذَا انْقَلَبُوا إِلَىٰ أَهْلِهِمُ انْقَلَبُوا فَكِهِينَ ۝

32. ඔවුන් ඔවුන් දුටු කල්හි "ඇත්තෙන්ම, මේ අයයැ නොමඟ ගියෝ"!යි ඔවුහු කියන්නෝය[2381].

٣٢- وَإِذَا رَأَوْهُمْ قَالُوا إِنَّ هَٰؤُلَاءِ لَضَالُّونَ ۝

33. ඔවුන් කෙරෙහි ආරක්ෂකයන් ලෙස ඔවුහු නොඑවන ලද්දෝය.[2382]

٣٣- وَمَا أُرْسِلُوا عَلَيْهِمْ حَافِظِينَ ۝

34. එහෙත් මෙදිනැ විශ්වාස කරන්නෝයැ, විශ්වාස නොකරන්නවුන් කෙරෙහි සිනහ සෙන්නෝ[2383].

٣٤- فَالْيَوْمَ الَّذِينَ آمَنُوا مِنَ الْكُفَّارِ يَضْحَكُونَ ۝

---

2378. පෙළෙහි 'අල්ලදීන අජ්රමූ' (පව්වුනු) යනුවෙන් විශ්වාස නොකිරීම පිළිබඳ කාර්යයන් කළ අය සඳහන් කෙරේ. විශ්වාස නොකිරීමට වඩා ලොකු පාප කිසි පවක් නැත්තේය. නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහිවසල්ලම්ගේ කාලයෙහි කුරෙයිෂ් ප්‍රධානීහු විශ්වාස නොකිරීම ගැන කාර්යයන් කෙරෙමින් දුප්පත් මුස්ලිම් ජනතාව පව් කමට පෙළඹ වූහ. එවිට ඔවුහු ඉස්ලාම් අත්හැර වෙන ආගම් වැලඳගන්නට වූහ. එහෙයින් මේ ආයාවෙහි කියන ලද විවරණව කුරෙයිෂ් ප්‍රධානීහු ලක්වූහ. අදරත් ඒ කුරෙයිෂ් ප්‍රධානීහු දුප්පත් මුස්ලිම්වරයෙකුවූ අම්මාරුබිනු යාසිර් රළියල්ලාහු වැනි සහාබිවරුන්ව හෙළා දකිමින් සිනාවූහ.

2379. මේ සමයෙහි මුස්ලිම්වරුන් කුරෙයිෂ් ප්‍රධානීන් සිටින මඟින් ගියහොත්, ඒ ප්‍රධානීහු ඔවුනොවුනට ඉඟි මරා ඔවුන් ගැන පරලෙවිහි නොසට යම්කිසි යහ පල විපාකයක් ලැබෙන්නේ යයි සිතා මේ ලෙවිහි සැප සම්පත් අත්හැර නොසොව විවිධ දුර්භාග්‍යය අත්විඳ කරන්නාහයි කියන්නෝය. පෙළෙහි යන සාමිනූන් යන්න ඇසින් හෝ බැමෙන් ඉඟි කිරීම, හෙළා දැකීම, අපහාස කිරීම යන විවිධාර්ථයන්හි වැටේ.

2380. ඔවුහු දුප්පත් මුස්ලිම් ජනයාව අපහාස කිරීමෙන් බාරදූර කාර්යයක් කළොහයි සිතා සතුටුවැ ඔවුන්ගේ ගෙවලට පැමිණුණාහ යන අර්ථයි.

2381. මේ ලෙවිහි නපුරුකම් කරන්නෝ දැහැමියන් කෙරෙහි විවිධ විධියෙන් සිනහසෙති.

I ඔවුන් එපමණ ඉහළ යයි සිතෙන බැවින් ඔවුන්ගේ විශ්වාසය කෙරෙහි සිනහසෙති.

II ප්‍රසිද්ධ ස්ථානයන්හි දැහැමියන් ගමන් කරන විට ඔවුහු එකිනෙකාට ඉඟි කොට ඔවුනට අවමන් කෙරෙති.

III ඔවුන්ගේ ගෙවලහි ඔවුනට අවමන් කෙරෙති. ඔවුන් දකින සෑම විටෙකම සෑම තැනකම මංමුළාවූ මෝඩයන් යයි ඔවුනට බැන වදිති. අන්තිම දින ඔවුන්ගේ කපටිකම් හා අපහාසයන් යථාර්ථ වශයෙන් පෙන්නුම් කරනු ලැබෙති.

2382. දැහැමියන්ගේ ගුණදොස් විවේචනය කරන නපුරු විචාරකයනට ඔවුන් ගැන විනිශ්චය කිරීමට හැකියාවක් නැත. දැහැමියන් මත ආරක්ෂකයන් ලෙස ඔවුන් පත්කළේ කවරහුද? ඔවුහු ඔවුන්ගේ සත්භාවයන් ඔවුන්ගේ අනාගතයන් ගැන පරෙස්සමෙන් බලාගනිත්වා.

2383. මෙදිනැ යනුවෙන් විනිශ්චය දිනය කියවා මේ ලෝකයෙහි දුප්පත් මුස්ලිම්වරුන් දෙස බලා හෙළාදැක සිනහසෙන විශ්වාස නොකරන අය විනිශ්චය දිනයෙහිදී ඒ දුප්පත් මුස්ලිම් ජනයා විසින් හෙළා දකින ලැබ සිනහසෙනු ලැබෙත් යනු අදහසි. දුප්පත් මුස්ලිම්වරු මේ ලෝකයෙහිදී රජයා කෙරෙහි විශ්වාස කොට ඔහුගේ අණව සිකරුවැ හැසුරුණ බැවින් පරලොව හිදී රජයා විසින් යහපල විපාක දෙනු ලැබෙත්. මේ ලෝකයෙහි දුර්මාර්ගිකයෝ, තමන්ගේ ධනයෙන් හා වස්තුවෙන් හා වෙනත් බලසල වලින් හා රජයාගේ අණව විරුද්ධවැ හැසුරුණ බැවින් පරලෙවිහි නපුරු ඵල විපාක අත්විඳ කෙරෙති. තවද මේ ලෙවිහි ඇතැමකුට ඇති තත්ත්වය පරලෙවිහි වෙන විධියකට මාරු කරනු ලැබේ.

35. ඔවුහු උත්තමාසනයන්හි සියලු දෑ නරඹන්නෝය[2384].

٣٥- عَلَى الْأَرَائِكِ يَنظُرُونَ ۝

36. විශ්වාස නොකරන්නවුන් කෙරෙමින් හුන් දෑයට ඔවුහු ඵල විපාක දෙනු නොලබන්නෝද?[2385]

٣٦- هَلْ ثُوِّبَ الْكُفَّارُ مَا كَانُوا يَفْعَلُونَ ۝ ع

- 83 වන අල්-මුතෆ්ෆිෆීන් සූරාව නිම -

---

2384. විශ්වාස නොකරන්නවුනට වන්නාවූ දඬුවම් වේදනා උත්තමාසනයන්හි හුන් වශයෙන් ඔවුහු නරඹන්නෝය.

2385. පුනරුත්ථාන දිනැ විශ්වාස නොකරන්නවුන් දඬුවම් විඳිම විශ්වාස කරන්නවුන් ස්වර්ගයෙහි ආසනයන්හි හුන්වශයෙන් නරඹන කල්හි මලක්වරු ඔවුන් ලෙව අවුත් 'විශ්වාස නොකරන්නවුන් ඔවුනට කෙරෙමින් හුන් කායිකයනාව ප්‍රතිකායික කරන ලද්දේය.:- එනම් ලෝකයෙහිදී ඔබ දෙස බලා සිනාසීමට ප්‍රතික්‍රියා වශයෙන් මෙහිදී ඔබ ඔවුන් හරඹා සිනාසෙන්නට සලසා ඇති බව සමාන ප්‍රති ක්‍රියාවයැ'යි ප්‍රශ්න නඟති යනු අදහසි. මෙසේ ප්‍රශ්න නැඟීම අල්ලාහු තආලායැ: මලක්වරු නොවෙති කියන ලදී.

සිනාසීම, හෙළාදැකීම, පරිහාස කිරීම, ඇඟිලි පද කීම යනාදිය මිනා පාපයන් හා සම්බන්ධයැ පිළිරූ අදහස්නත් හා සම්බන්ධ පවිටුහු මෙහි ප්‍රරෝහාම්හුයැ. මෙවැනි පවිකම්න් නොරනොව රාරයා අප රකීවා. ආමීන්.

ඉන්ෂිකාක්: විවරවීම
سُورَةُ الانْشِقَاق
මක්කාහිදී පහළවිය.

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන් — بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. අහස විවරවූ කල්හි[2386] — ١- إِذَا السَّمَاءُ انْشَقَّتْ

2. එහි හිමියාගේ අණට කීකරුව ඒ (එසේ) විය යුතුමැයි;[2387] — ٢- وَأَذِنَتْ لِرَبِّهَا وَحُقَّتْ

3. පොළොව සමතලාවූ කල්හි[2388] — ٣- وَإِذَا الْأَرْضُ مُدَّتْ

4. එහි (ඇතුලත) දෑය බැහැරකැර හිස්වන්නීය. — ٤- وَأَلْقَتْ مَا فِيهَا وَتَخَلَّتْ

---

2386. සත්‍යවූ නව ලෝකයකට මඟ පෑදීමේ මේ ඉන්ද්‍රිය බද්ධ ලෝකය විනාශවීම් කරුණු දෙකක් මත රඳා සිටින බව මෙහි සඳහන් කෙරේ. ඒ කරුණු දෙක අපේ දැනීමේ හා පළපුරුද්දේ පූර්ණ විප්ලවයේ සලකුණුය. එහි ඉදිරිපත් කරන ලද වාදියකට තුඩු දෙන සේ සූරා LXXXII හා LXXXI යේ පටන් ගැන්මෙහි වෙන සලකුණු යොදන ලදී. මෙහි සලකුණු දෙක නම්

I අහස විවර වී එහි ගුප්ත දෑය එළිදරව්වීම.

II පොළොව භූගෝලයෙන් සමතලා වී එහි ගුප්ත දෑය එළිදරව්වීම. අ. ලි.(අංකය) බ.

2387. ඉහළින් වී පවිත්‍ර වූද විශාල හා අනන්තවූද සදාකාලික හා කාලා පරිච්ඡේද වූද ඉහළ අප දන්නා මේ අහස් ගිම්හරය නොකරන ලද්දේයයි අපට සිතන්නට පුළුවන. එහෙත් එවා ගිම්හරය කරන ලද්දානුමැයි. කවද අල්ලාහු සාදලාගේ සැමැත්ත සෙක් එවා එසේ පවති. ඉන් එහාට කස්පරයක් වත් නොපවති. එවා සංගවීමට මිනුගේ අණ ගිහුන්වූ විහාම ඒ අණට කීකරුව එවා දෙන්නද්ධිනා වී එහි ගුප්ත දෑය හෙළියි, එවා අනාවරණයෙන්ම එසේ විය යුතුය. මිවුන්ගේ හිස් ස්වභාවයම් නිමිත සත්වයන් ලෙස මිවුන්ගේ අන්තද්ධිනය දක්වා මිවුන්ගේ ගිම්හපයාගේ හඩට ඇහුම් කන් දීම ඉවසල් කෙරෙයි.

2388. පොළොව ගෝලාකාර වස්තුවෙකි. යොහෝ ගුප්ත දෑය එහි අන්තර්ගතය. ස්වර්ණ හා වජ්‍ර එහි ආකාරයන්මිය. උෂ්ණත්වය හා කාන්දම් එහි අතුළුයිය, අගණිත ජනතාවන්ගේ සිරුරු එහි පසෙහි භූමිදාන කර ඇත. ලෝක අහනද්ධානයේදී එහි අන්තර්ගත සියලු වස්තු එමාරතු ලැබෙත්. භූගෝලයක් වශයෙන් එහි ස්වරූපය නැසිවී ගොස් එහි පැවැත්ම නවති. මේ අප දන්නා අහස් හා පොළොව හා ගැන සාමාන්‍ය අර්ථයට වඩා ගුප්තවූ අර්ථයක් ඇත. එවා ගැන අපේ අදහස්- අප පිළිබඳවූ එවායේ අද්ධ්‍යාත්මිකවූ අන්තර්ගත දෑය- සදාකාලික සත්‍යයන් ඉදිරියෙහි එවායේ ආකාර පවතත් අන්තර්ද්ධාන වන්නේය.

5. එහි හිමියාගේ අණට කීකරුව ඒ එසේ වියයුතු මැයි;[2389] ٥-وَأَذِنَتْ لِرَبِّهَا وَحُقَّتْ ۝

6. එම්බා මිනිසා! ඇත්තෙන්ම, නුඹ නුඹගේ හිමි වෙතට පිටා කර යත්නයෙකින් යත්න කරන්නෙහි නුඹ ඔහු හමුවට එන්නෙහිය [2390] ٦-يَا أَيُّهَا الْإِنسَانُ إِنَّكَ كَادِحٌ إِلَىٰ رَبِّكَ كَدْحًا فَمُلَاقِيهِ ۝

7. ඔහුගේ සටහන් පොත ඔහුගේ දකුණු අතෙහි දෙන ලද අය.[2391] ٧-فَأَمَّا مَنْ أُوتِيَ كِتَابَهُ بِيَمِينِهِ ۝

8. පසුව ඔහුගේ ගණන ලෙහෙසි ගිණුමෙකින් ගිණුම් කරනු ලබන්නේය. ٨-فَسَوْفَ يُحَاسَبُ حِسَابًا يَسِيرًا ۝

9. ඔහු ඔහුගේ කුටුම්බය වෙත සොම්නසින් යුත පැමිණෙන්නේය[2392]. ٩-وَيَنقَلِبُ إِلَىٰ أَهْلِهِ مَسْرُورًا ۝

10. ඔහුගේ සටහන් පොත ඔහුගේ පිටුපසින් දෙනු ලැබූ අය[2393]. ١٠-وَأَمَّا مَنْ أُوتِيَ كِتَابَهُ وَرَاءَ ظَهْرِهِ ۝

---

2389. (2/84 අ. ටි. මෙහි ලියන්න.)

පොළොව සම වූ පැතලි ඩිස්කුවක්යැයි අපි සිතමු. අපගේ විනාශයට පත්නාවූ දෑය පොළොවට දිය වී යන්නේය. එසේම පොළොව වඩා පුළුල් ප්‍රදේශයකට පරිවර්තනය වන්නේය. මේ ආයා පටින් ප්‍රලය කාලයෙහි සිදුවන කරුණු දෙකක් ගැන කියන ලදී. එකක් අහස පළුදුවීමයි. ඒ පිළිබඳ විවරණය පළමුවන ආයාවෙහිද කියන ලදී. ප්‍රලය කාලයෙහිදී මළ අය පුනරුත්ථාන කරන්නාව මළ වේලාවකට පෙර ආකාශ මණ්ඩල උඩුයටිකුරුව සියලු නසක් කරු ඉදිරි, අහස විවර වී මලක්වරුන් සියල්ලෝම මේ ලෝකයෙහි කොන්වලට වුත් අණ බලා සිටින්නාහයි යන විවරණ කිහිප තැනක සඳහන් කර ඇත. මේ ආයාවෙහි 'අහස විවරවීම' යනුවෙන් ඒ විවරණ කෙටියෙන් කී හැකි! භූමියෙහි වන පරිණාමය තුන්වන සතරවන ආයාවන් මෙන් කියන ලදී. එනම් භූමියෙහි ඇති කඳුගැට පල්ලම් ආදී සියල්ල සමතලා කරන ලදුව, භූමිය එක සමතලාවක් බවට පැමිණේ. භූමියෙහි භූමදාන කරන ලද මිනිස්සු, පෙට්ටි ආදිය භූමියෙන් ඉහළට පැන නැගෙති. එහෙයින් කවරුත් භූමියෙහි මතුපිට වෙති. එවිට දෙවෙනි හොරණෑව පිඹිනු ලැබූ හැටියේ මිනිස්සු දිවි ලැබ නැගිසී. මේ වන මෙහි සිදුවන වෙනස් වීම් වලට අහසද පොළොවද රාජ්‍යාගේ අණට කීකරුව එය අනුව සිදුවෙයි යන විවරණ දෙවන තුන්වන ආයාවන්හි කියන ලදී.

පුනරුත්ථාන දිනය අල්ලාහු තආලා සමක් දිගහරින්නාක් මෙන් භූමිය දිග හරින්නේය. එලෙස දිග හැරීම ජන සමූහයා අධික බැවින් ඔවුන් පා තැබීමට ඉඩ කඩ සැලසෙන්නේය. එයට වඩා අධිකව ඉඩ කඩ නැත්තේය යන විවරණ උතුම් හදීස්හි කියන ලදී.

2390. වහි මාර්ගයෙන් අපට දෙන්නාවූ සදාකාලික බලාපොරොත්තුවෙන් ශූන්‍යයේ සලකහොත් මේ ජීවිතය සදා පීඩාකරයෑ, දුක්ඛිතයෑ. මේ බලාපොරොත්තුව ඔවුනට නොපැහැදිලි කල්හි, සෑම යුගයන්හි සිතන ඉහත ප්‍රඥාවින් නිෂ්පාදනය කැරූ ඇති කාව්‍යයන්හි හා න්‍යාය ශාස්ත්‍රයෙහිවූ නිසෘෂ්ටාර්ථ දෘෂ්ටික සාහිත්‍යය මෙයින් කව හැඟුණෙහි ලස්ස ඉමිහිරි හී පින්දූ ඉතා දුක්ඛිත පීඩිතවිලි කියන ඊයාය. එක ලෙස ශෝරවන්නව භාරතය වූ අය මිනිස්සුය. මේ ජීවිතයෙහි සොම්නසට නිකාගොට ව්‍යායාමික දවස් ගත කරන අය ඉතා උතුම් මිනිස්සුය. හොඳ අය ඔවුන්ගේ ඉතා හොඳ ගති නිසා දුක්විඳියි. නපුරු අය ඔවුන්ගේ නපුරු ගති නිසා දුක්විඳියි. එහෙත් අන්තයේදී තුලාව හරියාකාර ලෙස සමබරවන්නේය. රෝදනය කළ අය සොම්නස්වන්නට සලස්සනු ලබන්නාහ. හොයිකා හොමතා ප්‍රීතියෙමින් ඔබ මොබ ගිය අය ඔවුන්ගේ මෝඩකම් ගැන රෝදනය කරන්නට සලස්සනු ලබන්නාහ. මේ සියලුදෙනම අල්ලාහු තආලාගේ සන්නිධානයෙහි ගණන් දීම පිණිස තොප් ඔහුගේ විනිශ්චයාසනය ඉදිරියෙහි ඔහු හමුවීම වන්නේය.

2391. සූරා XVII. 71 බ. සත්‍යයෙහි හා යහකම්හි ඔවුන්ගේ ජීවිත ගත කරන මේ අය වාසනාවන්තයහ. ගණන් ගැණුම ඔවුනට ලෙහෙසි කරනු ලබන්නේය. ගණන් ගන්නයින් පසුද අල්ලාහු තආලාගේ පරමදයාලු භාවය කරුණ කොටගෙන, ඔවුනු වටිනවාට වඩා ලැබෙති.

2392. ඔහුගේ කුටුම්බය යනු අධිකාරී විසින් ගත යුතු ඔහුගේ කුටුම්බයෙහි ඔහුට පෙර හෝ පසුව හෝ වූ ආධ්‍යාත්මික පාරිශුද්ධියට පත් අය හා ඔහුගේ පක්ෂයේ අනිකුත් යහළුවන් ගැනෙත්.

2393. සූරා LXIX. 24-25 බ. නපුරු අය ඔවුන්ගේ සටහන් පොත ඔවුන්ගේ වම් අතෙහි දෙනු ලැබෙති. එහෙත් ඔවුන්ගේ අත් නිදහස් නැත පාපය ඔවුන්ගේ අත් පිටුපසට හරවා බඳින්නේය. එසේ හෙයින් ඔවුන්ගේ සටහන් පොත් ලබාගත හැක්කේ ඔවුන්ගේ පිටුපසටවූ වම් අතින්ය.

11. පැසුර. ඔහු ගින්නට අඬගාන්නේය. තපුරු අය මරණයටත් විනාශයටත් අඬගාන්නේය. එහෙත් ඔවුහු නොද ජීවත් වෙති නොදමැරෙති[2394].

فَسَوْفَ يَدْعُوا ثُبُورًا ۝١١

12. ඔහු දල්වෙන ගින්නට ඇතුළු වන්නේය[2395].

وَيَصْلَىٰ سَعِيرًا ۝١٢

13. ඇත්තෙන්ම, ඔහු ඔහුගේ ජනතාව අතුරෙහි සොම්නස්ව හැසිරෙති.[2396]

إِنَّهُ كَانَ فِي أَهْلِهِ مَسْرُورًا ۝١٣

14. ඇත්තෙන්ම. (ඔහු අල්ලාහු වෙතට) නොපැමිණෙන්නේ යයි සිතුවේය.[2397]

إِنَّهُ ظَنَّ أَن لَّن يَحُورَ ۝١٤

15. නොඑසේ. ඇත්තෙන්ම. ඔහුගේ හිමි ඔහු නිරීක්ෂණය කරන්නේය[2398]

بَلَىٰ إِنَّ رَبَّهُ كَانَ بِهِ بَصِيرًا ۝١٥

16. සූර්ය අස්තමන සන්ධ්‍යා රක්ත වර්ණයෙන් ශපථ කර කියමි.[2399]

فَلَا أُقْسِمُ بِالشَّفَقِ ۝١٦

17. රාත්‍රියෙන් හා එළයන සියල්ලෙන් රාත්‍රිය සමානය. අඳුර වාත්ත රේඛාන්තරයන්හි සෑම 24 පැයකින් අඩක් වන දොළොස් පැයත් තුළ දකින්නට ලැබෙන දර්ශනයෙකි.[2400]

وَاللَّيْلِ وَمَا وَسَقَ ۝١٧

---

2394. සූරා XX. 74 බ.

2395. පෙළෙහි 'සයිර' යන්නට ගින්න යයි අර්ථ දී ඇති බැවින් නිරය යන අදහසි. මක්නිසාද? නිරය නාමයන්ගෙන් මෙද එකකි.

2396. විශ්වාස නොකරන අය තමන්ගේ කුටුම්බ හා බන්ධු මිත්‍රයන් සමග සන්තෝෂ ව වාසය කිරීම ශුභ ආයාවෙන් නොකියන ලදි. මේ විදියේ වාසය කිරීම විශ්වාස කරන්නවුනටයැ එහෙයින් විශ්වාස නොකරන්නවුනට පරලොව ගැන සිතක් හෝ ආශාවක් නැති බැවින් කවුරුත් මේ ලෝකය පමණයැ පන්සතෝෂ වීමටයි සම්මූලව ක්‍රියා කෙරෙති. විශ්වාස කරන්නෝ එසේ නොවෙති. මේ ලෝකයෙහි ඔවුනට කොපමණ භාග්‍ය පැර සම්පත් තිබුණත්, පරලොව ගැන විශ්වාසය ඇති බැවින් ඔවුනට සියලු තමන්ගේ මේ භාග්‍යයන් හරිහැටියට උපයෝග කරමුද නැතහොත් වෙන හැටියකට උපයෝග කරමුද යන බිය ඔවුන්ගේ සිත් තුළ පවතී. එහෙයින් විශ්වාස කරන්නවුන් පිටින් සන්තෝෂයෙන් ඇතුළත බිය ඇත්තෝ වෙත්. මෙහි කියන ලද සන්තෝෂය පරලොව මතක නැති කිරීමේ සන්තෝෂයයි.

2397. විශ්වාස නොකරන්නවුනට පරලොවක් ගැන විශ්වාසය නැති බැවින් ඔවුන් මළ පසු තමන්ගේ ක්‍රියාවනට ඵල විපාක දීමක් තිබිය යුතුය යන සිතීම ඔවුනට නැත. ඔවුන්ගේ මේ තත්වය මේ ආයාව පැහැදිළි කෙරේ.

පෙළෙහි 'යහුර්' යන පදය 'අල්හව්ර්' යන පදයෙන් නිපන්නෙකි. පුන පැමිණීම, පුනරාවර්තනය, ප්‍රයාණය යන අර්ථයන්හියැ. මේ ගැන ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු 'මම මේ පදයෙහි අර්ථය නොදැන සිටියෙමි. අන්තිමේදී එක්තරා පිටිසර අරාබි ස්ත්‍රියක් තමාගේ දියණිය දෙස බලා හූරි, හූරි, ඉලා අහ්ලකි (සී පුන පැමිණෙව, සී පුන පැමිණෙව. සියේ. කුටුම්බය වෙතට) යන කියමන සළ සුණ පැසුර යයි අර්ථය වැටහුණේ යනු වාර්තා කර ඇත. මේ ලෝකයෙහි වැඩි හරියක් තපුරුකම් පිදුවන්නේ මිනියා එකකිමක් නැති නැතැත්තෙකි යනු ව්‍යාජ අදහස හේතු කොටගෙනයැ. නොඑසේ උම්භක්කවූයැ හෝ සිහි කල්පනා නොමැතිවැ තමා ගැන හැසිරෙන්නට නිදහස දීමෙනි. මිනියා වග කිව යුත්තෙක් නොවේ. (ඔහුගේ) සෑම ක්‍රියාවකට වචනයකට, සිතිවිල්ලකට, ඔහු වෙතැ පැමිණිය යුතු ඔහුගේ නිර්මාපකයට තමාගේ ගතන් දීම ගැන ඔහු වගකිව යුත්තේය. මෙය සිහි කිරීමක් මේ අනුව ක්‍රියා කිරීමක් විමුක්තිය ලැබීමය. එ වගකීම අමතක කිරීම හෝ නෙළා දැකීම ආත්ම වංචාව හා දුක් නැමති ගින්නට ඇතුළු වීමය.

2398. ඔහුගේ හිමි ඔහුගේ ක්‍රියාවන් නිරීක්ෂණය කෙරෙය. ඔහු ඔවුනට සුදුසු ප්‍රතිඵල දෙන්නේය. ඔහුගේ ක්‍රියාවනට ඔහු ප්‍රතිඵල විපාක නොදී නොහරින්නේය යන අදහසි. මේ ආයාව යහ අය, තපුරු අය විශ්වාස කරන අය, විශ්වාස නොකරන අය යන සියල්ලනටම ඔවුනොවුන්ගේ ක්‍රියාවන් ගැන අවවාද කරන්නේය.

2399. පෙළෙහි 'ෂාෆක්' යන්නට සූර්යාස්තමන වේලෙහි පැහෙන රක්ත වර්ණ මේසය යනුද එ මේසයට පැසුර පැහෙන සුදු මේසය යනුද කියනු ලැබේ. මගේරිබ් නැමදුමට අයත් වේලාව 'ෂාෆක්' අවසන් වන තෙක් යයි කියනු ලැබේ. මේ ගැන නා නා මත භේද පවතී. එහෙයින් රාජයා මේ ආයාවෙහි දහවල් කාල සඳහන් කොට ශපථ කර ඇති බව කියා ඇත. සූරා LXIX-38 බ. සූර්යයා එපමණ විශාල සත්‍ය වස්තුවක් ලෙස පෙනුණද කිවහොත් මිනිස්සු එය දෙවියකු ලෙස නැමදූම් කළහ. එය අස්ත මන වේලෙහි පැහෙන රක්ත වර්ණය කෂණිකයැ. එය මොහොසින් මොහොත වෙනස් වේව්. අරුණ ලෝකය හා අන්තර්ධාන වෙයි.

2400. ඇ සෝ වේගෙන එහාවට කණට ගිය සියලු එළ බැටළ ගව රංචු ගාල්වලට පැමිණෙති. ඔවුන්ගේ ජීවිකා වෘත්තිය උදෙසා විසිරී ගිය මිනිස්සු ඔවුන්ගේ විවේකය නින්ද උදෙසා ගෙවලට පැමිණෙති. රාත්‍රි (කාලය) ඔවුන්ගේ ගෙවැලැ ඔවුන් එක්රැස් කරන්නිය. එහෙත් ගෙ'වැදීමේ පෙනුම ස්වල්ප කාලයක් පවතින්නිය. දැහට සියල්ල නිශ්ශබ්දය. අවලය. අපේ ජීවිතය මරණයෙන් අන්තිම වන විටද අපේ ආත්මයන් ගැහැද එසේමය. අපි ඉතා නටවුද විශාලවූද ගෙවැදීමකට එක් රැස් කරනු ලබන්නෙමු.

18. චන්ද්‍රයා - ඔ පූර්ණ කල්හි[2401] | ١٨- وَالْقَمَرِ إِذَا اتَّسَقَ ۝

19. ඇත්තෙන්ම, පිය ගැටෙන් පිය ගැටයට නුඹලා නගින්නහුය[2402]. | ١٩- لَتَرْكَبُنَّ طَبَقًا عَنْ طَبَقٍ ۝

20 එවුන් විශ්වාස නොකරන්නේ එවුනට කිමෙක්ද?[2403] | ٢٠- فَمَا لَهُمْ لَا يُؤْمِنُونَ ۝

21 එවුනට කුර්ආනය කියවනු ලැබූ කල්හි එවුහු සුජූද් නොකෙරෙති[2404]. | ٢١- وَإِذَا قُرِئَ عَلَيْهِمُ الْقُرْآنُ لَا يَسْجُدُونَ ۝

22 නොඑසේ. විශ්වාස නොකළ අය ප්‍රතික්ෂේප කෙරෙති[2405] | ٢٢- بَلِ الَّذِينَ كَفَرُوا يُكَذِّبُونَ ۝

23 තවද අල්ලාහු එවුන් සඟවන දෑ දන්නේය[2406] | ٢٣- وَاللَّهُ أَعْلَمُ بِمَا يُوعُونَ ۝

24. එහෙයින් වේදනීය දඬුවම එවුනට ප්‍රකාශ කරව. | ٢٤- فَبَشِّرْهُمْ بِعَذَابٍ أَلِيمٍ ۝

25. විශ්වාස කොට යහකම් කළවුනට නොවරදින වැටුප්. | ٢٥- إِلَّا الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ لَهُمْ أَجْرٌ غَيْرُ مَمْنُونٍ ۝

- 84 වන ඉන්ෂිකාක් සූරාව නිමි -

---

2401. මේ වචනය පොහොය රාත්‍රියෙහි වූ පුර්ණ චන්ද්‍රයා සඳහන් කෙරේ. එහිද රාත්‍රීන්හි චන්ද්‍රයා පූර්ණ නොවූ විටෙක අඩ හඳ කාලයන්හි චන්ද්‍රයා ටිකෙන් ටික වැඩෙන්නේය. පොහොය දිනයෙහි පූර්ණ වූවා එතැන් සිට අමාවක දක්වා ටිකින් ටික ගෙවෙන්නේය. රාජයා මේ ආයාවන් තුනෙන් කායික තුනක් ගැන ප්‍රමාණ කොට ලොවැ සිදුවන එනා සිදුවීම් තුනක් ගැන සිහිපත් කෙරේ. එනම් දහවල් කාලය අවසන් වීම රාත්‍රිය පිරුණේවූ ඇතිවීම, පසුව ඒ රාත්‍රියන්ධකාරය පහව චන්ද්‍රයා උදාවීම, මේ තුන් කායික වචා තත්ත්වයක් නැත. එවා සම අපගතවීමද පුන භව ගැනීමද වෙත්. මෙසේ මිනිසාගේ වාසයද නිත්‍ය නැත. එයටද අන්ත විමක් ඇත්තේය. එය පෙරළා පරලොවැ භවයැගේ.

නක්ෂත්‍රිය පුර්ණ චන්ද්‍රයා ක්ෂණයකදු ගත නොකරන්නේය. චන්ද්‍රයා පූර්ණවූ ක්ෂණයෙහි ම පිරිහෙන්නේය. තවද ම ඇගේ අන්තර් වන්දික මූර්ජාවෙහි සිටින ඇගේ වයසීව වැඩෙන අමාවක මෙන් ආරම්භ කරන්නේය. මිනිසාගේ ජීවිතයද මෙහි එලෙසයැ. නොසික පෙනුමෙන් හෝ වර්ධනය හා වඩින ලෙස සියලොක් ඇගේ සිත්‍ෂණ දක්‍ෂ මානාකරය, මෙධාවී ආකාරය, උද්වේගවත්කම, අද්ධ්‍යාත්මික භාවය යන මෙයින් ඒ නිත්‍ය නොවූ.

2402. ඉහත දැක්වූ තුන් මහා කායිකයන් ගැන ප්‍රමාණ කොට කිවායින් පසු මිනිසාට ඇතිවන තත්ත්වයන් ගැන සඳහන් කරන ලදී. මේ අසිල වායිනව මේ තත්ත්වයන් එකකට පසුවැ එකක් ඇතිවන්නාක් මෙන්, මිනිසාටද මෙලොව වාසය, පසුව මරණය මිනිවළෙහි දිවි ලැබ විචාරණය ඊට පසුව......

පසුව ශරීරය සමඟ පුනරුත්ථානය, විනිශ්චය, එයට පසුව යහ ඵල විපාක හොහොත් අයහපල විපාක ලැබීම යන තත්ත්වයන් එකකට පසුවැ එකක් පවියෙන් පවිය ලෙස පැමිණෙන්නේය යන අදහසි.

සූරා LXVII. 3. බ.

2403. මිනිසාගේ තත්ත්වය පුනරුත්ථාන දිනැ ඉහත දැක්වූ පරිදි ඇති කල්හි, එවුන් විශ්වාස නොකර සිටීමට කරුණ කිම? එනම් එය විශ්වාස නොකර සිටීමට සිසිම අනුමක් නැත යනු අදහසි.

මිනිසාගේ උසස් තත්වය කල්පනා කිරීමෙන් හා ඔහුගේ මේ ජීවිතය රඟමඩලෙක නොහොත් ගමනෙකැයි සිසීමෙන් ඔහු අද්ධ්‍යාත්මික ඥානයේ උච්ච ස්ථානයට විශ්වාසය කරණ කොට ගෙන ආරෝහණය වීමෙන් අල්ලාහු තආලාගේ වහි පිළිගන්නට පැම අවස්ථාවක්ම සිද්ධ ලෙස වැළඳ ගන්නේ යයි බලාපොරොත්තු විය හැකිව සිටුහී. ඔහු එසේ නොකරන්නේ නම් ඔහුගේ චේතනාවේ සිසි තැනෙක වැරැද්දක් ඇත්තේය. අල්ලාහු තආලා කෙරෙහි ළැදි අයට කෙළින්ම අයදීමෙහිදී 19 වන ආයාවෙහි මධ්‍යම පුරුෂයෙන් මාරුවීම බලව. අල්ලාහු තආලාගේ රාජ්‍යයට විරුද්ධවූ හැරළි ගසන මිනිසුනට කථා කරන විට ඔවුන් පිටස්තර අය ලෙස අන්‍ය කාරකයෙන් කථා කළ අන්දම ගැන ආයා 20 - 21. බ.

2404. අල්ලාහු තආලාට ගෞරවයෙන් හා භක්තිද භාවයෙන්.

2405. මරණයට පසුව ඇති තත්ත්වයද එය දැනගන්නා සිරුස් කුර්ආනයද ඔවුහු විශ්වාස කොට සිරුස් කුර්ආනයට නැමදුම් නොකිරීම පමණක් නොවැ, විශ්වාස නොකරන අය එය නැතැයි වදාළහා සිරුස් කුර්ආනයෙහි කියන ලද දැයි බොරු යයි කියති යනු මේ ආයාවෙහි විවරණ.

2406. විශ්වාස නොකරන අය මෙලෙස තිරාකරණය කිරීමට කාරණය කිම. එනම් තමන්ගේ හෘදයෙහි සඟවා සිටි දැය, ඔවුන්ගේ සිතේහි ඇති නොඉවසීම, ද්වේෂය......... ආදිය රාජයා දනී. එවාට සුදුසු වැටුප් ඔවුනට ඔහු දෙන්නේය යනු අදහසි.

# අල් - බුරූජ්. රාශි

سُورَةُ البُرُوجِ

මක්කාහිදී පහළ විය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1 රාශි සහිත අහසින්[2407]

١- وَالسَّمَاءِ ذَاتِ الْبُرُوجِ

2407. පෙළෙහි 'අස්ස මා ඉ' යනුවෙන් ඉහළ ඇති දැයක් සඳහන් කෙරේ. පීන්, ආකාශය, වාත, අහස යනු සමානය. මෙහි සියලු අහස් පුරා ඇති අවවන අහස මෙය සඳහන් කරන බව කියන ලදී. මෙයට 'පලක් කුල් අප්ලාක්' යනු නාමෙයි. පෙළෙහි 'අල්බුරූජ්' යනු අල්බර්ජ් යන්නෙහි බහු බස. මාලිග, මණ්ඩල, රාශි යන අර්ථයි. එහෙයින් පෙර, කියන ලද පලක් කුල් අප්ලාක් යන දොළොස් කොටසකට බෙදන ලදී. එක් එක් කොටසකට එක එක නාමක් හරු මඩුල්ලක් ඇත. මේ එක එක මණ්ඩලයකට බිර්ජ් යනු නාමෙයි.

මොවුනතුරෙහි:

| | | |
|---|---|---|
| 1. | හමල් | මේෂ |
| 2. | සවුර් | වෘෂභ |
| 3. | ජව්සාඋ | මිථුන |
| 4. | සර්තාන් | කටක |
| 5. | අසද් | සිංහ |
| 6. | සුන්බුලා | කන්‍යා |
| 7. | මීසාන් | තුලා |
| 8. | අක්රබු | වෘශ්චික |
| 9. | කවුස් | ධනු |
| 10. | ජිදිය්‍ය | මකර |
| 11. | දල්වුත් | කුම්භ |
| 12. | හූත් | මීන |

ආයාවන් 1-3 දක්වා ගුප්ත සලකුණු තුන ගැන මෙහි අයදුමෙයි. ඇත්තෙන්ම ඇති යෝජනාව ආයාවන් 4 - 8 දක්වාය. අල්ලාහු තආලාගේ ශාන්තුවරයනට හිංසා පීඩා කළ හපුරු අයට දෝෂාරෝපනය කිරීම තමන්ගේ විශ්වාසය නිසා යන අය පුරුෂ්සා හිංසා පීඩා කළ අය.

ගුප්ත සලකුණු 3 නම්:

1. රාශි දොළොස පළකුණු කැරෙන විශාල හරු වැසේ පහිත ශ්‍රී වෛඩූර්ය ආකාශය.
2. සියලු නපුරනට දඬුවම් දෙනු ලබන විනිශ්චය දිනය.
3. සාක්ෂි දරන ඇතැම්. අය. සාක්ෂිය දැරීමේ තෂිටරයන් වන ඇතැම් අය හෝ දැය.

සූරා xv. 16. බ.

2. ප්‍රතිඥාත (විනිශ්චය) දිනයෙන්[2408]. — ٢- وَالْيَوْمِ الْمَوْعُودِ ۝

3. සාක්ෂි දරන්නාගෙන් හා සාක්ෂි දරන දැයින් -[2409] — ٣- وَشَاهِدٍ وَمَشْهُودٍ ۝

4. ගිනි වළෙහි[2410] — ٤- قُتِلَ أَصْحَابُ الْأُخْدُودِ ۝

5. දර සහිත ගින්නේ(අපායෙ)න් — ٥- النَّارِ ذَاتِ الْوَقُودِ ۝

6. ඔවුන් ඒ අසැ වාඩිගෙන හුන් කල්හි[2411] — ٦- إِذْ هُمْ عَلَيْهَا قُعُودٌ ۝

7. තවද ඔවුහු. විශ්වාස කරන්නනට කරන (සැම) දැයම. සාක්ෂි දරමින් (මෙන්) බලා සිටියාහ — ٧- وَهُمْ عَلَىٰ مَا يَفْعَلُونَ بِالْمُؤْمِنِينَ شُهُودٌ ۝

8. ප්‍රශංසාහර්, බලසම්පන්න අල්ලාහු කෙරෙහි විශ්වාස කිරීම විනා අන් කිසි කරුණකට ඔවුන්ගෙන් ඔවුහු දඬුවම් නොකළහ. — ٨- وَمَا نَقَمُوا مِنْهُمْ إِلَّا أَنْ يُؤْمِنُوا بِاللَّهِ الْعَزِيزِ الْحَمِيدِ ۝

9. ඔහුටයැ අහස්හිද පොළොවෙහිද රජය. අල්ලාහු සියලු දැය ගැන දන්නේය.[2412] — ٩- الَّذِي لَهُ مُلْكُ السَّمَاوَاتِ وَالْأَرْضِ ۚ وَاللَّهُ عَلَىٰ كُلِّ شَيْءٍ شَهِيدٌ ۝

---

2408. පව්වා තමාගේ ශුභ හෝ අශුභ හෝ සියළු ක්‍රියාවන් ගැන ගණන දෙන්නට වන විනිශ්චය දින එය අනුමාන පිළිවිල්ලට යන්නම් කරුණක් නොවෙයි. එය වහී ප්‍රකාශනයේ නියතයෙන් ප්‍රතිඥාතයැ. එය නොවරදවා සිදුවන්නේය. එවිට තමන් කළ අපරාධයනට පව්වනට ශ්‍රාපොදිය දෙයැයැ.

2409. මෙයින් විනිශ්චය දිනය වටහා ගත යුතුයි. එදින සාක්ෂි දරන්නන් නම්:-

(1) නබිවරු (iii. 81)

(2) අල්ලාහු තආලා (iii. 81)

(3) සටහන් කරන මලක්වරු (L. 21)

පව්වන්ගේ පැරදි ලෙස යොදන ලද අත පය Lxxiv.24 ඔහුගේ ක්‍රියාවන්හි සටහන (Lxxvi. 14) හෝ ඔහු තෙමේම (xxii 14) සාක්ෂි දරන දැය හෝ සාක්ෂි දරණ මාතෘකාව නම් ක්‍රියාව හෝ අපරාධය පව්වා යමකුට විරුද්ධවැ සාක්ෂි දරන්නන් ද ඒ අය. මේ දැයට අයදීම නම් පව්වාට ඔහු කළ අපරාධයන්ගේ ඵල විපාකයන් මිදෙන්නට නොහැකි බවයි. ඔහු පසුතැවිලි විය යුතු. අල්ලාහු තආලාගේ දයාදෘ භාවය සෙවිය යුතු ඔහුගේ ජීවිතය පිළිසකර කර ගත යුතු.

2410. අගනාකා සංවාදනට්ටයෙහි විනාශ කරනු ලැබූ සහායයන්ගෙන් ගිනිවළෙහි ගිනිබත් කළ අය:-

1. අන්ඩියාකස් සූර් රූම් : මොහු ශාම් දේශවාසියෙකි.

2. බුක්ත් නසර් : මොහු පාර්සිය වාසියෙකි.

3. දූනුවාස් : මොහු නජ්රාන් නගර වාසියෙකි.

මොවුන් සිදෙන තමන්ගේ කාලයේ සිට විශ්වාස කරන්නවුන් ඔවුන්ගේ සත්මාර්ගය හැර පියන ලෙස සිව්සගෙන සිටියාහ. තමන්ගේ අණට කීකරු නොවූ අය, රියන් 40 ක් දිගවූ රියන් 20 ක් පළල වළක් කපා, ඒ වළෙහි ගිනි මැලයක් ගසා, තමන්ගේ අණට අකීකරුවූ ඔවුන් එහි දමා මැරූහ.

2411. රජපුරුවන්ගේ අණටර සිංහා පීඩාකර වධකයෝ දැල්වෙන ගින්නට ගොදුරු වූවන්ගේ දුක් මහත්තාප ගැන සාක්ෂි දරනයේ ප්‍රීතියෙන් බලමින් සත්තුන් ලෙස එපසල වාඩි ගෙන හුන්හ.

2412. වධකයෝ ගින්නෙහි දඬුවම් කරනු ලැබීමට, සුදුසුයයි අසවන ලදී. එසෙත් කෙවලවූ සත්‍යය අල්ලාහු ගැන විශ්වාස කිරීම නිසා ඔවුන් මිනිසුනට කර සිරත්ත අයුතු නපුරුකම ඒ දඬුවමට වඩා නිහාය. කල් පවත්තේය.

10. ඇත්තෙන්ම විශ්වාස කරන පිරිමින්හටද විශ්වාස කරන ස්ත්‍රීන්හටද හිංසා පීඩා කොට පසුව පසුතැවී නොවන ඔවුනටයැ ජහන්නමෙහි දඬුවම ඔවුනටයැ දල්වෙන ගින්නෙහි දඬුවම.[2413]

إِنَّ الَّذِينَ فَتَنُوا الْمُؤْمِنِينَ وَالْمُؤْمِنَاتِ ثُمَّ لَمْ يَتُوبُوا فَلَهُمْ عَذَابُ جَهَنَّمَ وَلَهُمْ عَذَابُ الْحَرِيقِ ۝١٠

11. ඇත්තෙන්ම, විශ්වාස කොට යහකම් කළවුනට ජන්නාවෝය. එහි යටින් ගලා බසින ගංගාය. එයැ මහත් වූ භාග්‍යය[2414].

إِنَّ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ لَهُمْ جَنَّاتٌ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ ۚ ذَٰلِكَ الْفَوْزُ الْكَبِيرُ ۝١١

12. ඇත්තෙන්ම, මුඹ හිමිගේ දඬුවම දැඩිමයැ[2415].

إِنَّ بَطْشَ رَبِّكَ لَشَدِيدٌ ۝١٢

13. ඔහුයැ පෙර නිදසුනක් නොමැතිවැ නිර්මාණය කරන්නේත්, පුනරුත්පාදනය කරන්නේත්[2416].

إِنَّهُ هُوَ يُبْدِئُ وَيُعِيدُ ۝١٣

14. ඔහුයැ අධි සමාන්විත දයාබර.[2417]

وَهُوَ الْغَفُورُ الْوَدُودُ ۝١٤

15. ප්‍රතාපවත් අර්ෂ්හි හිමියැ.[2418]

ذُو الْعَرْشِ الْمَجِيدُ ۝١٥

16. ඔහු සිතා ඔහු කරන්නේය[2419].

فَعَّالٌ لِّمَا يُرِيدُ ۝١٦

17. සේනා බලයේ වෘත්තාන්තය මුඹට පැමිණියේද[2420].

هَلْ أَتَاكَ حَدِيثُ الْجُنُودِ ۝١٧

---

2413. අපි ජහන්නමේ ගින්න දැල්වෙන ගින්නනන් විශේෂ කෙරෙහු නම් පසුව කී දැල්වෙන ගින්න රූපක වශයෙන් ගත යුතුයැ. මේ ජීවිතයෙහි සින්තුල දැල්වෙන ඔවුන්ගේ පච්කම් හා නපුරුකම් නැමති ගින්න, දෙවියය හා පලාභ නැමති ගින්න. ලර් ජාව හා කනගාටුව නමැති ගින්නයේ හසරත් බිලාල් රළියල්ලාහු අන්හු ඔහු වැදෙගත් ඉස්ලාම් හක්කිය හැර ඔහුගේ පූර් හක්කියට පරිවර්තනය වන්නට යයි ඔහුගේ ස්වාමියා ඔහුට වධ හිංසා කිරීම ඔහුගේ චරිතයෙහි ආගතයැ.

2414. සූරා v 122 බ.

මෙලොව කායිකී සිද්ධියට වඩා පරලොව කායිකී සිද්ධි ලබා ගැනීමද ස්වර්ගය ලබාගැනීමද මහා භාග්‍යයක. එනිසා මහා කායිකී සිද්ධි යයි කියන ලදී. මේ හැර ස්වර්ගය ලබා ගැනීමට වඩා ඔහුගේ තෘප්තිය ලබාගැනීම මෙයටද වඩා මහා මහා ලොකු කායිකී සිද්ධි යයිද භාග්‍යයයිද සැලකිය යුතු.

2415. දුමාර්ගකයන් ඔවුනට වන වේදනාවද සන්මාර්ගකයන් ඔවුනට වන යහ ඵල විපාකයද සාමාන්‍යයෙන් කිවාට පසු නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් පූර්වුවන් විශ්වාස නොකරන්නවුනට මතුවට සිදුවන සම්භවය ගැන, ඔවුනට ඉදිරි දැන්වීමක් කෙරෙයි. එනම් විශ්වාස නොකරන්නවුනට මතුවට වන දඬුවම නොපැමිණිනෙන්නේ යයි නොසිතිය යුතු සීඝ්‍රවැ හෝ ප්‍රමාදවැ හෝ ඔවුනට වේදනාව පැමිණෙන්නේයැ ඒ ඉතා දැඩි යයි මේ ආයාවෙහි අදහසි.

2416. සූරා ii. 117; vi. 101; xxx 27; xxxii 7. බ.

ඔහුයැ පළමු පළමුවැ පෙර නිදසුනක් නොමැතිවැ නිර්මාණය කරන්නේ. පසුව මරණය පමුණු වන්නේය. පසුව යළි ඔහුගේ පැරණි රූපයෙහි පෙරළා පමුණුවන්නේය. ජීවය දෙන්නේය යන අර්ථයි. "නිරය වාසීහු ගිනි අනුභව කෙරෙති. එහි ඔවුහු ගිනි අඟුරු බවට බැදෙති. පසුව අල්ලාහු තආලා ඔවුන් නව නිර්මාණයන් බවට පමුණුවන්නේය, එයයැ මේ ආයාවෙහි අදහස"යි ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු වාර්තා කෙරෙයි.

2417. මෙහිලෙහි 'වදූද්' යන සකල නිර්මාණයට යහ කැමතිවැ ඔවුනට උපකාර කොට ඔවුනට හිත කරන්නා යන අර්ථයි.

2418. සූරා ix 129 අ.ළි. 573 A බ.

2419. අබූබකර් සිද්දීක් රළියල්ලාහු රෝගාතුරවූ කල්හි ජනයා ඔහු වෙතට අවුත් "ඔබට අපි වෛද්‍යවරයෙකු කැදවාගෙන එන්නෙමුදැ"යි කීවේය. "කෙනෙකු මට වෙදකම් කළේය"යි ඔහු පිළිතුරු දුන්නේය. "කවරෙක්දැයි යන්නට "ඔහු සිතා ඔහු කරන්නේය" යන ආයාව හදාරා පෙන්වූයේය. අල්ලාහු තආලාගේ චේතනාවම වචනයක් ක්‍රියාවක්යැ. එදෙක අතර අතරක් නැත. ඔහු ඔහුගේ සිත වෙනස් නොකරන්නේය. ඔහුගේ චේතනාවක් එහි විධානයක් අතර කිසිම සිද්ධියක් වන්නට නොහැකිය. ඔහුගේ බලයත් ප්‍රතාපයත් එබඳුය.

2420.: අල්ලාහු තආලාගේ සදාකාලික හා සියල්ල පරග්‍රහණය කරන බලයට වඩා මිනිසාගේ ඉතා ඉහළ සේනා බලවේගය කිමෙක්ද? උදාහරණ දෙකක් දක්වන ලදී. ෆිර්අවුන් ලෝකයේ කොහිම යහගෙනෙකුගේ ධන සම්භාරය, සංවිධානය බුහීකිය, කල්ක්‍රියාව, සංවිදානය ඇති බලසම්පන්න රාජ්‍යයක උඩඟු නරපතියෙක් වූයේය. අල්ලාහු තආලාගේ රසූල්වරයාට විරුද්ධවැ පොරට සිටි කල්හි ඔහු ඔහුගේ සේනා බලය සමඟ විනාශ කරන ලදී.

Lxxix. 15-26 බ.

සමූද් ජනතාව ශ්‍රේෂ්ඨ ගෘහ නිර්මාණකයෝ වූහ. දුව්‍ය දෘෂ්ටිය පිළිබඳ ඉහළ සිෂ්ටාචාරයක් ඔවුනට තිබුණි. එහෙත් ඔවුහු අල්ලාහු තආලාට විරුද්ධවැ ක්‍රියාකොට මළහ. සූරා vii 73 - 79 බ.

18. ෆිර්අවුන්ගේ හා සමූද්ගේ හා?[2421] — ١٨- فِرْعَوْنَ وَثَمُودَ ۝

19. නො එසේ. විශ්වාස නොකරන අය ප්‍රතික්ෂේප යහියත.[2422] — ١٩- بَلِ الَّذِينَ كَفَرُوا فِي تَكْذِيبٍ ۝

20. අල්ලාහු ඔවුන්ගේ පිටුපසින් (ඔවුන්) වටාලන්නේය[2423] — ٢٠- وَاللَّهُ مِن وَرَائِهِم مُّحِيطٌ ۝

21. නො එසේ. එය ගෞරවනීය කුර්ආනයෙකි. — ٢١- بَلْ هُوَ قُرْآنٌ مَّجِيدٌ ۝

22. ආරක්ෂිත ඵලකයෙහි[2424] — ٢٢- فِي لَوْحٍ مَّحْفُوظٍ ۝

- 85 වන අල්-බුරූජ් සූරාව නිමි -

---

2421. ෆිර්අවුන්, සමූද් ආදී පසුව ඇති විශ්වාස නොකරන ජනයා, නබිවරුනටද සංමාර්ගයටද විරුද්ධවූ අන්සියම්දී විනාශව මේ විවරණ - මුහුට පැමිණියේද ඔවුන් ගැන විවරණ මුහු දන්නෙහිය. මෙලෙස මුහුට විරුද්ධ කළවුන් අන්සිමෙදී ඔවුන්ගේ ගතියට පමුණුනයි නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුරිමුවනවද ඔහු පෙරදැරිකොට සංමාර්ගකයනවද දන්වන ලදී.

2422. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් කාලයෙහි සිටි විශ්වාස නොකරන අය මොවුන්ගේ ක්‍රියා ගැන විවරණය කෙරේ. සිරුත් කුර්ආනය බොරු කෙරෙමින් සුන්න. එනම් නොකලැ විනාශවූ ජනතාවනට වඩා මොවුහු අවිශ්වාසයෙහි ඉතා දැඩියහයි යන අදහසි. මක්නිසාද සමූද් ජනයා සිටි දෙශ මාර්ගයෙන් මොවුහු යෙමින් සිටියාහ. මොවුන් විනාශ කළාවූ දැයෙහි නවබුන්ද අහිස් දැයද මොවුනතුරෙහි වූ එක් මහා ජනතාවක් කෙළින්ම දර්ශනය කරන්නාහ. එලෙස දැනගන්නට ලැබුණු එක් කාරණයක් ගැන සිරුත් කුර්ආනයෙහි සඳහන් කර තිබෙන බැවින් සිරුත් කුර්ආනය නිරාකරණය කළහ.

2423. මේ විශ්වාස නොකරන අය අන්සියම්දී රාජයා දඬුවම කරනු ලැබූ කල්හි එය අත්හැරු එක් කෙනෙකුවත් පැන යා නොහැකි ලෙස රාජයා විසින් වටාලන ලද්දාහ යන අදහසි.

2424. විශ්වාස නොකරන අය බොරුකරන්නාක් වැනි විෂයයක් නැත. ඔවුන් බොරු කරන්නට උත්සාහ දරන්නේ සිරුත් කුර්ආනයමැයි සංශෝධනය කිරීමට හෝ වෙනස් කිරීමට හෝ වෙන් අන්යකළියකට හෝ ඉඩ නැති සේ එය ආරක්ෂිත ඵලකයෙහි ලියන ලද්දේය යන අදහසි.

පෙළෙහි 'ලව්හුන්' යනු නැවෙහි දමනු ලබන ලෑල්ලට නමි. ලෑල්ලෙන් කල ඵලකයක හෝ වෙන කොයි එකකැ හෝ ලියනු ලබනු හෙයින් ඒ ඒ වස්තුවට ඵලක යයි සාමාන්‍යයෙන් කියයි. ලව්හුල් මහ්පූල් යන්න ගැන ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු "අල්ලාහු තආලා සුදු මුතුයෙන් ආරක්ෂා කරන ලද ඵලකය නිර්මාණය කෙළේය. එහි පත් ඉරු දෙකක් රත්මිණිවලයැ. එහි දිග අහසත් පොළොවත් අතර .ඇති දුරයැ. එහි පළල නැගෙනහිරත් බස්නාහිරත් අතර ඇති දුරයැ. අල්ලාහු තආලා දිනපතා තුන්සිය .හැටපස් වරක් එය නරඹන්නේය. නිර්මාණය කරන්නේය.* මරණයට පමුණුවන්නේය. ගෞරව කරන්නේය. අගෞරවයට පමුණුවන්නේය. ඔහු සිතූ දැයක් කරන්නේය. එහි ශිර්ෂයෙහි

'ලා ඉලාහ ඉල්ලල්ලාහු වහ්දහු වදීනහු අල් ඉස්ලාමු ව මුහම්මදූ අබ්දහු වරසූලහු මන් ආමන බිහි වස දකව අදහු වන්නව අර්යාලහු පුද් සිල්හුල් ජන්නත. අල්ලාහු තආලා හැර නැමදුම් කිරීමට අහිමි කෙනෙකු නැත. ඔහු තේවලය. ඔහුගේ මාර්ගය ඉස්ලාම්. මුහම්මද් ඔහුගේ වාලාය, ඔහුගේ රසූල්වරයාය. යමෙක් ඔහු විශ්වාස කොට ඔහුගේ වාග් උරුදිය විශ්වාස කොට ඔහුගේ රසූල්වරයා අනුගමනය කළ ඔවුන්, ඔහු ස්වර්ගයෙහි ප්‍රවේශ කරන්නේය' යනු ලියන ලද පද්‍ය'ය විවායක් කර ඇත.
සූරා iii 7 බ. xv 15

## තාරික්: තාරුකාව

سُورَةُ الطَّارِقِ

මක්කාහිදී පහලවිය

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- وَالسَّمَآءِ وَالطَّارِقِ ۝

1. අහසත් හා තාරුකාවෙත් (ප්‍රමාණය කොට කියමි)[2425].

٢- وَمَآ أَدْرٰىكَ مَا الطَّارِقُ ۝

2. තාරුකාව කුමැයි නුඹට කුමක් විස්තර කරන්නේද?

٣- النَّجْمُ الثَّاقِبُ ۝

3. විනිවිද දිලසෙන තකත් තරුවෙකි.

---

2425. මෙහිත අයැදීම සෝවලවූ ගුප්ත පටභහනවයැ: අහස හා එහි වූ තාරුකාවයැ. තවද ද්‍රව්‍යාත්මකවූ වගන්තිය 4 වන ආයාවෙහියැ. 'සෑම පෙනෙතු පෙරෙහිම ආරක්ෂකයෙකු නැත්තේ නොවෙයි. පෙර. සූරාවෙහි අල්ලාහු තආලාගේ ඇදටවන්නයනව හිංසා පිඩා කල ආකාරයද ඔහු ඔවුන් ආරක්ෂා කළ අන්දමද ගැන අපි කල්පනා කර බැලුවෙමු. මෙහිදු එම කරුණම වෙන අයුරකින් ඉදිරිපත් කරන ලදී. ඉතාමත් අඳුරුතු අහස්හි ඉතා දිලිසෙන තාරාකාවේ ආලෝකය ඉතා දීප්තිමත් ලෙස බබලයි. එලෙසම ආද්ධ්‍යාත්මික අන්ධකාර රාත්‍රියෙහි එහෙයින් අල්ලාහු තආලා 'තාරික්' යයි කියා එය පිළිබඳවූ ඔහුම විවරණය කරන්නේ විවියළ ආලෝකය ස්පර්ශ වගයෙන් නොකියා දිලිසෙන තකත් තරුව යයි සාමාන්‍යයෙන් කියා ඇති බැවින් සමෝසමයේය සියලු තකත් තරු මේ සඳහන් කරන්නේ යයි හසන් රහ්මතුල්ලාහි කියා ඇත. තකත් තරුවල දීප්තිය විවිධාකාරයෙන් ඇති බැවින් සියලු තකත් තරු දිලිසෙන බැවින්ද මේ පදය සියලු තකත් තරුවලට යෙදේ. අල්ලාහු තආලාගේ මහා බලසම්පන්න තම අහසද එහි ඇති තකත් තරුද දන්නා බැවින් එවා පෙන්නුම් කර ඔහු ප්‍රමාණ කෙරේ. තවද යත්වන අහස්හි වූ ගති ග්‍රහයා මේ පදයෙන් සඳහන් කරන්නේ ධූම කේතුව සඳහන් කෙරේ යයි කියන ලදී. අඳොනකාවයෙන් හෝ දුක් කම්කටුලෙන් හෝ අල්ලාහු තආලාගේ වහි නාමැති දීප්තිමත් තාරුකාව බබලයි. එම විශ්වාසය කරණ කොට ගෙන සද්දහනය කරන්නාවුද සත්‍යවන්ත වූද. මිනිසාට බියවන්නට දැයක් නැත. අල්ලාහු තආලා ඔහුගේ අය ආරක්ෂා කරන්නේය. පෙළෙහි 'තාරික්' යන්නට බොහෝ අර්ථ ඇත්තේය. එහෙයින් මේ ස්ථානයෙහි 'විවියළ' යන මේ පදය සඳහන් කෙරේ. විවියළ කාලයෙහි උදාවන මේ තකත් තරුව මහා දීප්තිය ඇති බැවින් මෙයට මේ නම ආගතය.

4. ඒ ස්ථානයට පැමිණි සැටියේම හසරත් තාවුස් යමානි රහ්මතුල්ලහි ඇයට " තිශේ අදහස මෙය නම්, මේ ස්ථානයෙහිම වැටේ කැරැ ඉවර කරන්නට පිළිවනැ"යි ඔහු කීවේය[2426].

٤- إِن كُلُّ نَفْسٍ لَّمَّا عَلَيْهَا حَافِظٌ ۝

5. මිනිසා කුමකින් නිර්මාණය කරන ලද්දේ දැයි (ඔහු) සිතාවා.

٥- فَلْيَنظُرِ الْإِنسَانُ مِمَّ خُلِقَ ۝

6. ඔහු ගලා යන දිය බිඳෙකින් නිර්මාණය කරන ලද්දේය[2427].

٦- خُلِقَ مِن مَّاءٍ دَافِقٍ ۝

7. එය පිට කොන්දටත් ඉළ ඇට වලටත් අතරින් නික්මෙන්නේය.[2428]

٧- يَخْرُجُ مِن بَيْنِ الصُّلْبِ وَالتَّرَائِبِ ۝

8. ඇත්තෙන්ම, ඔහුට පුනර්ජීවය දෙන්නට ඔහු (අල්ලාහු)ට පිළිවන්මය.[2429]

٨- إِنَّهُ عَلَىٰ رَجْعِهِ لَقَادِرٌ ۝

---

2426. එය ජන පවුහයාද ගමන බිමහද අධික ස්ථානයක් වූ බැවින් 'ඵ මගේ අදහසට මෙය සුදුසු තැනක් නොවේ. මිනිස්සු දකින්නාහ. හති ස්ථානයක් විසුදුතු යයි කීවා.' එයට ඔහු 'අල්ලාහු තආලා අප සෑම ස්ථානයන්හි දකී. එසේ නොවේද? ඉසිරියේ, මිනිසුන් දැක්ම තැන සී ලජ්ජා වන්නීද. අල්ලාහු තආලා දැකීම තැන සිට ලැජ්ජා නැත්තීද'යි කීවේය. ඔහුගේ මේ ආයාව ඇගේ සිතට ගත්වා. එසෙණෙහිම තව්බා කොට එතැන් පටන් තමාගේ දුරාචාර කමයෙන් වැලැක්කා.

තවද මේ ආයාවෙහි සදහන් ආරක්ෂකයෙකු යන පදයට මිනිසා කරන හොඳ නොහොඳ කායකර්යන් අභෝවක්ෂණය කිරීමට නියම කරන ලද මලක්වරයායි අර්ථ කියන ලදී. සෑම කෙනෙකු කෙරෙහිම ආරක්ෂකයෙකු නැත්තේ නොවෙයි. මිනිස් ජින් වර්ගයන්හි යහ අයහ එසිනෙකාගේ සියලු ක්‍රියාවන් අල්ලාහු තආලා අවධානය කරන්නේය යනු මේ ආයාවෙහි අදහසි.

සිරුමක්කාවෙහි දුරාචාර යෙදෙන එක්තරා ස්ත්‍රියක් සිටියා - 'තාවුස් යමානි නම් තැනැත්තාගේ විලිබිය හැර මම ඔහු හරවාගෙන පව්වු කම් කරන සේ හරින්නෙමියි මිඩිව් කමා පිස් තුළ සිරණය කරගෙන ඔහු වෙතට පැමිණියා. හසරත් තාවුස් යමානි බැල්මට ඉතා ලක්ෂණය. පරිහාස වශයෙන් කරාසිරිමවත් සමර්ථය. ඇගේ පැමිණීමෙහි අදහස ඇගේ කථාවෙන් ඔහු සියුම් ලෙස දැනගත. ඇයට 'සී විකතට සිටුව' මෙ නම් තැනට මම පැමිණෙන්නෙමි. එහි පැමිණි පසුව සිගේ අදහසට මම එකග වන්නෙමි'යි කීවේය. ඉක්බිති සංකේත ස්ථානයට දෙදෙනාම පැමිණියහ.

2427. සූරා Lxxvi 2 බ.

2428. මිනිසා නිර්මාණය කරන ලද බව පෙර කුත් ආයාවෙන් කියන ලදී. ශුක්‍ර ශෝණිත දෙක මිශ්‍රණයෙන් ගර්භ හටගනී. පිරිමියාගේ ඉන්ද්‍රියමය ශෝණිතය ඇගේ පසු ඇටය අතර ඉන්ද්‍රිය වශයෙන් මාරුවෙයි. මෙය පිරිසිදු සුදුපාට නොවූ විසක් රත සලටම් කැළැල් පාට වේ. ස්ත්‍රී පුරුෂයන් සංසර්ගයෙහි යෙදෙන විට කාමාශාව අධිකවූ හටගෙන එයින් ඇසිටන දැවිල්ලෙන් පසු ඇට අතර ශෝණිතය ඇසි කැතින් පහවන්නේය. මෙලෙසම පිට් කොඳු ඇටෙහි ඇසි ශුක්‍රද පහවන්නේය. එහෙයින් පිරිමියාගේ ශුක්‍ර ඔහුගේ අවශ රාශයෙන් පහවූ පිටවන විට ගලා, මේ ඉන්ද්‍රිය ධාතු පෙර, දොරටු මගින් පිටවන විට ඇත්තටම මේ ඉන්ද්‍රිය ධාතු එක නාගරයක් මගින් පිටවේ. සුදු දිය පහවන තලය වෙනැ, ඉන්ද්‍රිය ධාතු එන තළය වෙනැ. දෙකටම වෙන වෙන මං යැ. එය ඉතා සූක්ෂම බැවින් වෙන අයට නොවැටහේ. මේ ඉන්ද්‍රිය ධාතු ඇසි කැතින් පහවූ ගලා බසින බැවින් මෙයට ගලායන දිය යි කියන ලදී.

2429. පෙළෙහි අලාරජ් ඉහි' (ඔහුව පුනර්ජීවය දීමෙහි) යනු මිනිසා මළ පසු ඔහුව පුනර්ජීවනය දී විචාරණය කරන බව සඳහන් කෙරේ.

ඉහළ විස්තර කළ පරිදි මිනිසා නිර්මාණය කිරීමේදී (ඔහුගේ) මානසික හා ආධ්‍යාත්මික ශක්තීන් පිළිබඳ බලවේගයන් සම්මිශ්‍රණය කළ නිර්මාපකයාට, මෙහි මරණින් පසු ඔහුව නව ජීවයක් දී අන්තිම දිනය විමසා කරන පරලෝකයේදී මිනිසාගේ පෞද්ගලික භාවය නැවත පිහිටුවන්නට, ඇත්තෙන්ම පිළිවන

9. (සියලු) රහස් පිරික්සනු ලබන දින.[2430] — ٩- يَوْمَ تُبْلَى السَّرَائِرُ ۝

10. එවට, මනුට (කිසියම්) ශක්තියක් හෝ උදව්කාර යෙක් හෝ නොවේ.[2431] — ١٠- فَمَا لَهُ مِنْ قُوَّةٍ وَلَا نَاصِرٍ ۝

11. පුන පුනා වටකර යන අහස් මෙසයෙන් (ප්‍රමාණ කොට කියමි)[2432]. — ١١- وَالسَّمَاءِ ذَاتِ الرَّجْعِ ۝

12. (පොළොව) පළාගෙන හැවෙන (ගස ගැසියෙන් යුත්) පොළොවෙන් ප්‍රමාණ කොට කියමි.[2433] — ١٢- وَالْأَرْضِ ذَاتِ الصَّدْعِ ۝

13. ඇත්තෙන්ම, එය (හොඳින් නොහොද) වෙන් කරන වචනයෙක්වෙයි.[2434] — ١٣- إِنَّهُ لَقَوْلٌ فَصْلٌ ۝

14. තවද එය විනෝදයක් නොවේ.[2435] — ١٤- وَمَا هُوَ بِالْهَزْلِ ۝

---

2430 සිත්හි සැඟවී ඇති අදහස්, අදිටන්, කල්පනා ආදියද සැඟවී ඇති ක්‍රියාද අල්ලාහ් හෙළිදරව් කරන අතුරෙන් යහපත් කුමක්ද නොයහපත් කුමක්දැයි යන්න කරනු ලබන දිනය වූ විනිශ්චය දිනය මේ වාක්‍යයෙන් පැහැදිලි වේ.

මෙහි 'තුබ්ලා' යන පදය 'අල් ඉබ්ලා' යනුවෙන් නිපන්නකි. ශෝධනය, පරීක්ෂණය, පිරික්සුම යන අර්ථ එයින් ලැබේ. අල්ලාහ් තආලා තම වහලුන්ගේ අනාදි කාලයෙහි දැනගෙන සිටි දැය එළිදරව් කරනු පිණිස ඔවුන් පිරික්සන්නේය.

තවද මෙහි 'සරාඉර්' එන මේ රහස් යනු තෝරමින් තැබූයි. උදාහරණ. පිරිත් ජනාතය වැනි පිරිත් සදහන් කෙරේ. මේවා වහලුනටද අල්ලාහ් තආලාටද අතරවූ රහස් වේ.

පුනරුත්ථාන දිනෑ අල්ලාහ් තආලා සියලු රහස් එළිදරව් කරන්නේය. එහෙයින් ඇතැම් මුහුණු ලස්සනද ඇතැම් මුහුණු අවලස්සනද වේ. එනම් ඇදහීම යමෙක් සම්පූර්ණ කෙරේද ඔහුගේ මුහුණ දිලිසෙයි; එසේ යමෙක් නිෂ්ඵල කෙරේද ඔහුගේ මුහුණ කැලේ වේ.

2431. ඒ තවලෝකයේ, අපේ සියලු ක්‍රියා, චේතනා, සිතීම්, මේ ජීවිතයේ පිහිටීම්, කොපමණ රහසා වූවද, අමුරව ගෙන එනු ලබන්නේ, පරම සත්‍යයේ නියම දෙමිම්මෙන් පිරික්සනු ලබන්නේය. පිරිත්, රිෂ්වා, පක්ෂපාත භාව නම් ව්‍යාජ මිම්මෙන් නොමිනිනු ලබන්නේය. ඒ දැඩි පිරික්සුමෙහිදී මේ ලෝකයෙහි අමුතු ලාභ ප්‍රයෝජන සොයිම ශක්තියක් හෝ බලවේගයක් කිසි විටෙකත් උදව් නොවන්නේය.

අල්ලාහ් තආලා දෙන දඬුවම වළක්වන්නට හැකි ශක්තියක් මිනිසාට ස්වභාවයෙන් හෝ නැත. පිටත සිට උදව්කරන්නට හැකි සහයෙකු හෝ නැත්තේය යන අදහසි.

2432. භූමියෙහි වූ සමුද්‍රයන්හි ජලය මෙසය ගෙන ගොස්, නැවත බිමට වටවන්නේ යයි දරාබිනු සිතති. ඔවුන්ගේ මේ පිහිටීම්ලව එකගයේ වෂ්ටාවට 'අර්රජ්උ'යි නමෙකි. ඉහළ අහස පැම වීවම එන සැටිය. එහෙත් එහි දෙනිත වටකර යෑම මැදු ලෙසන් කලට වේලාවෙන් පෙනෙයි. අපේ මේ ජීවිතයේ කරුණුවලින් වෙනස් වෙමින් භ්‍රමණය වූවද එහි සදා එන සැටිවූ මද්‍යසයට යදා සත්‍යවූ වචයක් වැනි අල්ලාහ් තආලාගේ වහී, සත්‍යය එලෙස පෙන්නුම් කරන්නේය.

2433. මෙහි 'අස්සද්උ' යන පදයට පැළීම, බිහැරවීම යන අර්ථ ඇත්තේය. භූමියෙන් මුල් ඇදී හැවෙන ගස්වැල් ආදිය 'භූමිය පළාගෙන බිහැර වීමට' පොළොව 'පළාගෙන හැවෙන'යි කියන ලදී. පෘථිවිය ජනබද්ධයෑ. එහෙත් උල්පත් ගලායෙමින් උද්භිද ජාති හැටි එය (පෘථිවිය) තිලෙමින් මැදු කරන්නේය. සත්‍යයන් එසේය. මරණීයයනව ජනබද්ධයෑ. එහෙත් සාරවත් කැරෙන වහී ක්‍රියා කරණයෙන් ඒ (සත්‍ය)ය අපගේ අන්තර් පෞද්ගලික භාවය මෙවියන් ඇදී පුෂ්පිත වන්නට සලස්සන්නේය.

2434. මේ ආයාව සිරුස් කුර්ආනය හා එහි තත්ත්වය හා විවරණය කැරෙන සත්‍ය සත්‍යය දෙක බෙදා වෙන්කැර දැනගන්නා වචනය යන අදහසි.

මෙරු ඇලි. දෙක බි. වහී: එනම් අල්ලාහ් තආලාගේ සත්‍යය ජනබද්ධනමවූ කවුව පසාරු කරගෙන ගොස් අපේ ආද්ධ්‍යාත්මික ජීවිතයේ මද්ධ්‍ය(ස්ථාන)යට හා ලක්ෂ්‍යයට නියතයෙන් පමුණු වන්නේය. එය (වහී) හොඳින් නොහොද නියතයෙන්ම වෙන් කෙරේ. එය ආකාශයට හෝ පෘථිවියට හෝ වඩා සුළු කෙළියක් හෝ විනෝදයක් හෝ නොවෙයි. එය (වහී) අපේ ජීවිතයේ උච්චතම සිරස තැන උදව්වේ.

2435. දනිවු : සිරුස් කුර්ආන්හි කියන ලද විවරණ සියල්ල යථාර්ථවත් අදහසින් කියන ලද්දේය. එහි පරිහාස වශයෙන් හෝ කමාසා වශයෙන් හෝ කිසිවක් නොකියන ලද්දේය.

15. ඇත්තෙන්ම, ඔවුහු කුමන්ත්‍රණයක් කුමන්ත්‍රණය කෙරෙති.[2436] — ١٥- إِنَّهُمْ يَكِيدُونَ كَيْدًا ۝

16. මමද කුමන්ත්‍රණයක් කුමන්ත්‍රණය කෙරෙමි[2437]. — ١٦- وَأَكِيدُ كَيْدًا ۝

17. එහෙයින්, විශ්වාස නොකරන්නවුනට කල් දීමක් දෙව: ස්වල්ප කලකට ඔවුනට කාරුණික කල්දීමක් දෙව.[2438] — ١٧- فَمَهِّلِ الْكَافِرِينَ أَمْهِلْهُمْ رُوَيْدًا ۝

- 86 වන 'තාරික්' සූරාව නිමි -

---

2436. සිරුස් කුර්ආන් නබී සල්ලල්ලාහු අලෛහිවසල්ලම්ගේ සත්මාර්ගය බොරුයයි කතුරු කරන්නේ යයිද නබී සත්ස්වයව පවතැම්යයිද සත්මාර්ග විරෝධීහු සිතති.

අල්ලාහු තආලා ඔහුගේ දයාලු භාවය අපගේ ආධ්‍යාත්මික අන්ධකාරය විනිවිද යන ආලෝකය සපයා අපේ මනුෂ්‍යයන් ආධ්‍යාත්මික වැඩිමේ වාද්ධියට උදව්වන්නත් සොට ජනුබිව පාර්ථිව කීර්යක් මොවියන් ඇදීමට හෝ ඇළදොළක් ගලා බැසීමට උදව්වන්නාක් මෙන් හෝ වුවද තවද අල්ලාහු තආලා වැවදායි යන අදහසට විරුද්ධවැ කුමන්ත්‍රණ කරන නපුරු කුහක මිනිස්සු එහි ඇත්තාහ. එහෙත් ඔවුන්ගේ කුමන්ත්‍රණ සාර්ථක නොවන අතර අල්ලාහු තආලාගේ අභයම ඉටුවන්නේය. ඉස්ලාමීය වැඩි දියුණුව වැළැක් වූවන්නට උත්සාහ කළ කුරේෂ්වරුනට එලෙසම සිද්ධ විය. සියලු කාල යුගයන් හි එලෙසම වන්නේය.

2437. පෙළෙහි මකර යනු නපුරු අදහසින් කුමන්ත්‍රණය කිරීම හා යහ අදහසින් මන්ත්‍රණය කිරීමෙහි හා යෙදේ. සූරා iii. 58. බ.

විශ්වාස නොකරන අය කුමන්ත්‍රණය කළහ. අල්ලාහු තආලා මන්ත්‍රණ කළේය. අල්ලාහු තආලාහු ඉතාම හොඳ මන්ත්‍රණ කරුවා.

2438. විශ්වාස නොකරන අයගේ අදහස් වලට ඔවුනට දඬුවම් දීම හෝ පළිගැනීම හෝ මුඛ කැමති නොවිය යුත්තේය යනු මේ ආයාවෙහි අදහසි. මේ ආයාව පහළ වී ස්වල්ප කාලයකට පසු බදුරු සටන සිදුවූයේ යයි කියන ලදී. මේ ආයාව නබී සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුර්මුවනට අණ දීමට පහ වූයේ යයිද, විශ්වාස නොකරන අයට මතු සිදුවන විපත් දැනුම් දෙන්නේ යයිද කියන ලදී.

# අ අලා අත්‍යුත්තමයාණෝ

سُورَةُ الأعلى

මක්කාහිදී පහළවිය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. අත්‍යුත්තමයාණන් වූ ඔබ හිමියාගේ නාමය සුවිශුද්ධ කරව.[2439]

١- سَبِّحِ اسْمَ رَبِّكَ الْأَعْلَى

2. නිර්මාණය කොට අනුරූපී නිර්මාණය දුන්නාවූ ඔහු[2440]

٢- الَّذِي خَلَقَ فَسَوَّىٰ

---

2439. 'ෆසබ්බිහ්' බිස්මි රබ්බිකල් අලීම් (මහත් වූ ඔබ හිමියාගේ නාමය සුවිශුද්ධ කරව) යන ආයාව පහළවූ කල්හි, මෙය ඔබගේ 'රුකූහි' අන්තර්ගත කරවයි නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් කීවේය. එතැන් පටන් සබ්බිහිස්ම රබ්බිකල් අ ආල් (අත්‍යුත්තමයාණන් වූ ඔබ හිමියාගේ නාමය සුවිශුද්ධ කරව) යන ආයාව පහළවූ විට මෙය ඔබගේ සුජූද්හි ඇතුළත් කරවයි නායක සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් කීවේය. මුදාහරින ලෙස ඔහු රාජයාට යැද්දේය. නැමදුමෙහි හෝ ඉන් බැහැරව හෝ යම් කෙනෙකු සුබ්හාන රබ්බියල් අ ඇලා යනු කිව්වොත් ඔහුට ලැබෙන යහපල ගැන මට දන්වන්නට යයි ජිබ්රීල් අලෙයිහිස් සලාම්ගෙන් නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් උතුමා කීවේය. එයට 'ඔහු මුහම්මද් තුමනි, විශ්වාස කරන පිරිමියකු හෝ විශ්වාස කරන ස්ත්‍රියකු හෝ තමාගේ සුජූද්හි හෝ සුජූදයෙන් බැහැර හෝ මෙය කීවොත් එය ඔහුගේ මීයාන් තමැයි තරාදිය ; අර්ෂ් , කුර්සි,' මේ ලෝකයෙහි කඳු ආදියට වඩා බර ඇත්තේය. දන් මගේ වාලා ඇත්ත වඩා කීවේය. මා තමා සකල දයට ඉහළ නැනැත්තා. මට වඩා ඉහළ දයත් නැත. මලක්වරුනි, ඔබ සාක්ෂි දරවු. මගේ වාලා මම නැමැදුයෙමි. මගේ ජන්නාවෙහි මම ඔහු ප්‍රවේශ කෙළෙමි. අල්ලාහු තආලා කීවේය. ර වාලා මැරු ණවිට දිනපතා මීකායිල් මෙයට පෙර ඔහු රුකූහි අල්ලාහුමම උක්සරක්තු) 'නාවෙනි, ඔබ වෙනුවෙන් මම රුකූකෙළෙමි ; යනුද. සුජූද්හි (අල්ලාහුමම ලක්ස සජ්දූ) නාවෙනි, ඔබ වෙනුවෙන් මම සුජූද් කෙළෙමි. 'යනුද, සුජූද්හි (අල්ලාහුමම ලක්ස සජ්දූ) නාවෙනි, ඔබ යෙනුවෙන් මම සුජූද් කෙළෙමි. 'යනුද කියමින් සුන්නතුය.

තවද 'සුබ්හාන රබ්බියල් අලීම්' යන රුකූවෙහි සුබ්හාන රබ්බියල් ආලා යන සුජූද්හි වඩා ශැලපෙන බවට කාරණ නැත්තේ නොවෙයි. සුබ්හාන රබ්බියල් අලීම් යන තියාමයෙහි මනුෂ්‍යයන්ගේ තත්ත්වයද සුබ්හාන රබ්බියල් ආලා, යනුයෙහි ජීවාවර වර්ගයන්ගේ තත්ත්වයද හඟවා තවද නායක සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් උතුමාද මනුෂ්‍යගේ සුජූද් භවයන්ද සුජූදයට යන කැලැ තන්දක් නගිනවිට තක්බීර් කියන්නේය. පල්ලම් බසින විට 'තස්බීහ්' කියන්නාහුය. මෙවිටයැ නැමදුම ඇරඹෙන ලදදේ. හසරත් මී කායිල් අලෙයිහිස්සලාම් තමා පළමුවර 'සුබ්හාන රබ්බියල් ඇලා' යනු කී නැනැත්තා. ඒ කෙසේද යත්, අල්ලාහුතආලාගේ මහ තත්ත්වය දනගතහැකුයයි යන අදහස ඔහු සිත තුළ විය. එබැවින් 'නාවෙනි, ඔබගේ මහ තත්ත්වය ඔබගේ අධිකාරයද මට දනගැනීමට ශක්තිය දෙව්'යි රාජයාගෙන් ප්‍රාර්ථනා කළේය. එවිට අහස්හි අයතුගේ ශක්තිය රාජයා ඔහුට දුන්නේය. මේ කරණකොටගෙන ඔහු පන්දහස් හවුරුදු කාලයක් පියාසුවේය. අන්තිමේදී අර්ෂ්හි රශ්මියෙන් ඔහුගේ පියාපත් වැවුණේය. පැසුරද, ඔහුට ශක්තිය දෙන ලෙස අයැද සිටියේය එබැවින්, ඔහුට එයට වඩා දෙගුණයක් ශක්තිය දුන්නේය. යළිදු ඔහු පන්දහස් හවුරුදු පියාසුවේය. අන්තිමේදී ඔහුගේ පියාපත් කුරවිය. එවිට ඔහු කුරුළු පැටවකු ලෙස විය. අර්ෂද සිරස්තරණියද පෙර මෙන් එවාගේ ස්ථිරය පිණිස සිංහෙන දුටුහ. එවිට ඔහු සුජූද්කොට සුබ්හාන රබ්බියල් අ ආලායි කී පැසුර, තමාගේ පියාපත් වලින් ඔහු උසුලාගෙන අල්ලාහු ත ආලා ඉදිරියෙහි සිටුවා 'මකීම්යෙනි, ඔහු උදෙසා මා සුවිශුද්ධ කරව්'යි කීවේය. එයට ඔහු 'ඔහුට මා සුවිශුද්ධ කරව්'යි කීවේය. එයට ඔහු 'ඔහුට මා සුවිශුද්ධ කෙරෙමින් සුන්නේය. ජන්නාවට ඔහු ගෙන යව්'යි කීවේය.

2440. නිර්මාණයන් නිර්මාණය කොට එයට ප්‍රමාණවත් කරන දය ගෙන ඇවුව හවයන්වා එයට ඇති එවිතොපායයන් දුන් රාජයා යනු අදහසි.

නිර්මාණය කිරීමෙහි කටාව සුදුම එළවන්නාක් මෙන්ම අපිරිවිර්ජනය අල්ලාහු තආලාගේ සුවිශුද්ධ කිරීමෙහි අප පිනන මාර්ග කිහිපයකි.

| | |
|---|---|
| 3. විධි විධාන නියමකොට යහමග පෙන්නුවාවූ ඔහු. | ٣- وَالَّذِي قَدَّرَ فَهَدَىٰ ۝ |
| 4. තිලබ තණ උකහා දෙන්නාවූ ඔහු. | ٤- وَالَّذِي أَخْرَجَ الْمَرْعَىٰ ۝ |
| 5. පැසුරු ඔහු එය දුඹුරුවන් වියළි ඉපනැලි බවට පමුණුවන්නේය | ٥- فَجَعَلَهُ غُثَاءً أَحْوَىٰ ۝ |
| 6. කෙමෙන් ප්‍රකාශ කරණයේ අපි ඔබට කුර්ආනය හදාර වන්නෙමු. එහෙයින් ඔබ එය අමතක නොකෙරෙහිවා | ٦- سَنُقْرِئُكَ فَلَا تَنسَىٰ ۝ |
| 7. අල්ලාහු සිතූ දැය හැරයැ. ඇත්තෙන්ම. ඔහු එළිදරව් දැයද සැඟවුණු දැයද දන්නේය. | ٧- إِلَّا مَا شَاءَ اللَّهُ ۚ إِنَّهُ يَعْلَمُ الْجَهْرَ وَمَا يَخْفَىٰ ۝ |
| 8. තවද අපි (එය) ඔබට ලෙහෙසි පහසු කරන්නෙමු. | ٨- وَنُيَسِّرُكَ لِلْيُسْرَىٰ ۝ |
| 9. එසේ හෙයින් (මිනිසුනට) උපදෙස් දෙව. උපදේශය ප්‍රයෝජනවත්ය | ٩- فَذَكِّرْ إِن نَّفَعَتِ الذِّكْرَىٰ ۝ |
| 10. බිය බැතිමත් අය උපදේශය පිළිගන්නාහුය. | ١٠- سَيَذَّكَّرُ مَن يَخْشَىٰ ۝ |
| 11. තවද අභාග්‍යවත් අය එය වළකින්නෝය. | ١١- وَيَتَجَنَّبُهَا الْأَشْقَى ۝ |
| 12. තිරයැ මහා ගින්නෙහි පිවිසෙන අය. | ١٢- الَّذِي يَصْلَى النَّارَ الْكُبْرَىٰ ۝ |
| 13. පැසුරු ඔහු එහි නොමියෙයි; නොද ජීවත්වෙයි. | ١٣- ثُمَّ لَا يَمُوتُ فِيهَا وَلَا يَحْيَىٰ ۝ |
| 14. (පවිත් හා විශ්වාස නොකිරීමෙන් දුරුව පිරිසිදු වන්නවුන් සඵල වන්නෝය. | ١٤- قَدْ أَفْلَحَ مَن تَزَكَّىٰ ۝ |
| 15. ඔවුන්ගේ ආරක්‍ෂක හිමියේ නම සිහිපත් කොට නැමදුම් කරන අය. | ١٥- وَذَكَرَ اسْمَ رَبِّهِ فَصَلَّىٰ ۝ |
| 16. නො එසේ. නෙපි මෙලොව ජීවිතය වඩා (හොඳයයි) කැමති වන්නාහුය. | ١٦- بَلْ تُؤْثِرُونَ الْحَيَاةَ الدُّنْيَا ۝ |
| 17. එහෙත් පරලොව ජීවිතය වඩා හොඳයැ. කල් පවත් නේය. | ١٧- وَالْآخِرَةُ خَيْرٌ وَأَبْقَىٰ ۝ |
| 18. ඇත්තෙන්ම. මෙය පූර්වතම වගී ප්‍රකාශනයන්හිමය. | ١٨- إِنَّ هَٰذَا لَفِي الصُّحُفِ الْأُولَىٰ ۝ |
| 19. ඉබ්‍රාහිම්ගේ හා මූසාගේ (වගී ප්‍රකාශන) පුස්තකයන්හිය. | ١٩- صُحُفِ إِبْرَاهِيمَ وَمُوسَىٰ ۝ |

- 87 වන අ අලා සූරාව නිමි -

අල්ගාෂියා. නිමග්න කිරීම.

سُورَةُ الْغَاشِيَةِ

මක්කාහිදී පහළ විය.

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන් — بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. නිමග්න කිරීමේ වෘත්තාන්තය නුඹට පැමිණියේද?[2441] — ١- هَلْ أَتَاكَ حَدِيثُ الْغَاشِيَةِ ۝

2. මුහුණු එදිනැ දීන බැල්මෙන් යුක්තවේ.[2442] — ٢- وُجُوهٌ يَوْمَئِذٍ خَاشِعَةٌ ۝

3. බරපතල වැඩ කිරුමෙන් ආයාසයට පත්වැ. — ٣- عَامِلَةٌ نَاصِبَةٌ ۝

4. අවිලෙන ගින්නෙහි ඔවුන් පිවිසෙන කල්හි. — ٤- تَصْلَىٰ نَارًا حَامِيَةً ۝

5. පැසෙන උණු දිය උල්ලෙහි ඔවුනට පවසට පැන් දෙනු ලබන කල්හි. — ٥- تُسْقَىٰ مِنْ عَيْنٍ آنِيَةٍ ۝

6. ඔවුනට තිත්ත අත්තන අනුහවය විනා නැත.[2443] — ٦- لَيْسَ لَهُمْ طَعَامٌ إِلَّا مِنْ ضَرِيعٍ ۝

7. පෝෂ්‍ය නොකරන්නේය: ක්ෂුධා නොසන්සිඳුවන්නේය. — ٧- لَا يُسْمِنُ وَلَا يُغْنِي مِنْ جُوعٍ ۝

8. මුහුණු එදිනැ සොම්නස් වන්නේය. — ٨- وُجُوهٌ يَوْمَئِذٍ نَاعِمَةٌ ۝

9. ඔවුන්ගේ උත්සාහයට සොම්නස්වැ. — ٩- لِسَعْيِهَا رَاضِيَةٌ ۝

---

2441. පෙළෙහි අල්ගාෂියා යනුවෙන් අන්තිම දින කියා සූරා XII. 107 බ.,

2442. මෙයින් අන්තිම දිනැ කාපිර් වරුන්ගේ තත්වය කියා මුහුණු යන්නෙන් කාපිර්වරුන්ගේ මුහුණු කියා. සූරා LXXV. 22. 24.බ.

2443. පෙළෙහි 'ළරීඅල්' යනුවෙන් එක් වර්ගයක... හගවා මෙය නොවියළී නිල්පැහැවැ ඇති කල්හි අරාබිවරු මේවා ගෙන තමන්ගේ ඔටුවනට ආහාර වශයෙන් දෙති. මේවා කැවාම ඔටුවෝ තරවැ වැටෙතියි කියති. මේවා වියළී කල්හි මෙහි එක් විධියක විෂක් ඇත. එහා මරණයට පත්වෙයි.

10. උසස් ජන්නා වෙතැ — ١٠- فِي جَنَّةٍ عَالِيَةٍ ۝

11. එහි ප්‍රලාප තෙපුල් ශ්‍රවණය නොකරන්නේය. — ١١- لَا تَسْمَعُ فِيهَا لَاغِيَةً ۝

12. එහි තදින් ගලා බසින දිය උල්පය[2444] — ١٢- فِيهَا عَيْنٌ جَارِيَةٌ ۝

13. එහි උසින් නැඟූ අසුන් ඇත්තාහ[2445] — ١٣- فِيهَا سُرُرٌ مَرْفُوعَةٌ ۝

14. පාන පාත්‍රද පිළියෙළ කර ඇත.[2446] — ١٤- وَأَكْوَابٌ مَوْضُوعَةٌ ۝

15. පෙළට තබන ලද බම්බෙර් හනද. — ١٥- وَنَمَارِقُ مَصْفُوفَةٌ ۝

10. අතොට මහඟු පලස් ඇතිරිද. — ١٦- وَزَرَابِيُّ مَبْثُوثَةٌ ۝

17. ඔවුවා කෙසේ නිමවනදැයි ඌ දෙස ඔවුහු නොබලන්නෝද? — ١٧- أَفَلَا يَنْظُرُونَ إِلَى الْإِبِلِ كَيْفَ خُلِقَتْ ۝

18. අහස දෙසද: එය කෙසේ ඔසවන ලදදැයි. — ١٨- وَإِلَى السَّمَاءِ كَيْفَ رُفِعَتْ ۝

10. කඳු දෙසද: එය කෙසේ සවි කරන ලද දැයි. — ١٩- وَإِلَى الْجِبَالِ كَيْفَ نُصِبَتْ ۝

20. පොළොව දෙසද එය කෙසේ පතුරන ලදදැයි. — ٢٠- وَإِلَى الْأَرْضِ كَيْفَ سُطِحَتْ ۝

21. එසේ හෙයින් උපදෙස් දෙව ඇත්තෙත්ම නුඹ උපදේශකයෙකි. — ٢١- فَذَكِّرْ إِنَّمَا أَنْتَ مُذَكِّرٌ ۝

22. ඔවුන්ගේ කටයුතු සංවිධානයෙහි නුඹ ඔවුන් මත නියම නොකරන ලද්දෙහිය.[2447] — ٢٢- لَسْتَ عَلَيْهِمْ بِمُصَيْطِرٍ ۝

23. ප්‍රතික්ෂෙප කොට හැරෙන අය හැරුණය[2448]. — ٢٣- إِلَّا مَنْ تَوَلَّى وَكَفَرَ ۝

24. මහත් වේදනාවෙන් අල්ලාහු ඔහුට වේදනා දෙන්නේය.[2449] — ٢٤- فَيُعَذِّبُهُ اللَّهُ الْعَذَابَ الْأَكْبَرَ ۝

---

2444. ජන්නාවෙහි ගංගාවන්හි සිසි විවෙක දිය නොසිඳේ. සැම විටම ගං ගලා බස්නාහ.

2445. ජන්නාවෙහි ඇති අසුන් වල උස අහසටත් පොළොවටත් අතර ඇත්තාක් මෙන් වර්ෂ පන්සියයක් දුර ඇතැයි රසූලුල්ලාහි අලෛහිවසල්ලම් කියා ඇත. එහි ආරෝහණය වන්නට අල්ලාහු ග ආලාගෙන් අවසර පැමිණි හැවියෙම ඒ අසුන් නැමී එයි. එහි ඔවුන් ආරෝහණය වූ වහාම ඒ ඉහළ නඟී.

2446. ඒ දිය උල් අසල ජන්නා වැසියන් කැමැතියේ ජලය පානය කිරීමට ඔවුන් වෙත පාන පාත්‍ර තබා ඇත.

2447. ඔවුන් සෘජු මාර්ගය ගත යුතුය යන කටයුත්ත නුඹට නැත.

2448. නබී සල්ලල්ලාහු අලෛහිවසල්ලම් උපදෙස දියයුතුමය. ජනයා ඒ උපදෙස් අනුව හැසිරිය යුත්තෝය. ඔහු නිබන්ධනය කළ නැත. එහෙයින් ඒ උපදේශයට පිටු පෑ ප්‍රතික්ෂෙප කිරීමෙහි පිළිතුරු කවර දඬුවමෙන්දැයි යන විවරණ මේ ආයාවේ පවත් සියතු ලැබේ.

2449. මහත් වේදනාව යනු නිරයෑ වේදනාවයෑ.

إِنَّ إِلَيْنَا إِيَابَهُمْ -٢٥

25 ඇත්තෙන්ම, ඔවුන්ගේ පුන පැමිණීම අප වෙත වයැ[2450].

ثُمَّ إِنَّ عَلَيْنَا حِسَابَهُمْ -٢٦

26. පැසුව, ඇත්තෙන්ම ඔවුන්ගේ ගණන් ගැනීම අපටයැ.

- 88 වන සූරාව අල්ගාෂියා නිමි -

2450. ඔවුන් පුන පැමිණීම යනු ඔවුන් මළ පසු රාජයා වෙතට ඔවුන් යළි පැමිණීම සඳහන් කෙරේ.

## අල්ෆජ්ර්: අරුණෝදය

سُورَةُ الفَجْرِ

මක්කාහිදී පහළවිය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- وَالْفَجْرِ

1. අරුණෝදය මත ප්‍රමාණ කොට ෆජ්රු සාදික්. ෆජ්රු සාදික් කියා අරුණෝදය දෙවදරුම වේ.[2451]

٢- وَلَيَالٍ عَشْرٍ

2. රාත්‍රී දහය මත ප්‍රමාණ කොට කියමි[2452]

٣- وَالشَّفْعِ وَالْوَتْرِ

3. ඉරට්ටේ ඔත්තේ(මත) ප්‍රමාණ කොට කියමි.[2453]

٤- وَاللَّيْلِ إِذَا يَسْرِ

4. රාත්‍රිය ඉක්මයන කල්හි (එය මතු මත ප්‍රමාණ කොට කියමි)

٥- هَلْ فِي ذَٰلِكَ قَسَمٌ لِّذِي حِجْرٍ

5. බුද්ධි මතුනට මෙහි දිවුරුමෙක්(නොවේ)ද?

٦- أَلَمْ تَرَ كَيْفَ فَعَلَ رَبُّكَ بِعَادٍ

6. ඔබ හිමි ආද් (ජනයා)ට කල පැටි ඔබ නොදත්තේ හිද[2454]

٧- إِرَمَ ذَاتِ الْعِمَادِ

7. උස්ටැඹත් පුත් ඉරම් (සමූහයෙකි).

---

2451. ෆජ්රු කාදිබ්: විවියදෙ වෙලාවෙහි පූර්වදිග්භාගයෙහි සිට මද්ධ්‍යාකාශය දෙස කෙළින් සුදක් පෙනෙයි. මෙයට බොරු සුදයයිද කියා ව්‍යවහාර කෙරෙති. ෆජ්රු සාදික්: මෙයට සැබෑ සුදයයි ව්‍යවහාර කෙරේ.

2452. අරාබි රටේ රයයි කී කල්හි ඒ හා බැඳුණු දහවලද ගණන් ගැනීම සිරිති. මේ ව්‍යවහාරය අනුව රාත්‍රී දහයයි කී කල්හි දස දවස ගණන් ගනු ලැබේ. මේ දස දවස කවරේදැයි ප්‍රඥාවන්තයෝ විමසා බලා.

දුල් හජ්මාසයේ පළමුවන දස දවසයිද
රමලාන් මාසයේ අන්තිම දස දවසයිද
ෂාබාන් මාසයේ මද්ධ්‍ය දස දවසයිද
විවුත්ත්වේ ගවේෂණයට ගැළපෙනසේ කියා ඇත.

2453. මේ ආයාවෙහි, සෑම මැවීමක් විසින් සෑම සකල වස්තූන් ඇතුළත්වේ. කවද එක එක වස්තුවෙහි ජෝඩු ජෝඩු නිර්මාණ කරනු යි අල්ලාහු තආලා කියා ඇති පරිදි ලෝකයෙහි ඇති සියලු වස්තූනුම ජෝඩු නොමැතිව නොවලවූ නැත. ඉරට්ටේ යයි මෙහි රාජ්‍යායේ සීම සකල සෘෂ්ටිය සඳහන් කෙරේ.

2454. අල්363. 7/65 බ.

2455. දකුණු අරාබියේවූ ආද් ජනයාගේ ප්‍රධාන නගරය.

8. මිටියාවතෙහි කඳු කැණූ සමූද් ජනයාද[2456].

٨- الَّتِي لَمْ يُخْلَقْ مِثْلُهَا فِي الْبِلَادِ

9. මොවුහු ශිජායයටද තබූකයට අතරවූ හිජ්ර් දේශයෙහි විසූහ. තවද මොවුහු පර්වතගෙලා ගෙවල් තැනූහ.

٩- وَثَمُودَ الَّذِينَ جَابُوا الصَّخْرَ بِالْوَادِ

10. උල් හිම[2457] ෆිර්අවුන්ද.

١٠- وَفِرْعَوْنَ ذِي الْأَوْتَادِ

11. දේශයෙහි අතික්‍රමණය කළ අයද[2458].

١١- الَّذِينَ طَغَوْا فِي الْبِلَادِ

12. තවද ඔවුහු එහි පව්කම් වැඩි කළහ.[2459]

١٢- فَأَكْثَرُوا فِيهَا الْفَسَادَ

13. ඔබ හිමි ඔවුන් මත වේදනා කස පහර දුන්නේය.[2460]

١٣- فَصَبَّ عَلَيْهِمْ رَبُّكَ سَوْطَ عَذَابٍ

14. ඇත්තෙන්ම, ඔබ හිමි මුර අට්ටාලයෙහි (ආරක්ෂා කරගනු වැත්ත).

١٤- إِنَّ رَبَّكَ لَبِالْمِرْصَادِ

15. මිනිසා ගැන නම්: ඔහු හිමි ඔහුට ගෞරව හා සිලිණ දී ඔහු පිරික්සන කල්හි "මහිමි මට ගෞරව දුන්නේයයි ඔහු කියන්නේය".

١٥- فَأَمَّا الْإِنسَانُ إِذَا مَا ابْتَلَاهُ رَبُّهُ فَأَكْرَمَهُ وَنَعَّمَهُ فَيَقُولُ رَبِّي أَكْرَمَنِ

16. ඔහු කෙරෙහි ඔහුගේ බොජුන් සීමා කරවා ඔහු පිරික්සන කල්හි "මහිමි මා අවම කළේය"යි ඔහු කියන්නේය.

١٦- وَأَمَّا إِذَا مَا ابْتَلَاهُ فَقَدَرَ عَلَيْهِ رِزْقَهُ فَيَقُولُ رَبِّي أَهَانَنِ

17. නො එසේ නොපි අනාථයනට උපහාර නොකෙළෙහුය.

١٧- كَلَّا بَل لَّا تُكْرِمُونَ الْيَتِيمَ

18. දිළිඳුන් පෝෂ්‍ය කිරීමෙහි අනන් මත පෙරැත්ත නොකරන්නහුය[2461]

١٨- وَلَا تَحَاضُّونَ عَلَىٰ طَعَامِ الْمِسْكِينِ

19. නොපි උරුමය දව් ලෝභකමින් තබාගෙන ගිලින්නහුය.[2462]

١٩- وَتَأْكُلُونَ التُّرَاثَ أَكْلًا لَّمًّا

---

2456. ඉගහයි ඉරම්ගේ පුත්‍ර ආමිර් පුත්‍රයාය. සමූද් යනු. පරපුර් සාලිහු අලෙයිහිස්සලාම් මොවුන්ගේ නබිවරයා වශයෙන් එවන ලදී.

2457. සූරාව 38. 12. බ.

2458. ආද් සමූහය යමන් දේශයෙහිද සමූද් සමූහය ශාම් දේශයෙහිද ෆිර්අවුන් මිසර දේශයෙහිද සංචාරක සීමා අතික්‍රමණය කළහ.

2459. පෙළෙහි 'අල්ෆසාද්' යනු සියලු විධියේ පව්කම්ට නමෙකි.

2460 'ආද් සමූහයා සැඩ සුළඟින්ද සමූද් සමූහයා හෙණ පහරින්ද ෆිර්අවුන්ද ඔහු වටා අයද ජලයෙහි ගිල්වීම කිරීමෙන්ද මැඩි.

2461. රාජයා මිනිසාට වස්තුව දී ඇතත්, වස්තුව ගැන මහත් ආශාව නිසා දිළිඳු අනාථයනට භෝජන වස්ත්‍රාදිය දී මිනිසා උපකාර කෙළේ නැත. දිළිඳුනට බොජුන් නුදුන්නේය. යනු මේ ආයාවෙහි අදහසි. මක්කා නගරයෙහිවූ අද්බද් කුමිනු රෑ අා යනුවා මේ ආයාවෙන් කියන ලද මෙතැයිදේයි.

2462. ළොවැ මිනිස්සු තමන් ළඟවූ කුඩාවුන් හා ස්ත්‍රීන්ගේ උරුම භාගය ඔවුනට නොදී එවාද තමන්ගේ වස්තුව හා තබාගෙන තමන්ගේ අය වියදමෙහි උපස් කරන්නැහ යනු අදහසයි.

20. තවද වස්තුව අධිකතර ආලයෙන් ආලය කරන්නැහ[2463] — ٢٠- وَتُحِبُّونَ الْمَالَ حُبًّا جَمًّا ۝

21. නො එසේ පොළොව සුණු විසුණු වූ කල්හි[2464] — ٢١- كَلَّا إِذَا دُكَّتِ الْأَرْضُ دَكًّا دَكًّا ۝

22. තවද නුඹ හිමි ද ඇණි බැඳ මෙන් මලක්නුද අවුත්. — ٢٢- وَجَاءَ رَبُّكَ وَالْمَلَكُ صَفًّا صَفًّا ۝

23. තවද එදිනැ ජහන්නම් ළඟා කරනු ලබන්නේය. එදිනැ මිනිසා සිහිපත් කරන්නේය ඒ සිහිපත් කිරීමෙන් ඔහුට වැඩෙක් වන්නේද [2465] — ٢٣- وَجِيءَ يَوْمَئِذٍ بِجَهَنَّمَ ۚ يَوْمَئِذٍ يَتَذَكَّرُ الْإِنسَانُ وَأَنَّىٰ لَهُ الذِّكْرَىٰ ۝

24. "අහෝ! මගේ දූත මගේ මතු ජීවිතය ගැන (යහකම්) මම පෙළෙම් නම් යි ඔහු කියන්නේය.[2466] — ٢٤- يَقُولُ يَا لَيْتَنِي قَدَّمْتُ لِحَيَاتِي ۝

25. එදිනැ ඔහු දඬුවම් කර දෙන්නාක් මෙන් කිසිවෙක් දඬුවම් නොකරන්නේය. — ٢٥- فَيَوْمَئِذٍ لَّا يُعَذِّبُ عَذَابَهُ أَحَدٌ ۝

25. තවද එවට ඔහු බැන්දාක් මෙන් කිසිවෙක් නොබඳින්නේය.[2467] — ٢٦- وَلَا يُوثِقُ وَثَاقَهُ أَحَدٌ ۝

27. අහෝ නෆ්ස්! සුණ් ශාන්තියෙහි[2468]. — ٢٧- يَا أَيَّتُهَا النَّفْسُ الْمُطْمَئِنَّةُ ۝

28. ප්‍රියවැ ප්‍රිය කරනු ලැබ නුඹ හිමි වෙතට පුන පැමිණෙව[2469]. — ٢٨- ارْجِعِي إِلَىٰ رَبِّكِ رَاضِيَةً مَّرْضِيَّةً ۝

29. නුඹ මගේ වහලුන් කෙරෙහි අතුළු වව.[2470] — ٢٩- فَادْخُلِي فِي عِبَادِي ۝

30. තවද නුඹ මගේ ජන්නාවෙහි ඇතුළු වව. — ٣٠- وَادْخُلِي جَنَّتِي ۝ ع

- 89 වන සූරාව අල්ෆජ්ර් නිමි -

---

2463. වස්තුව රැස්කර තබාගැනීමෙහි කොපි ප්‍රමාණයට වඩා ප්‍රිය කරන්නාහ. යනු අදහසි. වස්තු ආශාව සාගරයක් ඇත්තේය. වස්තුවතැන ආශාකිරීම ස්වභාවධර්මයැ. එබැවින් ඒ ආශාව න්‍යායමාන ප්‍රමාණයට න්‍යායමාන වේලාවෙහි තිබියයුතුය. රාජයා වස්තු ආශාව මේ ආයාවෙහි සඳහන් කර නැත. ප්‍රමාණයට වඩා ආශා කිරීමමය. මේ ආයාවෙහි සඳහන් කර ඇත්තේ, තවද මෙලොව ගැන මහදුකාව ඇත්තේයයිද මේ කරුණ සොවගෙන ඔවුහු පරලොව අමතක කොට හරින්නෝ යයිද රාජයා දනුම් දී ඇත.

2464. පෙළෙහි 'දක්කන් දක්කා' යනුවෙන් පිළිවෙළට කුඩු කම්පාව සියලු කඳු පල්ලම් සමවැවන්නේය. යනු අදහසි.

2465. රාජයාගේ අණ පැමිණි පැටියේ මලක්කු අහසින් පහළ බසින්, ඔවුහු මහ්ෂර් පිට්ටනිය වටා ඇණි බැඳ මෙන් සිටින් ඔවුහු පහක් ඇණි බැඳ සිටින්නාහයි කියන ලදී.

2466. එහිදී මිනිසා සිහිපත් කරන්නේ කෙසේදැයි යන විවරණය මේ ආයාවෙහි කියන ලදී. එනම්, මේ ලෝකයෙහි වසන කල්හි මළ අය මළවුන්ගෙන් නැගිට විභාරණයට කරනු ලබන්නේයයි යන විශ්වාසය නොමැතිව සිටි බැවින් පරලොව වාසය ගැන කළ යුතු කාර්යන් නොකොට මෙලොව වාසයෙහි ඇලී ගැලී සුන් මිනිසා එහි යලි ජීවිතය ලැබ නැඟී සිට සියල්ල ප්‍රත්‍යක්ෂලෙස දකින කල්හි එලොව වාසය කළ කල්හි මෙලොව වාසය ගැන වූවමනා කොහිම දයක් වත් නොකෙරේයයි ඔහු අන්ත ලත්ගෝය.

2467. එදින සියලු අධිකාරය අල්ලාහු තආලාටය. එදිනැ. ඔහු දඬුවම් කරන්නාක් මෙන් වෙන කිසිවෙක් දඬුවම් නොකරන්නේය. ඔහු වරද කරුවන් බඳින්නාක් මෙන් වෙන කිසිවෙක් නොබඳින්නේය. යන අදහසි.

2468. පෙළෙහි 'අල්මුත්මඉන්නා' යනු නැසෙන සෙලවෙන කොයි වස්තුවක් වුවද ගැසීම සෙලවීම නොමැතිව තිබීම සඳහන් කෙරේ. මෙලෙස මිනිසාගේ හෘදය පාපී ක්‍රියාවන් කිරීමෙන් වැළකී යහ ක්‍රියාවන්හි ශාන්ත භාවය කියා 'නෆ්ස්' යනු මිනිසාට ඇතිවන නා නා විධ තත්ත්වයන් සිහි කිරීම ඒ තත්ත්වයන් සත් වැදෑරුම් වේ.

1. නෆ්ස් අම්මාරා
2. නෆ්ස් ලව්වාමා
3. නෆ්සේ මුත්මඉන්නා
4. නෆ්සේ මුල්හිමා
5. නෆ්සේ රාළියා
6. නෆ්සේ මර්ළියා
7. නෆ්සේ කාමිලා

2469. අල්ලාහු තආලාට නිරන්තරයෙන් දී ඇති දයාලු භාවයට එකගවූ ඔහුගේ භාජ්‍ය ලැබ නුඹගේ හිමි නුඹට ප්‍රසිද්ධ දී ඇති දයට පුන පැමිණෙව යනු අදහසි.

2470. අපගේ යහවලුන්ගේ සමාගමයෙහි නුඹද වව යනු අදහසි.

## අල්බලාද්: නගරය

سُورَةُ البَلَد

මක්කාහිදී පහළවීය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. මම නගරය ප්‍රමාණ[2471] කොට කියමි.
۱- لَا أُقْسِمُ بِهَٰذَا الْبَلَدِ ○

2. ඔබ මෙම නගරයෙහි ස්වාධිනයෙකි.
۲- وَأَنتَ حِلٌّ بِهَٰذَا الْبَلَدِ ○

3. ජානකයා හා ජාතයා මත (ප්‍රමාණ කොට කියමි).
۳- وَوَالِدٍ وَمَا وَلَدَ ○

4. ඇත්තෙන්ම, අපි මිනිසා මරණාන්තික දුෂ්කරතාවයෙහි මවන ලදී.[2472]
۴- لَقَدْ خَلَقْنَا الْإِنسَانَ فِي كَبَدٍ ○

5. ඔහු මත කිසිවකුට බලයෙක් නැත්තේ යයි ඔහු සිතන්නේද?[2473]
۵- أَيَحْسَبُ أَن لَّن يَقْدِرَ عَلَيْهِ أَحَدٌ ○

6. "මම මහත් වස්තුව විනාශ කෙළෙමි"යි ඔහු කියන්නේය.[2474]
۶- يَقُولُ أَهْلَكْتُ مَالًا لُّبَدًا ○

7. "කිසිවෙක් ඔහු නොදකින්නේය"යි ඔහු සිතන්නේද?
۷- أَيَحْسَبُ أَن لَّمْ يَرَهُ أَحَدٌ ○

8. අපි ඔහුට නෙත් දෙකක් නොකළෙමිද?
۸- أَلَمْ نَجْعَل لَّهُ عَيْنَيْنِ ○

9. දිවක්ද තොල් සගලක්ද
۹- وَلِسَانًا وَشَفَتَيْنِ ○

---

2471. මක්කා නගරය.

2472. මනුෂ්‍යයන් වශයෙන් උපදින සියල්ලෝම දුක් විඳින්නාහයි යනු අදහසි.

2473. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් උතුමාට හිංසා පීඩා කළ කුරෛෂිවරුන්ගේ ප්‍රධානියා වන වලීද් ඉබ්නුල් මුගෛයරා වැනියන් ගැන මෙහි සඳහන් කරන ලදී.

2474. අබ්දුල්ලා ඉබ්නු ජද්ආන් අරාබි රටේ ඉස්ලාම් මතය පතළ වන්නට විකාකට පෙර සිටි කෙනෙකි. මොහු බන්ධුනට සංග්‍රහකොට-යදියනට අන්නපාන දීම කළ කෙනෙකි මොහුගේ පරෝපකාරය ගැන ආ ඉෂා සිද්දීකා රළියල්ලාහු අන්හා 'අල්ලාහු ත ආලාගේ රසූල්වරයාණෙනි මෙය ඔහුට ප්‍රයෝජන වන්නේදැයි ඇසූවිට නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් උතුමා 'නැත' ප්‍රයෝජන නොවන්නේය'යි කීවේය. මක්නිසාද මහිමියෙනි! 'මගේ වරද විචාරනු දිනැ මට සමාව දෙව'යි එක දිනකැවත් ඔහු නොකීවේයයි පිළිතුරු දුන්නේය.

10. අපි ඔහුට දෙමගහමාවත[2475] පෙන්නුවෙමු. — ١٠- وَهَدَيْنَاهُ النَّجْدَيْنِ ۝

11. ඔහු දුගී මාර්ගය පෑන නොගියේය[2476] — ١١- فَلَا اقْتَحَمَ الْعَقَبَةَ ۝

12. දුගී මාර්ගය කුමැයි විස්තර කරන්නේද?[2477] — ١٢- وَمَا أَدْرَاكَ مَا الْعَقَبَةُ ۝

13. වහල් භාවයෙන් නිදහස් කිරීම[2478] — ١٣- فَكُّ رَقَبَةٍ ۝

14. නොහොත් සාගිනි දිනයෙක, හෝ ජනදීම — ١٤- أَوْ إِطْعَامٌ فِي يَوْمٍ ذِي مَسْغَبَةٍ ۝

15. නෑ සබඳකම් ඇති අනාථයනට[2479] — ١٥- يَتِيمًا ذَا مَقْرَبَةٍ ۝

16. නොහොත් අවාසනාවන්ත දිලින්දාට — ١٦- أَوْ مِسْكِينًا ذَا مَتْرَبَةٍ ۝

17. පැසුර ඔහු විශ්වාස කරන්නෙක් වන්නේය. අධිවාසනා ක්ෂාන්තියෙහි උපදෙස් දෙන්නේය දයාලු භාවයෙහිද උපදෙස් දෙන්නේය[2480]. — ١٧- ثُمَّ كَانَ مِنَ الَّذِينَ آمَنُوا وَتَوَاصَوْا بِالصَّبْرِ وَتَوَاصَوْا بِالْمَرْحَمَةِ ۝

18. ඒ අයයැ දකුණෙහි සහායයෝ[2481] — ١٨- أُولَٰئِكَ أَصْحَابُ الْمَيْمَنَةِ ۝

19. අපගේ ආයාවන් ප්‍රතික්ෂේප කරන අය ඔවුහු වම් අතෙහි සහායයෝය[2482] — ١٩- وَالَّذِينَ كَفَرُوا بِآيَاتِنَا هُمْ أَصْحَابُ الْمَشْأَمَةِ ۝

20. ඔවුන් මත ගිනිදැල් පිරිවටා ගන්නේය. නිරයට ඇතුළු වන්නේය. යනු අදහසි. — ٢٠- عَلَيْهِمْ نَارٌ مُؤْصَدَةٌ ۝

- 90 වන අල්බලාද් සූරාව නිමි -

---

2475. X 1. යහපත් සුචරිත මාර්ගය.
2. ලෙහෙසි දුශ්චරිත මාර්ගය.

2476. රාජ්‍යයේ අනුග්‍රහයෙන් ලක්ෂණ රචනා ආදිය තිබියේ යනායෙදුවිවිය යනු අදහසි.

2477. පෙළෙහි අල් අක්බද් යනු කඳු දෙකක් අතර ඇති පටුමාවත. ඉතා කී රාජ්‍යයේ අනුග්‍රහය වූ මහා ප්‍රශ්නයද රචනාවද යනාදී ප්‍රශ්න පරිච්ඡේද යෙදුවිවේ නැතැයි යන අදහසි.

2478. පෙළෙහි 'අල්රක්බ' යනු දෙකෙන් එකක් හැර දමීම. වෙනෙකක් කෙරුරු කිරීම 'රක්බුරකබ්හින්' යනු මිනිසාවද ඔහුගේ වාලාවද අතර ඇති ඉඩවරය. එනම් වහල් භාවය අත් හැර දමා ඔහුගේ ස්වාතන්ත්‍ර භාවයෙහි කෙරුරු කිරීම.

2479. පියයු අනාථයනට කවා පොවා උදව් කළ යුතුයි. සාමාන්‍ය අනාථයෝ පසන ආයා 16 යේ ගණයට වැටෙති. අපට නෑ සබඳකම් ඇති අනාථයනට විශේෂ අයිතිවාසිකම් ඇත. ඔවුහු අපට නෑකමින් හා පිහිනැයි හැවින් කිට්ටුවන්න වියයුතු. දන්දීම යෙදවීන් පටන් ගන්නවානම් ප්‍රථමයෙන් පළමුවන අයිතිවාසිකම් ඔවුනටය.

2480. මෙයේ අධිවාසනා ක්ෂාන්තියෙහි හා දයාලු භාවයෙහි උපදෙස් දෙන්නාවූ ඔහු ඒ කිරී දුර්ග මාර්ගය පැනයන්නේය.

2481. සූරා 56: 27-40. බ. ඔවුහු මූක්ති ලබාගන්නාහුය.

2482. සූරා 56, 41-56 බ. සදාකාලික ගින්නෙහි දවෙන කාලකණ්ණිහු.
'පෙළෙහි ' ආයාතුන යනුවෙන් පරිශුද්ධ වූ කුර්ආනයයද වෙනත් වේද වනාක්‍යන හද අල්ලාහ් හ ආලා පිළිබඳ අතිකුත් අද්භූත දයද ගැනේ.

## අෂ්ෂම්ස්: සූර්යයා

سُورَةُ الشَّمْسِ

මක්කාහිදී පහළවිය

දයාළු පරමදයාළු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. සූර්යයාගෙන් හා සූර්යාලෝකයෙන් (ප්‍රමාණ කොට කියමි)[2484].

١- وَالشَّمْسِ وَضُحَاهَا

2. චන්ද්‍රයාගෙන් හා ඔහු වටා යෑමෙන් ප්‍රමාණ කොට කියමි).

٢- وَالْقَمَرِ إِذَا تَلَاهَا

3. දිවස ප්‍රකාශයට පත්වීමෙන් (ප්‍රමාණ කොට කියමි).

٣- وَالنَّهَارِ إِذَا جَلَّاهَا

4. රාත්‍රිය එය සැඟවීමෙන් (ප්‍රමාණ කොට කියමි).

٤- وَاللَّيْلِ إِذَا يَغْشَاهَا

5. අහස හා එය නිර්මාණය කළ ඔහුගෙන් (ප්‍රමාණ කොට කියමි).

٥- وَالسَّمَاءِ وَمَا بَنَاهَا

6. පෘථිවියෙන් හා එය විස්තීරණ කළ ඔහුගෙන් (ප්‍රමාණ කොට කියමි).

٦- وَالْأَرْضِ وَمَا طَحَاهَا

7. ආත්මයෙන් හා එය පරිසමාප්ත කළ ඔහු ගෙන් (ප්‍රමාණ කොට කියමි).

٧- وَنَفْسٍ وَمَا سَوَّاهَا

8. එයට වැරදිවැ හෝ එයට හරිවැ හෝ (සිහිවිල්ලෙන්) ප්‍රබෝධිතවැ[2485]

٨- فَأَلْهَمَهَا فُجُورَهَا وَتَقْوَاهَا

---

2484. සූර්යාලෝකය සම්පූර්ණයෙන් ලෝකයට දෙන වේලාවට 'ළුහා' යයි නමෙකි. එනම් දිවස පස්කොටසකට බෙදා දෙවන කොටසේ වේලාවට කියන නම.

2485. පෙළෙහි 'ඉල්හාම්' හොඳ කාර්යයෙහි විනා නරක කාර්යයෙහි හට නොගනී. හොඳ කාර්යය මෙයැ: නරක කාර්ය මේ යැයි මේ කළ යුතුය: මේ නොකළ යුතුය යන මේ අදහසෙහි.

9. එය විශෝධනය කළ අය සාර්ථකත්වයට පත් වූයේය.[2486] ٩- قَدْ أَفْلَحَ مَنْ زَكَّاهَا ۝

10. එය (වැඩීමෙන්) වළක්වන අය නැවතුණේය.[2487] ١٠- وَقَدْ خَابَ مَنْ دَسَّاهَا ۝

11. සමූද් ජනතාව තමන්ගේ සීමාතික්‍රමණ රාජද්‍රෝහී ක්‍රියාවන්ගෙන් (තමන්ගේ අනාගත වක්තෘ වරයා ප්‍රතික්ෂේප කළා.[2488] ١١- كَذَّبَتْ ثَمُودُ بِطَغْوَاهَا ۝

12. ඔවුන් අතුරෙහි වූ ඉතා අභාග්‍යවන්තයා මේ ද්‍රෝහිකමට නියෝග කරන ලදී.[2489] ١٢- إِذِ انْبَعَثَ أَشْقَاهَا ۝

13. අල්ලාහ්ගේ ඔටු දෙනකි! ඇයට පානය කරන්නට ඉඩ දෙවයි එවිට අල්ලාහ්ගේ රසූල් ඔවුනට කීවේය.[2490] ١٣- فَقَالَ لَهُمْ رَسُولُ اللَّهِ نَاقَةَ اللَّهِ وَسُقْيَاهَا ۝

14. එබැවින් ඔවුහු ඔහු ප්‍රතික්ෂේප කොට ඇය කුදි කැපුවෝය. එසේ හෙයින් ඔවුන්ගේ හිමි ඔවුන්ගේ පාපයට දඬුවම දී එය (දඬුවම උන් සැමට සමව පැතිරවූයේ) සම කෙළේය).[2491] ١٤- فَكَذَّبُوهُ فَعَقَرُوهَا ۚ فَدَمْدَمَ عَلَيْهِمْ رَبُّهُمْ بِذَنْبِهِمْ فَسَوَّاهَا ۝

15. ඔහු එහි ප්‍රතිඵල නොබියි. ١٥- وَلَا يَخَافُ عُقْبَاهَا ۝

- 91 වන සූරතුෂ්ෂම්ස් නිමි -

---

2486. මෙහෙලෙහි 'ස්සක්කාහා' යන පදය සක්කාන් යන්නෙන් පිරිසිදු වන්නන් යනු පියවි අරුති.

2487. එක් වස්තුවක් තිරසාර කරන ලද්දා වෙන වස්තුවකට ඇතුළු කරවීමට දස්සා'යි කියති. පව් කමින් තමාගේ ආත්මය ඇතුළු කළ අය යනු මේ ආයාතයේ අරුති. මෙලෙස ඇතුළු කළ අය නැවතුණෝ වන්නෝය යනු අදහසි.

2488. 'සමූද්' යනු ගෝත්‍ර නාමයකි. මේ ගෝත්‍රිකයින්ගේ අනාගත වක්තෘවරයා 'සාලිහ් අලෛහිස්සලාම්ය. සූරා Vii. 73-79. තම සමන්ගේ ගවයන්ගේ තණ කැවීමේ හා දිය පෙවීමේ අයිතිවාසිකම් ඔවුනට ප්‍රතික්ෂේප කොට දිළිඳු ජනතාවක් පෙරළා උඩඟු ජනතාවක් හදුවන්නට ඔවුහු විය. අනාගත වක්තෘ සාලිහ් අලෛහිස්සලාම් එක්තරා ඔටුදෙනක් සලකුණක් කෙළේය. අල්ලාහ් තආලාගේ මේ ඔටුදෙන හොපට සලකුණකි. එසේ හෙයින් අල්ලාහ් ත ආලාගේ භූමියෙහි ඇය තණ කන්නට හරිව. ඇයට අනතුරු නොකරව. යම් හෙයකින් අනතුරු කළහොත් තොපට දරුණු දඬුවම් පැමිණෙන්නේය. සූරාව VII 73. බ.

2489. එහෙත් ඔවුහු ඇය මරන්නට තුමන්ත්‍රණ කොට ඉතා නපුරු දරුණු මිනිසකු ඒ ද්‍රෝහිකමය කරන්නට යෙදවූහ. ඇය දිය බොන්නට මෙදාළ අයට කිය වේලාවේ බොන්නට ඇයි ඇය කුදි ගසා මරන්නට ඇත්තේ. සූරා XXVI 155 බ. ඔවුන් අතුරෙහිවූ අභාග්‍යවන්තයා යනුවෙන් සමූද් ගෝත්‍රයෙහිවූ කසා රුමිදු පලාස් නමැත්තා සඳහන් කෙරේ. මොහුගේ මවගේ නම සදෙරද්ය. මොහු සමඟ වූයෙන් මොහුව උදව්කරුවා වූයේ 'මිස්තව්' නමැත්තාය.

2490. මෙහෙලෙහි අල්ලාහ්ගේ රසූල් යනුවෙන් සපරස් සාලිහ් අලෛහිස්සලාම් කියැවේ. සපරස් සාලිහ් අලෛහිස්සලාම් 'ඉරම්' පුත් 'උබෙද්', ඔහු පුත් 'සමූද්', ඔහු 'ජාබිර්, ඔහු පුත් උබෙද් නැමැත්තියගේ පුත්වරුය. එනම් ඔහු 'ඉරම්' නැමැත්තාගේ හයවෙනි පරපුරෙහි උපන් තැනැත්තාය.

2491. අපරාධය කළ අය දඬුවමේ සලකුණු දක දක වින්ත විශෝපයට පත්ව නාහ් වරයා මරන්නට තැත්කළ හැව් අල්ලාහ් ත ආලා ඔවුන් අතර ලොකු පුංචිකම් නොබලා ඔවුනට සමාන දඬුවම් දුන්නේය.

## අල් ලයිල්: රාත්‍රිය

سُورَةُ اللَّيْلِ

මක්කාහිදී පහළවිය.

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන් — بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. තවද රාත්‍රියෙන් (ප්‍රමාණ කොට එය ආලෝකය වසන් කරන කල්හි[2492]. — ١-وَاللَّيْلِ إِذَا يَغْشَىٰ

2. තවද දහවලෙන් (ප්‍රමාණ කොට) එය දීප්තිමත් කල්හි. — ٢-وَالنَّهَارِ إِذَا تَجَلَّىٰ

3. පුම් ඉහිරි නිර්මාණයෙන්. — ٣-وَمَا خَلَقَ الذَّكَرَ وَالْأُنثَىٰ

4. ඇත්තෙන්ම. ඔබගේ උත්සාහය විවිධය.[2493] — ٤-إِنَّ سَعْيَكُمْ لَشَتَّىٰ

5. යමෙක් දන්දී (අල්ලාහුට) බිය බැතිමත් වේද. — ٥-فَأَمَّا مَنْ أَعْطَىٰ وَاتَّقَىٰ

5. තවද යහදය සත්‍ය කෙරෙයිද. — ٦-وَصَدَّقَ بِالْحُسْنَىٰ

7. ඇත්තෙන්ම. අපි ජන්නාවට මග ඔහුට ලෙහෙසි කරන්නෙමු. — ٧-فَسَنُيَسِّرُهُ لِلْيُسْرَىٰ

8. යමෙක් ධන රැස්කොට තමා ස්වාධීන යයි සිතයිද. — ٨-وَأَمَّا مَنْ بَخِلَ وَاسْتَغْنَىٰ

9. තවද යහදය ප්‍රතික්ෂේප කෙරේද. — ٩-وَكَذَّبَ بِالْحُسْنَىٰ

---

2492. සූර්යාස්තමනයේ සිට සූර්යෝදය දක්වා ඇති කාලයට ලෝක ව්‍යවහාරය අනුව රාත්‍රියයිද මග්රිබ්හි සිට සුබ්හ් දක්වා කාලයට ඉස්ලාම් ෂරීඅත් අනුව රාත්‍රියයිද කියති. මෙහි ඉස්ලාම් ෂරීඅත්හි කියන ලද 'රැය'යි අදහස් කරන්නේය.

2493. මිනිසාගේ උත්සාහ එක විධ නොවැ විවිධය. ඇතැම් උත්සාහ සන්මාර්ගයට ගැලපෙන සේද ඇතැම් සන්මාර්ගයට නොගැලපෙන සේද ඇතැම් උත්සාහ අභිමානය පදනම් කොට ද ඇතැම් උත්සාහය සුවද ගෙන දෙමින් පවතී.

2494. නියමය වශයෙන් දන්දිය යුතු සකාත්යන්හි වස්තුව දන් නොදී මසුරුකම් කොට අල්ලාහු තආලාගේ දය වියදම් නොකොට විශ්වාසය ප්‍රතික්ෂේප කොට වැළඳ අයට විනාසය සිදු කරන්නෙමු යනු අදහසි.

10. ඇත්තෙන්ම, අපි විනාශයට මඟ ඔහුට ලෙහෙසි කරන්නෙමු.[2494]

١٠- فَسَنُيَسِّرُهُ لِلْعُسْرَىٰ ۝

11 ඔහු මැරෙන විට ඔහුගේ ධනය ඔහුට ප්‍රයෝජන නොවන්නේය.[2495]

١١- وَمَا يُغْنِي عَنْهُ مَالُهُ إِذَا تَرَدَّىٰ ۝

12. ඇත්තෙන්ම, යහමඟ පෙන්වීම අප මතය[2496].

١٢- إِنَّ عَلَيْنَا لَلْهُدَىٰ ۝

13 තවද ඇත්තෙන්ම, අපටය අන්තයද ආරම්භයද[2497]

١٣- وَإِنَّ لَنَا لَلْآخِرَةَ وَالْأُولَىٰ ۝

14. එහෙයින් අපි දල්වෙන ගින්නක් තොප හැඳි ගන්වමු[2498]

١٤- فَأَنذَرْتُكُمْ نَارًا تَلَظَّىٰ ۝

15. මහා අභාග්‍යවන්තයා හැර එහි ඇතුළු නොවන්නේය.[2499]

١٥- لَا يَصْلَاهَا إِلَّا الْأَشْقَى ۝

16. ප්‍රතික්ෂේප කොට හැරුණු අයයි

١٦- الَّذِي كَذَّبَ وَتَوَلَّىٰ ۝

17. තවද බිය බැතිමත් අය එයින් ඈත් කරනු ලබන්නෝය.

١٧- وَسَيُجَنَّبُهَا الْأَتْقَى ۝

18. තමන්ගේ වස්තුව ආත්ම පරිශුද්ධියට අගිදම කරන අය.

١٨- الَّذِي يُؤْتِي مَالَهُ يَتَزَكَّىٰ ۝

19. කිසිවකුගෙන් කිසි තිළිණක පිළිලබන අදහසක් ඔහු කෙරේ නැත.

١٩- وَمَا لِأَحَدٍ عِندَهُ مِن نِّعْمَةٍ تُجْزَىٰ ۝

20. ඔහු ගේ ස්වාමීනුගේ උසස් ප්‍රසාදය (පුණ්‍ය කරන්නට) සෙවීම විනා.[2500]

٢٠- إِلَّا ابْتِغَاءَ وَجْهِ رَبِّهِ الْأَعْلَىٰ ۝

21. තවද ඔහු මතු මත්තෙහි සොම්නසය් වන්නේය[2501]

٢١- وَلَسَوْفَ يَرْضَىٰ ۝

- 92 වන සූරතුල්ලෙයිල් සූරාව නිමි -

---

2495. ධර්මානුකූලව හෝ න්‍යායානුකූලව දිය යුත්ත තමාගේ ම වස්තුව ඔහුට කොහි වියදම්කර පිහිට නොවෙයි. අල්ලාහු තආලා ඔහු වැටෙව්වායින් පසු.

පෙළෙහි 'තරද්දා' යන්නට විනාශ කෙළේය. මැරුණේය. නැසුණේය. පල්ලමේ වැටුණේය යන අරුත්.

2496. යහමඟ පෙන්වීම යනු සන්මාර්ගය මේය, දුර්මාර්ගය මේ යැයි ජනතාවට පෙන්වා දීමයි මෙය කිරීමය, මේ ආයාව ලෙස රාජයාගේ යුතුකම. යම මඟ වන්නට ඔහුය යන යුතුකම ඔහුට නැත.

2497. අන්තය යනුවෙන් පරලෝකයද, ආරම්භය යනුවෙන් මේ ලෝකයද සඳහන් කෙරේ.

මේ දෙකම රාජයාට අයිතිය. ඔහු හැර වෙන කිසිවකුට එහි කිසිවක් විනාශ නොකළ හැකිය.

2498. නිරය ගින්නෙන්

2499. සූරා Lxxxvii. 11 ඔ.

2500. මේ සූරාව දෙවර්ගයක මිනිසුන් ගැන සඳහන් කෙරේ. එක වර්ගයක් බිය බැතිමත්හුය. මොවුනට ප්‍රධානියා අබූබකර් සිද්දීක්ය. අනික් වර්ගය අභාග්‍යමත්හුය. මොවුන ප්‍රධානියා අබූ ජහල්ය. මේ සූරාව ආරම්භයෙහි ඒ දාවල් දෙක සඳහන් කොට රාජයා ප්‍රමාණ කෙළේය. මේ දෙවර්ගයා අතුරෙන් එක් වර්ගයක් අඳුර යයිද, එහෙයින්ම අන්ධකාරයෙහි සිටින්නී යයිද, අනික් වර්ගය පහන්දන යයිද, එහෙයින්ම ප්‍රකාශයෙහි සිටින්නී යයිද පමිණුණය කෙරේ.

2501. අල්ලාහු තආලාගේ සොම්නස සොයා ඔහු කළ ක්‍රියාවට ප්‍රතිකර්ම වශයෙන් පරලෙවිහි රාජයා දෙන වට්ටර ඔහු පිළිගන්නේය යනු අදහසි.

# අල්-ළුහා උදයාලෝකය

سُوْرَةُ الضُّحٰى

මක්කාහිදී පහළවිය

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- وَالضُّحٰى ۝

1. උදය ලෝකයෙන් (ප්‍රමාණ කොට කියමි)[2502]

٢- وَالَّيْلِ اِذَا سَجٰى ۝

2. රාත්‍රියෙන්. එය ඉතා නිශ්චල කල්හි[2503]

٣- مَا وَدَّعَكَ رَبُّكَ وَمَا قَلٰى ۝

3. නුඹ හිමි නුඹ අත් නොහළේය. නුඹට ද්වේෂද නොකෙළේය[2504].

٤- وَلَلْاٰخِرَةُ خَيْرٌ لَّكَ مِنَ الْاُوْلٰى ۝

4. පරලොව මෙලොවට වඩා නුඹට හොඳයැ.[2505]

٥- وَلَسَوْفَ يُعْطِيْكَ رَبُّكَ فَتَرْضٰى ۝

5. තවද නුඹ හිමි නුඹට ප්‍රියධකර දය මතු මත්තෙහි දෙන්නේමය[2506].

---

2502. පෙළෙහි 'ළුහා' වේලාව යනු මද්දහනට ස්වල්පයකට පෙර වේලාව. මේ වේලාවට සූර්යයාගේ රශ්මි ප්‍රකාශය භූමියට සම්පූර්ණයෙන් ලැබේ. මේ වේලාවෙහියැ නබි මූසා අලෛහිස් සලාම් අල්ලාහු තආලා සමග සම්භාෂණය කෙළේ.

2503. රාත්‍රි කාලය මිනිසා ආදී ජීවරාශින් විවේක ගන්නා කාලයයි.

2504. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුරිමුවන් මක්කාවෙහි සංමාර්ග ප්‍රචාරය කරමින් සිටි කාලයෙහි මුහුගේ නබිත්වය සැබෑද බොරුද යි ආගම්ධරයන්ගෙන් දැනගන්නට ඕනෑයයි යන අදහසින් මදීනාවෙහි යුදෙව්වරුනට කුරෙයිෂ් ප්‍රධානීහු පුරුෂයන් යවා නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් නබිත්වය ගැන විචාළහ. එයට ඔවුහු 'අස්හාබුල් කහ්ෆ් ගැනද දුල්කර්ණයින් ගැනද ආත්මය ගැනද ප්‍රශ්න අසපු. මේ පිළිබඳව නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුරිමුවන් වෙත කුරෙයිෂ් ප්‍රධානීහු අවුත් පැණ තුනක් ඇසූහ. එයට නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් උතුමා 'දත් කොපියා, හෙට කියන්නෙමි'යි කීවේය.

2502. මෙලොවැ නබිත්වයෙන් ලබාගත් මහිමයට වඩා පරලොවැ මෙහි ඵලයෙන් නුඹ ලබා ගත් මහිමය ඉතා ශ්‍රේෂ්ඨය යනු අදහසි.

2506. නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් උතුමා තමාගේ ධනවත් දියණියවූ ෆාතිමා රළියල්ලාහු අන්හාගේ ගෙදරට වතාවක් ගියේය. එකල්හි නායකයා ශ්‍රී හස්තය එක අතකින් අල්වා කැදවාගෙන අනික් අතින් දෙරුවාට හාදු දෙමින් උන්නා. ඔවුවාගේ මොලොක් ලෝම්යෙන් කළ කම්බිලි වස්ත්‍රයක් මතුපිට පොරවාගෙන සන්නේය. තමාගේ දියණිය මේ තත්ත්වය බලා සිටින්නී නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් උතුමාගේ ඇස්වලින් කඳුළු ගලන්නට වන. මගේ අරුම දියණියේ 'පරලොව සැප සඳහා මෙලොව කසට මල එහා හරුව' අල්ලාහු ත ආලා 'නුඹගේ හිමි නුඹට උසස් බව දෙන්නේය. නුඹ ඊට එකඟ වවයි වගී මයින් පහළ කෙළේය.

අල් ඉන්ෂිරාහ් විදහා පෑම

مكية

මක්කාහිදී පහළවිය.

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- أَلَمْ نَشْرَحْ لَكَ صَدْرَكَ

1. අපි ඔබගේ සිත ඔබට විදහා නොපෑයෙම්ද?[2513]

٢- وَوَضَعْنَا عَنكَ وِزْرَكَ

2. තවද. අපි ඔබගේ බර ඔබගෙන් බහා නොතැබූයෙම්ද?

٣- الَّذِي أَنقَضَ ظَهْرَكَ

3. ඔබගේ පිටු ලොහොලූ දය.[2514]

٤- وَرَفَعْنَا لَكَ ذِكْرَكَ

4. තවද ඔබට ඔබගේ කීර්තිනාමය උසස් කෙළෙමු.[2515]

٥- فَإِنَّ مَعَ الْعُسْرِ يُسْرًا

5. ඇත්තෙන්ම. දුෂ්කරතාම සමග පහසුව ඇත්තේය.

٦- إِنَّ مَعَ الْعُسْرِ يُسْرًا

6. ඇත්තෙන්ම. දුෂ්කරතාම සමග සුලබ බව ඇත්තේය.

٧- فَإِذَا فَرَغْتَ فَانصَبْ

7. ඔබ (ගේ කටයුතු වලින්) නිදහස් කල්හිද පරිශ්‍රම කරව.

٨- وَإِلَىٰ رَبِّكَ فَارْغَب

8. ඔබගේ හිමි කෙරෙහි අවධානය යොමු කරව.

- 94 වන අල් ඉන්ෂිරාහ් සූරාව නිමි -

2513. 'ෂර්රහ්' යන පදය 'ෂරහ' යන්නෙන් සිද්ධයි. භාෂාව 'විශාල කිරීම' යනු අර්ථයි. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන්ගේ හෘදය විශාල කරනු ලැබීම, විදහා පෑම යනු ඔහුගේ හෘදයෙහි දෛවික ඥානය ඇති කිරීම. අල්ලාහ් තආලාගෙන් සමාධි ඒ මහතාට ලැබුණේය. යන අදහසයි.

2514. නබිත්වය ලැබීමට පෙරාතුව ඔහුට සිදුවූ කායිකයන්ද දෙව අසද 'ෂරිඅත් පුරුෂයන් දත හැකිමට නොහැකිව සිටීමද, මේ පිළිබඳ ආයාචනද අල්ලාහු ත ආලා මාරු කෙළේය. යනුද එනම් ඔහුගේ පියලු පව් රාජයා ඉවසා නබිත්වයදී සංමාර්ගය මේ යැයි දනවම කෙළේයයි සඳහන් කෙරේ. තවද, නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන්ගේ කුඩා මහත් පාපයන් හැර ආරක්ෂා කෙළේය යනුයි.

2515. නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම්ට නබිත්වයදී මහත් කීර්තිය රාජයා ලැබුණේය. නැමදුම්හි බාංගු කියන සමයයෙහි නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම්ගේ නම කියනු ලැබේ. කිරුළ් කුර්ආන්හිද ඔහුගේ සම්බන්ධ කර ඇත. 'නැමදුම් පිළිබඳ 'ඉකාමත්' කියන සමයයෙහිද ඔහුගේ ශ්‍රී නාමය උච්චාරණ ලැබේ.

අත්තීන්: අත්තීන්කා
سُورَةُ التِّين
මක්කායිදී පහළවිය.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

දයාබු පරමදයාබු අල්ලාහුගේ නාමයෙන්

١- وَالتِّيْنِ وَالزَّيْتُوْنِ ۝

1. අත්තීන්කා ගයින් (මත ප්‍රමාණ කොට) තවද ඔලීව ගයින්(මත)

٢- وَطُوْرِ سِيْنِيْنَ ۝

2. සීනෙහ කන්දෙන් (ප්‍රමාණ කොට)[2516]

٣- وَهٰذَا الْبَلَدِ الْاَمِيْنِ ۝

3. මේ අභයදායි නගරයෙන්[2517]

٤- لَقَدْ خَلَقْنَا الْاِنْسَانَ فِيْٓ اَحْسَنِ تَقْوِيْمٍ ۝

4. ඇත්තෙන්ම, අපි මිනිසා ඉතා උසස් මැව්කරු වෙන්හි නිර්මාණය කල දුම්මස්[2518].

٥- ثُمَّ رَدَدْنٰهُ اَسْفَلَ سٰفِلِيْنَ ۝

5. පසුව අපි ඔහු ඉතා නීචයන්ගෙන් නීචයෙකු කෙළෙමු.

٦- اِلَّا الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ فَلَهُمْ اَجْرٌ غَيْرُ مَمْنُوْنٍ ۝

6. විශ්වාසකොට යහපත් කල අය හැර.ය. ඔවුනටයැ නොවරදින යහවැටුප්.

٧- فَمَا يُكَذِّبُكَ بَعْدُ بِالدِّيْنِ ۝

7. මෙයට පසු විනිශ්චය ඔබට ප්‍රතික්ෂේප කරන්නේ කවරෙක්ද?[2519]

٨- اَلَيْسَ اللّٰهُ بِاَحْكَمِ الْحٰكِمِيْنَ ۝

8. අල්ලාහු විනිශ්චය කරුවන්ගෙන් ඉතා ප්‍රඥාවන්ත විනිශ්චය කරුවා නොවේද?

- 95 වන අත්තීන් සූරාව නිමි -

2516. මෙයැ හසරත් මූසා අලෛහිස්සලාම් රබ්බ සමග සම්භාෂණය කළ කන්ද සඳහන් කෙරේ. සීන යනු රට ප්‍රදේශයක නාමයයි.

වෘක්ෂයන් හා ලතා ඇති පර්වතය තූර් නමින් හැඳින්වේ. මේවා නොමැති පිරුළු පමණක් ඇති කන්දට 'ජබල්' යනු නාමයි.
සූරා xix. 52. බ.

2517. අභයදායි නගරය යනු සිරුමිත්තා නගරයයි. මේ නගරයට පැමිණි අපරාධකාරයන් සිටිවද පිරිකාරයට අල්වාගනු නොලැබේ. මේ නගරය මත සවින් පෙරිව මෙහි ඇති අය මරනු නොලැබේත්. මෙහි ඇති ගස් කොළත් නොකපනු ලැබේ.

2518. මෙහෙයි 'තක්වීම්' යන්න මැව්කරුව, අච්චුව, ආදර්ශය, ඉහ-ඉහම, දරුවම, ස්වභාවය තත්වය යන අර්ථයන්ති වේ.

2519. අල්ලාහු හ ආලා පැබැලෙසත් පිරිසිදු ලෙසත් මිනිසා නිර්මාණය කෙළේය යන්න ඔබට පෙන්නුවායින් පසු.

## අල්-අලක්: සත ලේ කැටිය

سُورَةُ الْعَلَق

මක්කාහිදී පහළ විය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- اقْرَأْ بِاسْمِ رَبِّكَ الَّذِي خَلَقَ ۝

1. නිර්මාණය කළාවූ නුඹ හිමිගේ නාමයෙන් හදාරව.[2520]

٢- خَلَقَ الْإِنْسَانَ مِنْ عَلَقٍ ۝

2. ඔහු මිනිසා සත ලේ කැටියකින් නිර්මාණය කෙළේය.[2521]

٣- اقْرَأْ وَرَبُّكَ الْأَكْرَمُ ۝

3. හදාරව. නුඹගේ හිමි උදාරය.

٤- الَّذِي عَلَّمَ بِالْقَلَمِ ۝

4. ලේඛනියෙන් උගැන්නුවාවූ ඔහු.[2522]

٥- عَلَّمَ الْإِنْسَانَ مَا لَمْ يَعْلَمْ ۝

5. ඔහු නොදන්නා දය ඔහුට උගැන්නුවේය[2523].

2520. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුර්ණිවනට සිරුත් කුර්ආනයේ මේ ආයාවේ සිට ආයාවත් 5 ක් පළමුවරට පහළවිය. හසරත් ජිබ්රිල් අලෛහිස්සලාම් පළමුවරට දනුම් දත් ආයාවත් මේවාය. මෙයට පැසුර යැ අතිත් සුරාවත් සහ මේ සුරාවේ ඇති අතිත් ආයාවතුත් පහළවුයේ.

2521. සුරා xxiii 14 බ.

2522. ගුත්තාරීවත් ලේඛනිය හා ගුත්තාරීවත් සවහන මිනිසාට පහළ කළා වූ වහි ප්‍රකාශනයේ සලකුණු ආකාර පදනම්ය, සුරා Lxxvii. 1 බ.

2523. අල්ලාහු ත ආලා මොහොතක් පාසා අපට නවඥානය දෙන්නේය. තනි තනි පුද්ගලයෝ දිනෙන් දිනැ වැඩි වැඩියෙන් ඉගෙන ගනිති. ජාතීන් හා මිනිස් සංහතිය නවඥානය පැම අවස්ථාවෙකැම් ඉගෙනගනිති. මෙය අද්‍යාත්මික ලෝකයෙහි වැඩියෙන් හා වැදගත්වැ දකින්නට හැකිය.

6. නො එසේ. ඇත්තෙන්ම, මිනිසා සීමාතික්‍රමණය කරන්නේමය[2524]. — ٦- كَلَّآ إِنَّ الْإِنسَانَ لَيَطْغَىٰٓ ۝

7. තමා ස්වයං පූර්ණයයි ඔහු සිතන්නේය. — ٧- أَن رَّءَاهُ اسْتَغْنَىٰٓ ۝

8. ඇත්තෙන්ම, නුඹ හිමි වෙතටය (සියල්ලන්ගේ) පුන පැමිණීම[2525] — ٨- إِنَّ إِلَىٰ رَبِّكَ الرُّجْعَىٰٓ ۝

9. වළක්වන්නාවූ අයකු නුඹ දන්නෙහිද? අල්ලාහුවූත ආලාගේ නීතියට විරුද්ධව, මෙරමා එය අනුගමනය කිරීමෙන් වළක්වන.[2526] — ٩- أَرَءَيْتَ الَّذِي يَنْهَىٰ ۝

10. වහලකු නැමදුම් කරන සමයයෙහි.[2527] — ١٠- عَبْدًا إِذَا صَلَّىٰٓ ۝

11. ඔහු (අල්ලාහු ගේ ආලාගේ)· යහ මගහි දැයි නුඹ දන්නෙහිද? — ١١- أَرَءَيْتَ إِن كَانَ عَلَى الْهُدَىٰٓ ۝

12. නොහොත් බිය බැතිකම අණවන්නෙහිද? — ١٢- أَوْ أَمَرَ بِالتَّقْوَىٰٓ ۝

---

2524. මේ ආයාවෙහි පටන් මේ සූරාව අවසාන වනතෙක් ඇති විවරණ අබූ ජහල් ගැන පහළවූයේයයි කියන ලදී. මෙහෙහි 'ඉන්සාන්' 'මිනිසා' යන්නෙන් අබූ ජහ්ල් සඳහන් වේ.

අබූ ජහල් තමාගේ භාග්‍ය පතු නමාට මුවම්මද දැය මුදල් හදල් යොදා සාදාගැනීමට හැකිකම් යයි සිතාගෙන සිටියේය. පිරිඅවුන් මිසර දේශයෙහි අධිපතිව සිටි කාලයෙහි නමාට මුවම්මද කොයි දැය වුවත් සම්පූර්ණ කරගත හැකිය යන මමත්වයෙන් සංමාර්ගයට යටත් නොවී එට විරුද්ධව නැගිටිනි. 'මක්කාවෙහි සඳ මට පිදී රත්රන් කරව. එලෙස නුඹ කැරැද්දුනහොත් එයින් මට මුවම්මද දැය මම ගෙනෙ මගේ පූර්ව මුතුන්මිත්තන්ගේ මගයෙහි සීමාවන් නුඹගේ මග අනුගමනය කරන්නෙමි'යි අපේ නබී (සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම්) තුමාණන්ට කියයි. එකල්හි ජබ්රීල් අලෙයිහිස්සලාම් අවුත් එලෙස සිදුවිය යුතුය. එබ බලා සිටියහොත් එලෙස අසව සිදුකළ හැකිය.

එහෙයින් ඔවුන් විශ්වාස නොකොට සිටියෙහින් මායිදා (අනුගමනය කරනවුන්ට) අපි කළ පරිදි කරන්නෙමු'යි දන්වා දුන්නේය. එ මග අබූ ජහල්ගේ කියමන සම්පූර්ණ කිරීමට රාජයාට ප්‍රාර්ථනා කිරීමට නායක සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් කැමති නොවිය. (අබූ ජහල් තමාගේ භාග්‍යය) යන ගැන පිට එහෙයින් කළයුතු.).

2525. මරණයට පසු සියලු දෙනම රාජයා වෙත ගොස්, ඔවුනොවුන් කළ කම් ගැන විචාරණය කරනු ලබන්නේය යි මේ ආයාව දන්වා දෙයි.

2526. අගහි ගාම් මිනිස් සංඝයිය ගැන මේ වචන සාමාන්‍යයෙන් යෙදිය හැකිය. ඇදට වූ අනාගත වක්තෘ උතුමාට හා එතුමාගේ අනුගාමිකයනට අවමන් කොට හිංසා පීඩා කළාවූද ඉස්ලාම් ධර්මයට බලගතු සතුරෙකුවූ අබූ ජහල් ගැන ඇතැම් විට මෙහි සඳහන් කිරීමක් විය හැකිය. විශේෂ වශයෙන් අනාගත වක්තෘ (සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම්) උතුමාගේ කාබා නැමදුමට යෑම හා තමාගේ බලයට යටත් වූ කොහිම කෙනෙකු හෝ සලාත් කිරීමෙන් හා නැමදුම් කිරීමෙන් වළක්වන්නට සැම අයිත්ත ක්‍රියා කලාපයක්ම යෙදුවේය. ඔහු උඩඟුය, ධන ගර්විතය. බද්රු සටනේදී ඔහුගේ අවසානය විය.

2527. 'මුහම්මද් සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් නැමදුම් කරනු මා දුටුවොත් ඔහුගේ පිටුමස් කා දමන්නෙමි'යි කුරෛෂි අන්‍යායකරුවන් ඉදිරිපිට අබූජහල් කීවේය. පෙර මොහුට 'අබූ හිකම්' යන නම විය. දෙනයෙන් සපිරුණ නැනැත්තා යි එහි අර්ථය මොහු ගැන සැණකෙළිය කරුත් පසුව ඉස්ලාම් ධර්මය බිහිවූණෙට පසු ඔහුට අබූ ජහල් යන නම විය. 'අවිවේකයෙහි පියා', අඥාන කමෙහි පියා යන අර්ථයි.

2528. අබූජහල් නැමදුම් සපුරාලීම වැළැක්වීමත් සංමාර්ගයට විරුද්ධව තමාගේ සතයන් අණවමින් සිටියේය. ඔහු එලෙස නොකොට සෘජු මාර්ගයෙහි සිට, බියැ බැතිමත්ව ජනයා අණ වමින් සිටිනු නුඹ දකින් නම්, නුඹ කෙසේ දෙනවන්න විසිදයි යන අදහසි. එබඳු භාග්‍යයක් ඔහුට නොසිබුණේය. මක්තිසාද යන් නායකසල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් 'නාථවෙනි! අබූ ජහල් ගෙන් හෝ 'ඔමර් ගෙන් හෝ ඉස්ලාමයට ශෙරව දෙව්'යි පතමින් සිටියේය. රාජයා හසරත් ඔමර් රළියල්ලාහු අන්හු ඉස්ලාමිහි රැදෙව්. එබැවින් ඔහු කුරෛෂින් අතුරෙහි මහා භාග්‍ය වන්තයෙක් වී නායක සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් ගේ දුආව අබූජහල් සම්බන්ධව වූ විට සම්පූර්ණ නොවූයෙන් ඔහු කුරෛෂින් අතුරෙහි මහා නිර්භාග්‍යවන්තයාවී.

13. ඔහු (සත්‍යය) ප්‍රතික්ෂේප කොට හැරෙන්නේ දැයි ඔබ දක්නෙහිද[2529].

١٣- أَرَءَيْتَ إِن كَذَّبَ وَتَوَلَّىٰٓ ۝

14. අල්ලාහු දකින්නේයයි ඔහු නොදන්නේද?[2530]

١٤- أَلَمْ يَعْلَم بِأَنَّ ٱللَّهَ يَرَىٰ ۝

15. නො එසේ. ඔහු නොවළකී නම් අපි ඔහු නළල් කෙස් රොදින් අල්වා ඇදගෙන යන්නෙමු.[2531]

١٥- كَلَّا لَئِن لَّمْ يَنتَهِ لَنَسْفَعًۢا بِٱلنَّاصِيَةِ ۝

16. මුසා තෙපලන පාපිවූ නළල් කෙස් රොදෙකි[2532]

١٦- نَاصِيَةٍ كَـٰذِبَةٍ خَاطِئَةٍ ۝

17. එබැවින්. (ඔහුට උදව්වට) ඔහුගේ සගයන් මඩුල්ල අමතාවා.[2533]

١٧- فَلْيَدْعُ نَادِيَهُۥ ۝

18. අපි නිරය පල්ලන් අමතන්නෙමු[2534].

١٨- سَنَدْعُ ٱلزَّبَانِيَةَ ۝

19. නො එසේ. ඔබ ඔහුට කීකරු නොවව සුජූද් කරව තවද (අල්ලාහුට) ළංවව[2535].

١٩- كَلَّا لَا تُطِعْهُ وَٱسْجُدْ وَٱقْتَرِب ۩ ۝

- 96 වන අල් අලක් සූරාව නිමි -

---

2529. නැමදුම් කරන්නට එපා යයි වැළැක්කූ අය අබූජහල් වශයෙන ලැබූ අය නබී සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන්. වශයෙන ලැබූ අය. සෘජු මාර්ගයෙහි සිය බැතිමත්ව අනුකරණ ලැබ සිටි වැළැක්කූ නබී (සල්ලල්ලාහු අලෛහිවසල්ලම්) තුමාණන් ප්‍රතික්ෂේප කොට සංමාර්ගය වැදෙ හැරීම හැර දමා අනුගමනය කරන්නකුවූ සිටි බැවින් - යනු මේ ආයාවෙහි අදහසි. අදෙව සත්තනයාගේ පාමාන කටේ සම නම් පනයට මුහුණ දීම ප්‍රතික්ෂේප කිරීමය. ඔවුන් නොකනකට කරනු ලැබනම් පිහි ලිද්ධිය ඇති මිනිසුනට විෂය වූ දය ප්‍රතික්ෂේප කොට ඔවුන්ගේ පිටුහැරවීමයි.

2530. නැමදුම් අත්හළ අය මෙය අල්ලාහු හ ආලා බලා සිටින්නේය. එයට ප්‍රතිඵල ඔහු දෙන්නේයයි ඔහු දන සිටියේය. මේ ආයාව සියලූ මිනිස් වර්ගයාට උපදේශකයක් වශයෙන්ද හොඳ කායිකයන්ද මාර්ග කායිකයන්ද අත්හළ අයට අවවාද අනුශාසනයක් ලෙසද වේ.

2531. නළල් කෙසේ රොදින් අල්වා ඇදගෙන යැම අරාබිනු බොහෝ කෝපල වශයෙන් අදහස් කෙරෙති. නැමදුම් පසුබෙකොට ඇති මාර්ග විධි අත්හළ අය අන්තිම දින නළල් කෙස්රොදින් අල්වා ඇදගෙන ගොස් නිරයට දමන ලෙස මලක්වරුනට අණ කරන්නේය. ඔහුවන් අණ පරිදි මලක්වරු එබඳු අය අල්වාගෙන ඇදගෙන යන්නේය යනු අදහසි. මේ හැර නළල් කෙස් රොදින් අල්වාගෙන ඇදගෙන යැම යනු තුමදාන කොට නැත්පත් කිරීම සඳහන් කෙරේ.

'ලූර් තූර් රහ්මාන්' පනවූ විට මෙය කුරෙෂ් ප්‍රධානීනට හදාරා පෙන්වූ අය කවරෙක්ද' යි නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් ප්‍රශ්න කොළේය. සියලූ දෙනම නිශ්ශබ්ද වූහ. ඉබ්නු මසූද් රළියල්ලාහු මමය කියා ඉදිරියට ආයේය. එවිට නායක සල්ලල්ලාහු අයලෙහිවසල්ලම් ඔහු වාඩි කෙරෙව්වේය. පසුව, යළිත් දෙවන වතාවේ මෙය හැදරුවේ කවරෙක්දැයි විචාළේය. ඉබ්නු මසූද් හැර අන් කිසිවෙක් ඉදිරියට නොආහ. යළිත් තුන්වන වතාවේත් ඇසුවේය. අන්තිමේදී ඉබ්නු මසූද් රළියල්ලාහු අන්හුටයැ අනුමැතිය දෙන ලද්දේ.

ඉබ්නු මසූද් රළියල්ලාහු අන්හු අවුලියා කෙනෙකි. මස් මංස අත නොගසන කෙනෙකි. එහෙයින්, නායක සල්ලල්ලාහු අයලෙහිවසල්ලම් ඔහුට අනුමතිය දුන්විට ඔහු කුමක් කරන්නේ දැයි සාවධානය බලා සිටියාහ. ඔහු කාපිර්වරුන් වෙත ගියේය. ඔවුහු කාබාව වටා පැදකුණු කෙරෙමින් සිටියහ. ඔවුන් වෙතැ ගොස් සූරතුර් රහ්මාන් හදාරන්නට පටන් ගත්හ. එකෙනෙහි අබූ ජහල්ගේ තණියෙහි වලයක් ලෙස ඇතිවිණ. ඔහුගේ කණ පැලී ඉන් ලේ ගලන්නට වන. ඔහු කඳුළු හෙළමින් පුණ පැමිණින. නායක සල්ලල්ලාහු අයලෙහිවසල්ලම් මේ තත්වය බලා අනුකම්පා කොට දුක්වුහුවැ හිස නමා ගත්තේය. එවිට ජිබ්රීල් අලෛහිවසල්ලම් පිනාගිගෙන ආවේය. එයට නායක සල්ලල්ලාහු අලෛහිව සෙල්ලම් 'ජිබ්රීල්, ඔබ යෙන්නෙහි? ඉබ්නු මසූද් අඩන්නේයයි කීවේය. එයට ජිබ්රීල් අලෛහිස්සලාම් 'ඔහු විශය දනගන්නේය'යි පිළිතුරු දුන්නේය.

2532 නළල් කෙස් රොද බොරු නොකියන්නේය. පවිද නොකරන්නේය. මේ නළල් කෙස් රොදින් යුත් අයයැ මේ දෙකයකියන්ම කරන්නේ යනු මෙහි අදහසි.

2533. එක් වතාවක් අබූ ජහල් නබී සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන් සිටිවූවට ගියේය. එවිට නායක සල්ලල්ලාහු අයලෙහිවසල්ලම් 'තූමදුම් කෙරෙමින් 'නම් අළිත්ත විල්ලෙයා, මම විනාශ නොකෙළෙමිද? යන ආයාව හදාරමින් සිටියේය. ඔහු නායක සල්ලල්හු අයලෙහිවසල්ලම් මත කෝපාවිෂ්ටවූ 'මුබ මා විනාශ කරන්නෙහිද? මම ද බොහෝ සගයන් ඇත්තෙක්මි'යි කීවේය. එනම් කමාට උදව් කරන්නට බොහෝ දෙන සිටිති'යි යනු ඔහුගේ අදහසි. ඊ සිද්ධියෙහි මේ ආයාව පහළ විය.

2534. පෙළෙහි 'අස්සබානියයා' යනු දඬුවම් දීමට නියම කරන ලද මලක්වරු. මොවුන්තුරෙන් කෙනෙක් ඔහුගේ නිරයපල්ලන් දහලක්ෂයක් දෙන රයගනිති. අබූජහල් කමාගේ ජනයා අමතාගෙන ඇවිත් සිටි බැවින් එල්ලෝ ඔවුන් ඇස්.ඉදිරිපිටම අල්වාගන්නාහ.

2535. වාලා කමාගේ හිමිට ළංවීම සුජූද් කරන සමයෙහිය. එබැවින් සුජූද් කිරීම වැඩි කරව. මේ නිරුක් කුර්ආන්හි සජ්ද තිලාවන්හි අවසානයැ.

## අල්-කද්ර්: බලගතු රැය

## سُورَةُ القَدْر

මක්කාහිදී පහළවිය

දයාබර පරමදයාබර අල්ලාහ්ගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. ඇත්තෙන්ම, අපි එය බලගතු රාත්‍රියෙහි පහළ කෙළෙමු.[2536]

١- إِنَّا أَنزَلْنَاهُ فِي لَيْلَةِ الْقَدْرِ

2. බලගතු රාත්‍රිය කුමක්දැයි නුඹ විස්තර කරන්නේ කුමක්ද?[2537]

٢- وَمَا أَدْرَاكَ مَا لَيْلَةُ الْقَدْرِ

3. බලගතු රැය මාස දහසකට වඩා හොඳය.[2538]

٣- لَيْلَةُ الْقَدْرِ خَيْرٌ مِّنْ أَلْفِ شَهْرٍ

4. එහි මලක්වරුද ආත්මයද අල්ලාහ්ගේ අවසරයෙන් සියලු කාර්යයන්හි පැමිණෙන්නෝය.[2539]

٤- تَنَزَّلُ الْمَلَائِكَةُ وَالرُّوحُ فِيهَا بِإِذْنِ رَبِّهِم مِّن كُلِّ أَمْرٍ

5. සාමය! එහි වෙයි ගතන එතක්[2540]

٥- سَلَامٌ هِيَ حَتَّىٰ مَطْلَعِ الْفَجْرِ

- 97 වන අල්-කද්ර් සූරාව නිමි -

---

2536. සූරා ii 185 බ. 'ලව්හුල් මහ්පූල්' ආරක්ෂිත ඵලකයෙහි සිට එක වරකටම සිරුත් කුර්ආන් මුළුමනින්ම, පළමුවන වරට අහස්හි 'බයිතුල්ඉස්සා' නම් ස්ථානයට මේ රැයේ පහළ විය. ඉන්පසු කාල සිද්ධීන්ට එකගවනයේ අවුරුදු විසිතුනෙක කාලයක්හි කඩින්කඩ නබී සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන්ට පහළවිය.

2537. ඒ රාත්‍රියෙහි බලගතු බව අල්ලාහ් හ අ ලා හැර වෙන කිසිවෙක් ඇසි දය ඇසි සැටියේ සම්පූර්ණයෙන් නොදනිත් යනු මේ ආයාවෙහි අදහි. බලගතු රාත්‍රියෙහි මැරුණු විශ්වාස කරන්නාගේ මිනීවළෙහි ඇඹිම ගණන් නැතැයි යනු කියන ලදී.

2538. 'දහසක්' යන්න දීර්ඝ කාලයක් අඟවන බැවින් අභියෝගාර්ථයෙන් අර්ථ ගතයුතු. සූරා xxxii. 5 බ.

2539. ජිබ්රීල් අලෛහිස්සලාම් සූරා Lxx 4 බ.

2540. ආද්ධ්‍යාත්මික අන්ධකාර රාත්‍රිය අල්ලාහ් හ ආලාගේ ආලෝකයෙන් දුරුවත්ම සිතෙහි සාමය හා ආරක්ෂාව සලසති.

මේ රැයෙහි අලුත් ලෙඩරෝග හට නොගනී. විදුලි කෙටීම් ගෙන වැනි උපද්‍රව නොපැමිණේ. මේ රැයෙහි මැරෙන කවුරුන් එකයාට හොඳ ප්‍රයෝජනයද සාමය ද ඇති කෙරෙහි. මේ රැයෙහි ෂයිතාන් නපුරුකම් නොකෙරේ. මේ රැයෙහි සුගියම් කළද එය එල නොවේ.

## අල්-බය්යනා: පැහැදිලි සාක්ෂිය

سورة البينة

මදීනාහිදී පහළවිය

දයාළු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. පුස්තකය හිමි අයවලුන් අතුරෙහිද සමානයන් තබන්නවුන් අතුරෙහිද(සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නාවූ අය තමනට පැහැදිලි සාක්ෂිය පැමිණෙන තුරු තම තමන්ගේ මාර්ගයෙන් ඉවත් නොවන් නෝය.[2541]

١. لَمْ يَكُنِ الَّذِينَ كَفَرُوا مِنْ أَهْلِ الْكِتَابِ وَالْمُشْرِكِينَ مُنفَكِّينَ حَتَّىٰ تَأْتِيَهُمُ الْبَيِّنَةُ

2. අල්ලාහුගෙන් රසූල්වරයාය ඔහු පිරිසිදු.......... හදාරන්නේය.[2542]

٢. رَسُولٌ مِّنَ اللَّهِ يَتْلُو صُحُفًا مُّطَهَّرَةً

3. එහි සාධු ලේඛනයෑ. පෙළෙහි 'කයිම්මතුන්' යන්නට අර්ථ යැවී.[2543]

٣. فِيهَا كُتُبٌ قَيِّمَةٌ

---

2541. පෙළෙහි 'අහ්ලුල් කිතාබ්' යනුවෙන් යුදෙව් - ක්‍රිස්තු භක්තිකයන් සඳහන් කෙරේ. මොවුහු තම තමන්ගේ ... විශ්වාසකළ සත්‍යය විශ්වාස කරනාන්න වූවද, ඒ නබිවරයනට පැහුර තම තමන්ගේ මත අත්හැර වෙනත් වී ප්‍රතික්ෂේප කරන්නන් වූහ. සමානයන තබන්නෝ කෙලින්ම ප්‍රතික්ෂේප කරන්නෝය. අන්තිම කාලයෙහි නබිවරයකුගේ පැමිණීම පිළිබැඳිව, තම ... ආගම්වල කියන ලද පෙර දන්විම්වේද ආගම්ධරයන් ඉගෙන දන සිටියාහුය.

අරාබි රටේ සමානයන් තබන්නන් අතුරෙහිද වේද ආගම්ධරයන් අතුරෙහිද සටන් පැමිණෙන කල රාජයා කෙරෙහි ප්‍රාර්ථනා කරන විට 'භාවෙනි, අන්තිම කාලයෙහි පැමිණෙන ඔබගේ දීර්ඝ දෑතින් පිළිබැඳිව, අපට ජය දෙව්'යි කියන්නෝය. තම ගම්වල ආගම්හි පෙර දනුම්හ දී සිටුණ අන්තිම කාල නබිවරයාගේ පැමිණීම ළඟ ළඟ ඇත. ඔහු පැමිණි විට කොප පුනු විපුනු කර දමන්නේයයි වේදාගම්ධරයෝ කියති. මෙලෙස අරාබි රටේ වේදාගම්ධරයෝද සමානයන් තබන්නෝද. අන්තිම කාල නබිවරයා අරාබි රටේ උපදින්නේ යයිද ඔහුගේ උපැද්ම සිව්වු යයිද දන සිටියාහුය. එකල ඔහු පැමිණි විගාම ඔවුන් ඔහු විශ්වාස කළෙනුය යන උරුදිය රවුටට තම තමන්ගේ පැරණි මුතවලම ස්ථිරව සිටියහ.

පෙළෙහි 'අල්බය්යිනතු' (පැහැදිලි සාක්ෂිය) යනුවෙන් නබි (සල්ලල්ලාහු අලෛහිවසල්ලම්) තුමාණන් සඳහන් කෙරේ. එනම්: නබි. (සල්ලල්ලාහු අලෛහිවසල්ලම්) තුමාණන් අනුගමනය කරන්නට ඕනෑයයි උරුදියෙහි සිටි ඔවුහු නායක සල්ලාල්ලාහු අලෛහිවසල්ලම් සංමාර්ග ප්‍රචාරය ආරම්භ කළවිට තමන්ගේ උරුදියෙන් මාරු වූහ. ඔවුන්ගෙන් ඇතැමෙක් අපගේ මාර්ගයට විරුද්ධව සටන්ද කළහ.

2542. 'සුහුෆ' යනු සනිපුන් ගන්‍ථයනි බැහුවයි.

2543. සූරා ix. 30; xii. 40 බ.

٤- وَمَا تَفَرَّقَ الَّذِينَ أُوتُوا الْكِتَابَ إِلَّا مِن بَعْدِ مَا جَاءَتْهُمُ الْبَيِّنَةُ ۝

4. පුස්තකය හිමි අය පැහැදිලි සාක්ෂිය ඔවුනට පැමිණියායින් පසුත් ඔවුහු නොබෙදුණහුද[2544].

٥- وَمَا أُمِرُوا إِلَّا لِيَعْبُدُوا اللَّهَ مُخْلِصِينَ لَهُ الدِّينَ حُنَفَاءَ وَيُقِيمُوا الصَّلَاةَ وَيُؤْتُوا الزَّكَاةَ ۚ وَذَٰلِكَ دِينُ الْقَيِّمَةِ ۝

5. ඔහුට භක්තිය පූර්ණද්ධ කෙරෙමින් සෘජුවැදි පලාත්හි නිරතවැද සලාත් දෙමින්ද අල්ලාහු නමදින්නට මිස ඔවුහු නො අණවන ලද්දෝය. ඒයැ සෘජු මාර්ගය[2545].

٦- إِنَّ الَّذِينَ كَفَرُوا مِنْ أَهْلِ الْكِتَابِ وَالْمُشْرِكِينَ فِي نَارِ جَهَنَّمَ خَالِدِينَ فِيهَا ۚ أُولَٰئِكَ هُمْ شَرُّ الْبَرِيَّةِ ۝

6. පුස්තකය හිමි අයටවුත් අකුරෙහි (සත්‍යය) ඇත්තෙත්ම. ප්‍රතිපක්ෂ කළ අයද සමානයන් තබන්නන්ද ජහන්නම් ගින්නෙහිය. ඔවුහු එහි සදා වෙසෙන්නෝය.ඒ අය ඔවුනුයැ නරකම සෘෂ්ටිය[2546].

٧- إِنَّ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ أُولَٰئِكَ هُمْ خَيْرُ الْبَرِيَّةِ ۝

7. ඇත්තෙත්ම. විශ්වාස කොට යහකම් කරන්නාවූ ඒ අය ඔවුනුයැ ඉතාම හොඳ සෘෂ්ටිය.[2547]

٨- جَزَاؤُهُمْ عِندَ رَبِّهِمْ جَنَّاتُ عَدْنٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا أَبَدًا ۖ رَّضِيَ اللَّهُ عَنْهُمْ وَرَضُوا عَنْهُ ۚ ذَٰلِكَ لِمَنْ خَشِيَ رَبَّهُ ۝

8. ඔවුන්ගේ වැටුප් ඔවුන්ගේ හිමි සන්නිධානයෙහිවූ 'ජන්නාතු අද්න්ය.' එහි යටින් ගලා බසින ගංගාය. ඔවුහු එහි සදාකලැ වෙසෙන්නෝය.අල්ලාහු ඔවුන් කෙරෙහි සොම්නස - මේ තමාගේ හිමිහට බිය බැතිමත් අයටයැ.[2548]

- 98 වන අල්-බය්යනා සූරාව නිමි -

---

2544. අරාබි රටෙහිවූ ප්‍රතිපක්ෂ කරන්නෝ නායක සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් නැත දැනගෙනත් ඔහු ප්‍රතිපක්ෂ කළෙහි යනු මේ ආයාවෙහි අදහසි.

2545. සුරා ii. 135 බ.

සුරා Lxxx. 13-16 බ.

2546. 'ජහන්නම්' යනු බොහෝ ගැඹුරුවූද ඝනාන්ධකාරය ඇත්තාවූද ස්ථානයෙහි ඇති ගින්න. මෙයට ජහන්නම් දෙයයි කියනු ලැබේ.

2547. ඔවුහු ඔවුන්ගේ ජන්නාව වන උසස් බලාපොරොත්තුව සපුරා ලන්නෝය.

2548. Lxxxix 27-30 බ.

අස්සිල්යාල්: පෘථිවි කම්පාව

سورة الزلزلة

මදීනාහිදී පහළවිය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාළු පරමදයාළු අල්ලාහුගේ නාමයෙන්

١ - إِذَا زُلْزِلَتِ الْأَرْضُ زِلْزَالَهَا ۝

1. ඇයගේ (අන්තිම) කම්පාවෙන් පෘථිවිය කම්පාවූ කල්හි.[2549]

٢ - وَأَخْرَجَتِ الْأَرْضُ أَثْقَالَهَا ۝

2. තවද පෘථිවිය ඇයගේ බර[2550] බැහැර කරන්නිය.

٣ - وَقَالَ الْإِنسَانُ مَا لَهَا ۝

3. තවද මිනිසෙක් මේ කුමක්ද'යි කියන්නේය.

٤ - يَوْمَئِذٍ تُحَدِّثُ أَخْبَارَهَا ۝

4. එදිනැ ඕ ඇගේ පුවත් පවසන්නිය.

٥ - بِأَنَّ رَبَّكَ أَوْحَىٰ لَهَا ۝

5. නුඹ හිමි ඇයට වහී[2551] ප්‍රකාශනය පහළ කළ නිසා.

٦ - يَوْمَئِذٍ يَصْدُرُ النَّاسُ أَشْتَاتًا لِّيُرَوْا أَعْمَالَهُمْ ۝

6. එදිනැ මිනිසුන් තමන් කළ කම් පෙන්වනු වස් වර්ගවලට බෙදනු ලැබ ඔවුනු ගණ වශයෙන් එළඹෙන්නෝය.[2552]

٧ - فَمَن يَعْمَلْ مِثْقَالَ ذَرَّةٍ خَيْرًا يَرَهُ ۝

7. යමෙක් අණු ප්‍රමාණ හොඳක් කෙළේ නම් ඔහු එය දකින්නේය.

٨ - وَمَن يَعْمَلْ مِثْقَالَ ذَرَّةٍ شَرًّا يَرَهُ ۝

8. යමෙක් අණු ප්‍රමාණ නරකක් කෙළේ නම් ඔහු එය දකින්නේය.

- 99 වන අස්සිල්යාල් සූරාව නිමි -

---

2549. ඉස්රාෆීල් අලෛහිස්සලාම් පළමුවැ හොරණෑව පිඹින කල්හි පෘථිවිය කම්පාවන්නේය.

2550. බර යනු පෘථිවිය ඇතුළෙහි ඇති වස්තු : නිධාන, භූමිදාන කළ මළ සිරුරු, විවිධ මැණික් ආදී ගල් පෙර කලැ ගෙවල්වල අත්තිවාරම් ආදී දෑය.

2551. සූරා XVI. 68 බ.

2552. මෙලොවැ හොඳ නොහොඳ එකට මිශ්‍ර වෙලාය. ඔවුන් කළ හොඳ නොහොඳෙහි තරා තිරම් වශයෙන් එදිනැ ඔවුනු ගණ වශයෙන් බෙදනු ලබන්නේය.

2553. ධර්රාත් : කුහුඹුවකුගේ බර සාමාන්‍ය මිනිසකුට සිතිය හැකි ඉතා කුඩා එවබර.

## අල්-ආදියාත්. ධාවනය කරන්නෝ

سورة العديت

මක්කාහිදී පහළවිය.

දයාළු පරමදයාළු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. හතිදමා දුවන අසුන්ගෙන් (ප්‍රමාණ කොට)[2554] — ١- وَالْعَادِيَاتِ ضَبْحًا

2. පසුව. ගිනි පුපුරු විසුරුව මින් (දුවන අසුන් ප්‍රමාණ කොට). — ٢- فَالْمُورِيَاتِ قَدْحًا

3. පසුව. උදය කාලයෙහි ආක්‍රමණය කරන්නවුන් (මත ප්‍රමාණ කොට). — ٣- فَالْمُغِيرَاتِ صُبْحًا

4. පසුව. ධූලි උකහා වලා නංවන[2555] — ٤- فَأَثَرْنَ بِهِ نَقْعًا

5. පසුව. සතුරාගේ මද්ධ්‍යයට කඩා වදින්නන් මත (ප්‍රමාණ කොට). — ٥- فَوَسَطْنَ بِهِ جَمْعًا

6. ඇත්තෙන්ම. මිනිසා තම හිමිහට අකෘතඥමයැ. — ٦- إِنَّ الْإِنسَانَ لِرَبِّهِ لَكَنُودٌ

7. ඇත්තෙන්ම. ඔහු (ඔහුගේ) ක්‍රියා කලාපයෙන් එයට සාක්ෂි දරන්නේමය. — ٧- وَإِنَّهُ عَلَىٰ ذَٰلِكَ لَشَهِيدٌ

8. ඇත්තෙන්ම. ඔහු වස්තු තණ්හා වෙහිම තද පරුෂ මය. — ٨- وَإِنَّهُ لِحُبِّ الْخَيْرِ لَشَدِيدٌ

9. තවද මිනී වළෙහි[2556] දය බැහැර විසිර යන කලැ ඔහු නොදන්නේද. — ٩- أَفَلَا يَعْلَمُ إِذَا بُعْثِرَ مَا فِي الْقُبُورِ

10. සිත්හි දය ප්‍රකාශයට පැමිණවූ කල්හි. — ١٠- وَحُصِّلَ مَا فِي الصُّدُورِ

11. ඇත්තෙන්ම. ඔවුන්ගේ හිමි ඔවුන් ගැන එදිනැ සුවිදිතමය. — ١١- إِنَّ رَبَّهُم بِهِمْ يَوْمَئِذٍ لَّخَبِيرٌ

- 100 වන සූරාව අල් ආදියාත් නිමි -

---

2554. පෙළෙහි 'අල් ආදියාත්' යන්නෙන් වේගයෙන් දුවන්නන් සඳහන් කෙරේ. පෙළෙහි 'ළබ්හන්' යනුවෙන් අස්වයන් සඳහන් කෙරේ. මහා හඬියෙන් හති දමාගෙන දුවන යුද්ධ අශ්වයන් සඳහන් කෙරේ. මහා හඬියෙන් හති දමාගෙන දුවන යුද්ධ අශ්වයන් මත ප්‍රමාණකොට කියමි යනු මේ ආයාවෙහි අදහසි.

2555. ධූලි වලා යන්නෙන් සත්‍යයට විරුද්ධවූ සිත් ඇත්තන්ගේ අඥාන භාවය හා කලඹල කාරිකම පිළිබිඹු කෙරෙයි.

2556. මිනී වළවල් වල.

අල්-කාරිආ විපත්තිය
سُورَةُ القَارِعَة
මක්කාහිදී පහළවිය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන් — بِسْمِ اللهِ الرَّحْمٰنِ الرَّحِيمِ

1. විපත්ති (කර දින)ය.[2557] — ١- اَلْقَارِعَةُ ۝

2. විපත්ති (කර දින)ය යනු කුමක්ද? — ٢- مَا الْقَارِعَةُ ۝

3. විපත්ති (කර දින) ය යනු ඔබට විස්තර කරන්නෙ කුමක්ද? — ٣- وَمَا أَدْرٰكَ مَا الْقَارِعَةُ ۝

4. එදිනැ මිනිස්සු පලගැටියන් මෙන් විසිරෙන්නෝය[2558] — ٤- يَوْمَ يَكُونُ النَّاسُ كَالْفَرَاشِ الْمَبْثُوثِ ۝

5. තවද කඳු පිරා ඉද්ධ කරන ලද පුළුන් මෙන් වන්නේය.[2559] — ٥- وَتَكُونُ الْجِبَالُ كَالْعِهْنِ الْمَنْفُوشِ ۝

6. දන්නැ! යමකුගේ තරාදිය කිරුම් බර.[2560] — ٦- فَأَمَّا مَنْ ثَقُلَتْ مَوَازِينُهُ ۝

---

2557. පාඨයෙහි අල්කාරියතු (ගඩ ගඩ ගෑම) යනු මෙහි පුනරුත්ථාන දිනය සඳහන් කෙරේ. පුනරුත්ථාන දිනය මිනිසාගේ හෘදය වස්තුව ගැහීමෙන්ද අල්ලාහු තආලාට විරුද්ධවූ අයවලුන්ගේ හෘදය වස්තුනට වේදනාව දෙමින් ගැහීමෙන්ද සිබෙන බැවින් පුනරුත්ථාන දිනට මේ නම විය. ද්‍රව්‍යයන්හි නියාම (ධර්මයෙහි දැන් පවතින සත්ත්වය භයානක කම්පාවෙකින් පෙරනු ලබන ගාලා ගොඩට දිනය කර විනිශ්චය දිනයයි.
සුරා XCIX. I. LXXXVIII-I බ.

2558. පාඨයෙහි 'අල්ෆරාෂ්' යනු අල්ෆරා මිස්සායන්තෙහි බුහු වචනී. ගින්නෙහි වැටී මැඩී යන මැස්සාට මේ නම කියනු ලැබේ.

2559. සුරා LXX. 9. බ. කඳු සිසිර්සින් පෙලවුම් කරනු නොහැකි ඝන අචල වස්තූය එබා එදිනැ පාවිච්කම්පාවෙකිදී පිරා ඉද්ධ කරන ලද පෙමාපළාස් පුළුන් පෙදපෙයින් විසිරෙන්නේය. අප මේ ලෝකයෙහි කරස්ථර යයි සිතන දෑය ආධ්‍යාත්මික ලෝකයෙහි ශූන්‍ය බව හැඟැවීමට මේ රූපකයෙකි. පුනරුත්ථාන දිනැ කොරතැව පිම්බ හැටියේම භූමිකම්පාව වී කඳු පොඩිව් කුඩුව් යන්නේය. ලොකු ලොකු ගල් පියල්ලම එකවෙන හැපී පුළුන් මෙන් අහස්හි පියාඹයි. එයවස් වඩා කඳුවල ඇති කරගල්, සුදුගල් රතුගල් ආදී විවිධ වර්ණයෙන් යුත් ගල් පුළුමෙන් වනවිට එබා විවිධ වර්ණවස් සායම් පොවන ලද පුළුන් එකවෙන සම්මිශ්‍රණව පියාඹා දුවන්නාක් මෙන් පෙනේ.

2560. මිනිසා කළ හොඳ නොහොඳද, පරලොවිහි කිරා පෙන්වන්නේය. තරාදිය රූපකය. හොඳ ක්‍රියා කිරා තක්සේරු කරනු ලබන්නේය. තක්සේරු කිරීම ඉතා ලක්ෂණය. සාධාරණය. මක් නිසාද අදහස් ගණන් ගන්නා බැවින්.

7. ඔහු සොම්නස්කර දිවියෙකු වන්නේය.[2561] — فَهُوَ فِي عِيشَةٍ رَاضِيَةٍ ٧

8. දන්නා! යමකුගේ තරාදි (කිරුම්බර)ය සැහැල්ලු වන්නේද — وَأَمَّا مَنْ خَفَّتْ مَوَازِينُهُ ٨

9. ඔහු ගේ නිවස අ ගාධ තරා වළ. — فَأُمُّهُ هَاوِيَةٌ ٩

10. මේ කුමැයි නුඹට විස්තර කරන්නේද. — وَمَا أَدْرَاكَ مَا هِيَهْ ١٠

11. එය ගිනිංගත දල්වෙන ගින්නකි — نَارٌ حَامِيَةٌ ١١

101 වන අල්-කාරිආ සූරාව නිමි -

2561. සූරා xcviii. 8. බ.

අත්තාකාසුර්. සම්පත් රැස් කිරීම

سُورَةُ التَّكَاثُرِ

මක්කාහිදී පහළ විය

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. සම්පත් රැස් කිරීම තොප වෙනතකට හරවන්නේය.[2562]

١- أَلْهَاكُمُ التَّكَاثُرُ ۝

2. තොප මිනීවළ දකිනතෙක්[2563]

٢- حَتَّىٰ زُرْتُمُ الْمَقَابِرَ ۝

3. නො එසේ. (ඒ සත්‍යය) මතු වට තොපි දැනගන්නහුය.

٣- كَلَّا سَوْفَ تَعْلَمُونَ ۝

4. පැසුව. නො එසේ මතුවට තොපි දැනගන්නහුය.

٤- ثُمَّ كَلَّا سَوْفَ تَعْلَمُونَ ۝

5. නො එසේ. තොපි සත්‍ය ඥානයෙන් දන්නහුනම්.[2564]

٥- كَلَّا لَوْ تَعْلَمُونَ عِلْمَ الْيَقِينِ ۝

6. තොපි ජහන්නමය දකින්නහුමය.[2565]

٦- لَتَرَوُنَّ الْجَحِيمَ ۝

7. පැසුව. තොපි සත්‍යඥානයෙන් දකින්නහුමය.

٧- ثُمَّ لَتَرَوُنَّهَا عَيْنَ الْيَقِينِ ۝

8. පැසුව. එදිනැ භාග්‍යය ගැන තොපි ප්‍රශ්න කරනු ලබන්නහුය.

٨- ثُمَّ لَتُسْأَلُنَّ يَوْمَئِذٍ عَنِ النَّعِيمِ ۝ ع

- 102 වන අත්තකාසුර් සූරාව නිමි -

2562. මේ සූරාව පහළ වූ විට නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුරවැසියන් මගේ සම්පත් මගේ සම්පත් කියමින් ආදම්ගේ පුතා කීවේය. ඔබ අනුභව කරන දැයද අඳින පළඳින දැයද ධර්ම කාර්යයන්හි අයිදම් කරන දැයයි ඔබගේ සම්පත්යි කීවේය.

2563. මේ සිප් ජීවිතයෙහි අලංකාරය අත්හැර මිනීවලෙහි සැතපෙන තෙක් එවිට සැබෑ සත්‍යය තොප ඉදිරියෙහි වන්නේය. ඒ සත්‍යාවබෝධයට මේ ජීවිතයෙහිම මදක් උත්සාහ නොකරන්නේ ඇයි?

2564. 1. ඉල්මුල් යකීන්.

2. අයිනුල් යකීන්.

2565. 3. හක්කුල් යකීන් යි යකීන් ඥානය තෙවදැරුයමි.

සූරා xix' 68, 71-72 බ.

## අල් අස්ර්: කාලය

سورة العصر

මක්කාහිදී පහළ විය

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

දයාළු පරමදයාළු අල්ලාහුගේ නාමයෙන්

١- وَالْعَصْرِ ۝

1. කාලයෙන් (ප්‍රමාණකොට)

٢- إِنَّ الْإِنْسَانَ لَفِيْ خُسْرٍ ۝

2. ඇත්තෙන්ම මිනිසා හානියෙහිය.

٣- إِلَّا الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ وَتَوَاصَوْا بِالْحَقِّ ۙ وَتَوَاصَوْا بِالصَّبْرِ ۝

2. විශ්වාස කොට යහකමුත් කොට එකිනෙකාට සත්‍යයෙන් උපදෙස් දී ඉවසීමෙන් එකිනෙකාට උපදෙස් දුන් අය හැරුය.

- 103 වන අල්-අස්ර් සූරාව නිමි -

## අල්-හුමසා: පෙනෙහසුත් තෙපලන්නා

سُورَةُ الهُمَزَةِ

මක්කාහිදී පහළවිය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්    بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. පෙනෙහසුත් තෙපලන්නාවූද හෙළා දකින්නාවූද. සෑම කෙනෙකුටම විපත.    ١-وَيْلٌ لِّكُلِّ هُمَزَةٍ لُّمَزَةٍ ۝
2. සම්පත් රැස්කොට එය අවුක්තු කළ අය.    ٢-الَّذِي جَمَعَ مَالًا وَعَدَّدَهُ ۝
3. තමාගේ සම්පත් තමා නිරතුරු කරන්නේ යයි සිතන්නේය.    ٣-يَحْسَبُ أَنَّ مَالَهُ أَخْلَدَهُ ۝
4. නො එසේ. හුතමති[2566] නම් නිරයට දමා ගසන්නේ මය.    ٤-كَلَّا لَيُنبَذَنَّ فِي الْحُطَمَةِ ۝
5. හුතමති යනු කුමැයි ඔබට විස්තර කරන්නේද.    ٥-وَمَا أَدْرَاكَ مَا الْحُطَمَةُ ۝
6. අල්ලාහුගේ දල්වනලද (උදගද් නමැති ගින්න)    ٦-نَارُ اللَّهِ الْمُوقَدَةُ ۝
7. එය හෘදයන් මත උද්ගත වන්නේය.    ٧-الَّتِي تَطَّلِعُ عَلَى الْأَفْئِدَةِ ۝
8. එය ඔවුන් මත වසා ගන්නේය.    ٨-إِنَّهَا عَلَيْهِم مُّؤْصَدَةٌ ۝
9. විහිදී ගිය අග්නිස්කන්ධයන්හි.    ٩-فِي عَمَدٍ مُّمَدَّدَةٍ ۝

- 104 වන අල්-හුමසා සූරාව නිමි -

2566. කැලි කැලිවලට කඩාබිඳ දමන යන අර්ථයි.

## අල් ෆීල්: හස්තියා

سُوْرَةُ الْفِيْلِ

මක්කාහිදී පහළවිය

බිස්මිල්ලාහ් / بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාළු පරමදයාළු අල්ලාහුගේ නාමයෙන්

1. නුඹගේ හිමි හස්ති සහායනට කුමක් කෙළේදැයි නුඹ නොදක්නෙහිද?[2567] — ١- أَلَمْ تَرَ كَيْفَ فَعَلَ رَبُّكَ بِأَصْحَابِ الْفِيلِ ۝

2. ඔහු ඔවුන්ගේ කූටෝපක්‍රම නොමග නොයැව්වේද? — ٢- أَلَمْ يَجْعَلْ كَيْدَهُمْ فِي تَضْلِيلٍ ۝

3. ඔහු අබා බිල් පක්ෂි රංචුන් ඔවුන් යැව්වේය. — ٣- وَأَرْسَلَ عَلَيْهِمْ طَيْرًا أَبَابِيلَ ۝

4. පැලුණු මැටි කැටගල් ඔවුන් මත හෙළමින්. — ٤- تَرْمِيهِمْ بِحِجَارَةٍ مِنْ سِجِّيلٍ ۝

5. ඔහු ඔවුන් ගවයන් කෑ ගොයමක් ලෙස කෙළේය. — ٥- فَجَعَلَهُمْ كَعَصْفٍ مَأْكُولٍ ۝

- 105 වන අල්-ෆීල් සූරාව නිමි -

2567. මේ ආදි මක්කා සූරාව අපගේ ශුද්ධවූ අනාගත වක්තෘ උතුමා උපන් ක්‍රි. ව. 570 වන හවුරුද්දෙහිවූ සිද්ධියක් ගැන සඳහන් කෙරේ. එකල යමන් රාජ්‍යයෙහිදී හිමියාර් රාජ්‍යපාලකයන් විසින් එළවන ලද ඇබිසීනියාවරුන් යටතේ විය. අබ්රහාම්බුස් සබාහිල් අෂ්රම් ඇබිසීනියාවේ රාජ්‍ය පාලකයා හෝ විසුරෝ විය. ආගමික උන්මත්තක භාවයෙන් බලයෙන් මක්කා කාබාව විනාශ කරන අදහසින් මක්කාව ආක්‍රමණය කෙළේය. ඔහුගේ පිරිවරේ ඇතෙක් හෝ ඇත්තු වූහ. එහෙත් ඔහුගේ මාර්ග දූෂණ අදහස් ප්‍රාතිහාර්යයෙහින් ඔහු පරාජය කරනු ලැබිය. ඔහුගේ යුද්ධ හමුදා ඔවුනට ඉතා ශක්තිමත්වූ බැවින් ඔවුහු ආරක්ෂාවක් ඉදිරිපත් නොකළහ. එහෙත් පක්ෂි රංචු විසින් විසිකරන ලද ගල් වර්ෂාවකින් ආක්‍රමික හමුදාව එක මිනිසකු දක්වා විනාශ කරන ලදී. එ ගල් සමේ වසංගතයක් ලෙස පැතිරෙන වණ පිළියල් ඇති කෙළේය.

## අල් - කුරෛෂ්: කුරෛෂ්වරු

سُورَةُ قُرَيْشٍ

මක්කාහිදී පහළවිය.

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- لِإِيلَافِ قُرَيْشٍ

1. කුරෛෂ්වරුන් භුක්ති විඳින ආරක්ෂා ප්‍රතිඥාවලට.[2568]

٢- إِيلَافِهِمْ رِحْلَةَ الشِّتَاءِ وَالصَّيْفِ

2. ශීත ඍතුවේ හා ග්‍රීෂ්ම ඍතුන්හි කෙරෙන ඔවුන්ගේ ගමන් බිමන් සඳහා ප්‍රතිඥ පිළිපැදීම අනුව

٣- فَلْيَعْبُدُوا رَبَّ هَٰذَا الْبَيْتِ

3. මේ ගෙහි[2569] ඔවුහු ස්වාමි නැමදුම කෙරෙත්වා.

٤- الَّذِي أَطْعَمَهُم مِّن جُوعٍ وَآمَنَهُم مِّنْ خَوْفٍ

4. ඔවුන්ගේ ක්ෂුධාවෙන් ඔවුනට ආහාර සම්පාදනය කරන්නාවූද විපත් බියෙන් ඔවුන් ආරක්ෂා කරන්නාවූද[2570]

- 106 වන අල්-කුරෛෂ් සූරාව නිමි -

2568. කුරෛෂ්වරු අරාබියේ ඉතා උතුම් ගෝත්‍රයකට අයත්වූහ. මේ ගෝත්‍රයට අදාළවූ අනාගත වක්තෘ තුමාද අයත්ය. අරාබියේ මධ්‍යම අදිධ ප්‍රධානයවූ කාබාවේ ආරක්ෂාව ඔවුනට තිබිණ. ඒ අනාරක්ෂිත කාලයන්හි මක්කා ආරක්ෂකයන් වශයෙන් ඔවුන්ගේ වෙළහෙළදාම් ගමන් බිමන් සියළු සතුන් රැස ගැනීමේ ආරක්ෂක ප්‍රසිද්ධ ලැබගැනීමට ඔවුනට හැකි විය. ශීත සෘතුවේ හා ග්‍රීෂ්ම සෘතුන්හි කෙරෙන ඔවුන්ගේ ගමන් බිමන් සඳහා ප්‍රසිද්ධා පිළිබැඳිව.

2569. කාබා

2570. ඔවුන්ගේ වෙළඳ කවලම් ඔවුන් පොහොසත් කෙළේය. දුර දේශයන්ගෙන් මිනිසුන් වෙළෙඳ බඩු හා නැගි බෝජන ගෙන මෙහි කැඳෙව්වේය.

## අල්-මා ඌන්: අසල් වැසි ඕනෑ උපාකම පිරිමැසීම

سُورَةُ الْمَاعُونِ

මක්කාහිදී පහළවිය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- أَرَأَيْتَ الَّذِي يُكَذِّبُ بِالدِّينِ

1. විනිශ්චය ප්‍රතික්ෂේප කරන කෙනෙකු ඔබ දුටු යෙහිද?[2571]

٢- فَذَٰلِكَ الَّذِي يَدُعُّ الْيَتِيمَ

2. අනාථයා එලවා හරින්න එබඳුය.

٣- وَلَا يَحُضُّ عَلَىٰ طَعَامِ الْمِسْكِينِ

3. දිළින්දාට ආහාර දීමට යනු බල නොදෙන්නේය[2572]

٤- فَوَيْلٌ لِّلْمُصَلِّينَ

4. අහෝ! සලවාත් කරන්න වූනට විපත.

٥- الَّذِينَ هُمْ عَن صَلَاتِهِمْ سَاهُونَ

5. තමන්ගේ සලවාත්හි නොසැලකිලි මත් වූ ඒ අය.[2573]

٦- الَّذِينَ هُمْ يُرَاءُونَ

6. මෙරමාට පෙන්නුම කරන ඒ අය[2574]

٧- وَيَمْنَعُونَ الْمَاعُونَ

7. තවද ඔහු අසල්වැසි ඕනෑ උපාකම් (සම්පාදනය කිරීම) ප්‍රතික්ෂේප කෙරෙති.

- 107 වන අල් මාඌන් නිමි -

2571. පෙළෙහි 'දීන්' යන්නෙහි අර්ථය පැමිණෙන විනිශ්චය. හෝ විශ්වාසය විශ්වාස මතුවගකීම ප්‍රතික්ෂේප කරන්නා පිහිස්සු අනාථයා නිගරුකොට සලකා අහංකාරවූ ආත්මාර්ථකාමී ජීවිත ගත කෙරෙයි.

2572. දානයෙන් හෝ ආදරයෙන් හෝ සමාජයේ වියදමෙන් දිළිඳුන් පෝෂණය කිරීම උතුම් ක්‍රියාවකි.

2573. අල්ලාහු කෘපාලා සාක්ෂාත් කිරීමෙහි අවබෝධ කරගෙන එලය ක්‍රියා කිරීමට සිතකය නොයොදා ඔහුගේ පිරිසිදු අදහස සලවාත් ස්වරූපය සැබෑ නැමදුම නොවේ.

2574. සූරා VI. 142. බ. ඔවුන් සලවාත් කිරීමට නැගිටින විට සිත යොමුකිරීමක් නොමැතිව මිනිසුනට පෙනෙන සේ නැගිටිති. එසේත් ඔවුන් මතක් කියාගන්නේ ස්වල්ප ස්වල්පයෙකි.

## අල්-කව්සර්: සමෘද්ධ තාව

سُورَةُ الكَوثَر

මක්කාහිදී පහලවිය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. ඇත්තෙන්ම. අපි නුඹට සමෘද්ධතාව දුන්නෙමු.[2575]

١- إِنَّا أَعْطَيْنَاكَ الْكَوْثَرَ ۝

2. එහෙයින් නුඹගේ හිමි නැමදුම කරව. කුර්බාන්ද දෙව.[2576]

٢- فَصَلِّ لِرَبِّكَ وَانْحَرْ ۝

3. ඇත්තෙන්ම නුඹට ද්වේශ කරන්නා- මහු (මහුගේ) පරපුර වද කරන්නේය.[2577]

٣- إِنَّ شَانِئَكَ هُوَ الْأَبْتَرُ ۝

- 108 වන අල්-කව්සර් සූරාව නිමි -

---

**2575.** පෙළෙහි 'අල්-කව්සර්' යනුවෙන් රත්නාවෙහි එක්තරා විලක් හඟවා. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් 'මිහරාජ්' (ස්වර්ගාරෝහනයට) වැඩි කල්හි ඔහු එය දුටුවේය. එහි ඉවුරෙහි මුතු මුවා කුඩාරම් විය. එහි ජලය නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් බැලුවේය. එය කස්තුරි සුවඳට වඩා සුවඳවත්ය. මෙය කුමක්දැයි නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් හපරත් ජිබ්රීල් අලෛහිස්සලාම්ගෙන් විචාළේය. අල්ලාහු තආලා නුඹට දී තිබෙන ඒ 'කව්සරය' මෙයයි පිළිතුරු දුන්නේය.
සූරා II. 209. බ. (බුහාරි මුස්ලිම්)

**2576.** 'කුර්බාන්' කළ යුතු යනු ප්‍රාණය වෙනුවට වේ. මේ කරණ කොට ගෙන දිළිදුනට ප්‍රයෝජන ඇත්තේය.

**2577.** ඇත්තෙන්ම, නුඹට ද්වේශ කරන්න - ඔහු (ඔහුගේ පරපුර වදකරන්නෙහිය. යනු රාජයාව නැමදුම්, කුර්බාන් කරන භාග්‍යය, නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුර්මුවනාව හා ඔහු අනුගමනය කරන ආත්මාත්ථිකාම් වාලූනට ලැබේ. මොවුන් හැර අනිත් අයට මේ භාග්‍යය නැත. මොවුන් මෙලොවැ පරලොවැ දෙක්හි පරපුර වද කළවුන් මෙන් වෙති.

## අල්-කාෆිරූන්: විශ්වාස නොකරන්නෝ

سورة الكافرون

මක්කාහිදී පහළ විය

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

1. අහෝ! විශ්වාස නොකරන අයවලුනි! කියට.[2578] — ١- قُلْ يٰٓاَيُّهَا الْكٰفِرُوْنَ ۝
2. තොප නැමදුම් කරන දය මම නැමදුම් නොකරමි.[2579] — ٢- لَآ اَعْبُدُ مَا تَعْبُدُوْنَ ۝
3. තවද තොපි මා නමදින දය නොනැමදින්නහුය. — ٣- وَلَآ اَنْتُمْ عٰبِدُوْنَ مَآ اَعْبُدُ ۝
4. තොප නමදින දය මම නොමදින්නෙමි.[2580] — ٤- وَلَآ اَنَا عَابِدٌ مَّا عَبَدْتُّمْ ۝
5. තවද. තොපි මා නමදින දය නොමදින්නහුය.[2581] — ٥- وَلَآ اَنْتُمْ عٰبِدُوْنَ مَآ اَعْبُدُ ۝
6. තොපගේ මාර්ග තොපටයැ; මගේ මාර්ගය මටයැ.[2582] — ٦- لَكُمْ دِيْنُكُمْ وَلِيَ دِيْنِ ۝

- 109 වන අල්-කාෆිරූන් සූරාව නිමි -

---

2578. අබුජහල්, ආසුබිනුවායිල්, වලීදුබිනු මුගයිරා, අස්වදුබිනු අබ්දි යාගූද් අස්වදුබිනු අබ්දුල් මුත්තලිබ් ඇතුළු යන මොවුනු හතාපිවරුන්ගේ කණ්ඩායමකි. ඔවුන් අබ්බාස් රළියල්ලාහු අන්හුට අනුව නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් මුණගැසී 'ඔබ අපගේ පිළිරූ ගැනද අප ඒවා නැමදුම් කිරීම ගැනද නපුරු කරා නොකළ යුතුය. ඔබට රාජ්‍යය වුවමනාය යන ආශාවෙක් නම් අපි ඔබ අපගේ ප්‍රධානයා කරගන්නෙමු. වස්තුව වුවමනාය යන අදහසෙක් නම් පන්හාන වාද්ධය ඔබ කැමති වස්තු දෙන්නෙමු. ලක්ෂණ ස්ත්‍රීන් කෙරෙහි ආශාවෙක් නම් කුරෛෂ් ගෝත්‍රයෙහි ඉතා ලක්ෂණ - ඇත්තවුන් ඔබට අපි විවාහ කර දෙන්නෙමු'යි කීවෝය. එයට නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් 'මෙයින් එකක්වත් මට වුවමනා නැත. තොප විනාශ වීමෙන් වැළැක්විය යුතුයි. සත්‍ය මාර්ගය අල්වාගැනීමට කැමැත්තෙමි'යි පිළිතුරු දුන්නේය.

2579. මම, තොපගේද මගේද දෙවිඳුද, සකල ලෝක ස්වාමිවූ එකම සැබෑ දෙවියා නැමදුම් කරන්නෙක්මි. එහෙත් තොපි තොපගේ නියම සම්බන්ධකම් නිසා තොපගේ පිළිරූ ඇදහීම් ආදී මිථ්‍යා ඇදහිලි අත් නොහරින්නහුය.

2580. මා අල්ලාහු තආලාගේ අනාගත වක්තෘවරයකු බැවින් තොපගේ පැරණි පාරම්පරික මිසදිටු මාර්ග අනුගමනය කරන්නට මම නොකැමැත්තෙමි.

2581. මිසදිටු නැමදුම්හි ආරම්භයන් වශයෙන් මිය දුටු නැමදුම් මාර්ග අත්හරින්නට තොපට කැමැත්තක් නැත.

2582. මට සත්‍ය දෙන ලද බැවින් තොපගේ මිසදිටු මාර්ගයට එන්න නොහැකිය. තොපිද තොපගේ නියම සම්බන්ධකම් නිසා තොපි ඒවාට අත් නොහරින්නහුය. තොපගේ මාර්ග ගැන වගකීම තොප කෙරෙහිය. මම තොපට සත්‍යය පෙන්නුම්කෙළෙමි. මගේ මාර්ග ගැන වගකීම මා කෙරෙහිය. සත්‍යය අත්හරින්නවය යි මට කියන්නට තොපට අයිතිවාසිකමක් නැත. තොපගේ හිංසා පීඩන නිෂ්ඵලයැ. අන්තිමේදී සත්‍යය ජයගන්නේය. මෙයැ එවකට විශ්වාසයයි ඉරියව්ව. එහෙත් එය සියලු කල්හි සැබෑය. සත්‍යය තදින් අල්වාගනිමු.

## අන්නස්ර්: උදව්ව.
سُورَةُ النَّصْرِ
මදීනාහිදී පහළවිය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ
දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- إِذَا جَاءَ نَصْرُ اللَّهِ وَالْفَتْحُ ۝
1. අල්ලාහුගේ උදව්ව හා ජය ප්‍රීති පැමිණුනු කල්හි.[2583]

٢- وَرَأَيْتَ النَّاسَ يَدْخُلُونَ فِي دِينِ اللَّهِ أَفْوَاجًا ۝
2. තවද, අල්ලාහුගේ මාර්ගයෙහි මිනිසුන් රංචු වශයෙන් ඇතුළුවනු නුඹ දක්නෙහිය.

٣- فَسَبِّحْ بِحَمْدِ رَبِّكَ وَاسْتَغْفِرْهُ ۚ إِنَّهُ كَانَ تَوَّابًا ۝
3. එහෙයින් නුඹ හිමි සුවිශුද්ධ කරව. ඔහුගෙන් සමාව ඉල්ලව. ඇත්තෙන්ම ඔහු පසුතැවිලිවීම භාරගන්නේය.

- 110 වන අන්නස්ර් සූරාව නිමි.

2583. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුරවැසින් මක්කාව නිෂ්ක්‍රමණය කොට මදීනාවෙහි පදිංචිය ගත්තාව පසු ඔහුගේ ජන්මාන්තර ගතවීමට වර්ෂ කීපයකට පෙර. පටන් මේ උදව්වත් ජය ප්‍රීතියත්, කාණ්ඩ කාණ්ඩ වශයෙන් ජනයා සංමාර්ගය වැළඳගැනීමත් ආරම්භ විය. මේ සත්‍යවය දිනෙන් දින අධික වී මක්කම් නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් අන්තස්කර ගත්තායින් පසු සවුදුරටත් අධික විය.

අබුලහබ්ගේ ගිනිදැල් පියා.

سورة المسد

මක්කාහිදී පහළ විය

دයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ

1. අබුලහබ්ගේ අත්දෙක වැනසේවා! ඔහු වැනසේවා![2584]

١- تَبَّتۡ يَدَآ أَبِي لَهَبٖ وَتَبَّ

2. ඔහුගේ වස්තුවෙන්ද ඔහු සැපයූ දැයින්ද ඔහුට ප්‍රයෝජන නැත්තේය.

٢- مَآ أَغۡنَىٰ عَنۡهُ مَالُهُۥ وَمَا كَسَبَ

3. දල්වෙන ගින්නෙක ඔහු වැටෙන්නේය.

٣- سَيَصۡلَىٰ نَارٗا ذَاتَ لَهَبٖ

4. ඔහුගේ බිරිය දර උසුලන්නිය.[2585]

٤- وَٱمۡرَأَتُهُۥ حَمَّالَةَ ٱلۡحَطَبِ

5. තල් කෙන්දෙන් ඇඹරූ ලනුවක් ඇගේ ගෙල වටාවී.

٥- فِي جِيدِهَا حَبۡلٞ مِّن مَّسَدِۭ

\- 111 වන අබුලහබ සූරාව නිමි -

2584. 'අබුලහබ්' 'ගිනිදැල්පියා' යනු අනාගත විස්තර සල්ලල්ලාහු අලෛහිවසල්ලම්ගේ මාමාගේ සුවට නාමයි. ඔහුගේ රතුපාටක් රථ පරථ ගසියත් තියා මෙසේ කියන ලදී. ඔහු ආදියෙහි ඉස්ලාම් ධර්මයට ඉතාම සදබල සතුරෙක් විය.

2585. ඔහුගේ භාර්යාවගේ නම උම්මු ජමීල්ය. මෝ හර්බු තුමන්ගේ දූතියාය. අබු සුෆ්යාන්ගේ සහෝදරිය. මුආවියාගේ නැන්දාය. මේ දෙදෙනාම නබිසල්ලල්ලාහු අලෛහිවසල්ලම් පුර්වුවත් සෙරෙහි බොහෝ සෝර ඇත්තෝ වූහ. මෝකොමෝ කටු සහිත දරමිටි බැද නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාට ශාරීරික දුවුම් කරනුවස් එතුමා යන පාරෙහි කටු සහිත දර විසුරුවා හැරියාය.

ඉක්ලාස්: විශ්වාසයේ විශුද්ධභාවය

سُورَةُ الإِخْلَاص

මක්කාහිදී පහළ විය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- قُلْ هُوَ اللَّهُ أَحَدٌ ۝

1. "අල්ලාහු. ඔහු කේවලයා"යි කියව.

٢- اللَّهُ الصَّمَدُ ۝

2. ඔහු ස්වාධීනය සියල්ල ඔහු කෙරෙහි ආධීනය.

٣- لَمْ يَلِدْ وَلَمْ يُولَدْ ۝

3. ඔහු ජාතක නොකරන්නේය; ඔහුද ජාතක නොකරවනු ලබන්නේය.

٤- وَلَمْ يَكُن لَّهُ كُفُوًا أَحَدٌ ۝

4. ඔහුට සමාන වන කිසිවෙක් නැත.

- 112 වන ඉක්ලාස් සූරාව නිමි -

අල්-ෆලක්ජ් අරුණෝදය
سُورَةُ الْفَلَقِ
මක්කාහිදී පහළවිය

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ
දයාලු පරමදයාලු අල්ලාහුගේ නාමයෙන්

١- قُلْ أَعُوذُ بِرَبِّ الْفَلَقِ ۝
1. අරුණෝදය හිමිගෙන් මම පිළිසරන සොයමි'යි කියව[2586]

٢- مِن شَرِّ مَا خَلَقَ ۝
2. නිර්මිත දෑයෙහි නපුරෙන්[2587]

٣- وَمِن شَرِّ غَاسِقٍ إِذَا وَقَبَ ۝
3. තවද නපුරදුරෙන් එය පැතිරෙන කල්හි.

٤- وَمِن شَرِّ النَّفَّاثَاتِ فِي الْعُقَدِ ۝
4. ගැටහි මතුරා පිඹින ස්ත්‍රීන්ගේ නපුරන්ද.

٥- وَمِن شَرِّ حَاسِدٍ إِذَا حَسَدَ ۝
5. ඊර්ෂ්‍යාවන්තයාගේ ඊර්ෂ්‍යාකමේ නපුරෙන්ද.

- 113 වන අල්-ෆලක් සූරාව නිමි -

2586. සිරූ මක්කාවෙහි ලබීද්ඉබ්නු ඈ සම් නම් යහුදියා තමගේ දුහිතෘන් මුල්කොටගෙන නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාට හූනියම් සොඩ්ඩිනයක් කරවා දරුවාන් නම් පාර ලිදෙක ගලක් යට සැඟුවේය. මේ නිසා නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාන් ස්වල්ප දවසක් ශරීරාබාධයෙන් සිටියේය. මේ ගැන ජිබ්රීල් අලෛහිස්සලාම් නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාට ආරංචිය සංවිධාන කළ හැන් පවින් හසරත් අලී රළියල්ලාහු අන්හු, කල්සා රළියල්ලාහු ආදී අය යවා ඒ ලිඳේ දිය ඉස්සවා සඟවන් කළ ගලයට තබා සිටියා ඔවු. අරගෙන ආවේය. එහි එක් නූලෙක ගැට එකොළොසක් තිබුණේය. ඒ ගැන මේ සූරාවෙහි හා මීට පසුව එන සූරාවන්හි ඇත. එකොළොස් ආයාවන්හි කියවා (ඒ ගැට) ලිහා දැම්මේය. නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් පූර්ණ ගුණ ලැබී මේ හූනියම් කළ අය මොවුන්යයි එළිදරව්වූ විට ඔවුනට දඬුවම් කළයුතු නොවේද?යි නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමන්ගෙන් ඇසුවිට එසේ දඬුවම් නොකළයුතුයයි එතුමා ප්‍රතිපෝෂ කෙළේය. එනම් නායක සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තමා පිළිබඳ කායිකයෙහි නපුරු කම් කළ අය සමාව දෙන්නේය. අල්ලාහු තආලා පිළිබඳ කායිකයෙහි නපුරුකම් කළ අයට සමාව නොදෙන්නේය.

2587. ආලෝකය හා අන්ධකාරය යන දෑය ආලෝකයවද නපුර අන්ධකාරයවද පම කළ හැකිය. අල්ලාහු තආලා අන්ධකාරය පහකොට ආලෝකය සව ගන්වන්නේය. සූරා vi. 96 බ.

අන්නාස්: මනුෂ්‍යවර්ගයා.

سُورَةُ النَّاسِ

මක්කාහිදී පහළවිය.

دයාලු පරමදයාලු අල්ලාහ්ගේ නාමයෙන් — بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

1. "මම සකල ලෝක ස්වාමීහුගේ පිළිසරණ සොයමි"යි කියව. — ١- قُلْ أَعُوذُ بِرَبِّ النَّاسِ ۝

2. මනුෂ්‍යයන්ගේ රජය. — ٢- مَلِكِ النَّاسِ ۝

3. මනුෂ්‍යයන්ගේ දෙවියෝය. — ٣- إِلَٰهِ النَّاسِ ۝

4. ඔහුගේ කෙඳිරීමෙන් පසු ඉවත්ව යන කොඳුරන්නාගේ නපුරෙන්. — ٤- مِن شَرِّ الْوَسْوَاسِ الْخَنَّاسِ ۝

5. මනුෂ්‍යයන්ගේ හෘදයන්හි කොඳුරන අය. — ٥- الَّذِي يُوَسْوِسُ فِي صُدُورِ النَّاسِ ۝

6. ජින්නුන්ගෙන්ද මනුෂ්‍යයන්ගෙන්ද වූ[2588] — ٦- مِنَ الْجِنَّةِ وَالنَّاسِ ۝

- 114 වන 'අන්නාස්' සූරාව නිමි -

30 වන අම්ම ජුසුව නිමි.

2588. පැසසුම් සියල්ල අල්ලාහු ත'ආලාට.

# من إنجازات المكتب

- إسلام أكثر من (٣٥,٠٠٠) شخص.

- طباعة أكثر من (١٠,٢٣٠,٠٠٠) كتاب من مصاحف وكتب وتراجم لمعاني القرآن .

- إقامة (٢٦) رحلة حج استفاد منها ما لايقل عن (٢١,٠٠٠) مسلم.

- إقامة أكثر من (٣٦٠٠)حملة عمرة استفاد منها مالايقل عن (١٨٠,٠٠٠) مسلم .

- إهداء أكثر من (٣,٠٠٠,٠٠٠) نسخة من المقررات .

- إرسال مايزيد عن (٣٤٠,٠٠٠) رسالة من الرسائل الدعوية والتوعوية .

- تنفيذ برامج إفطار استفاد منها مالايقل عن (١٤٠,٠٠٠) صائم.

- إقامة مايزيد على (١٦٠,٠٠٠) محاضرة وملتقى وبرامج توعوية وزيارات هادفة ، استفاد منها مالايقل عن (١,٢٧٢,٠٧٥) شخص .


المكتب التعاوني للدعوة والإرشاد وتوعية الجاليات في وسط بريدة

The Cooperative Office for Call and Guidance
in Central Buraidah

Tel: 06-3248980 Fax: 06-3245414

Mobile: +966550511497 +966500795999


المطبوعات SA٦٧٨٠٠٠٠١٠٨٦٠٨٠١٠١٩٤١٤١

العام SA٠٧٨٠٠٠٠١٠٨٦٠٨٠١٠٢٧٠٠٠٨

الزكاة SA٤٠٨٠٠٠٠٢١٢٦٠٨٠١٠٠٤٨٠٠١

